බුද්ධජයන්තීත්‍රිපිටකග්‍රන්ථමාලා: 41




අභිධර්මපිටකයෙහි

පළමු වන ග්‍රන්ථය

# ධම්මසඞ්ගණීප්පකරණය

ලඞ්කා බෞද්ධමණ්ඩලයේ ආරාධනයෙන්

වාද්දුව මොල්ලිගොඩ ප්‍රවචනෝදය පිරිවෙන්හි උපප්‍රධානාචාර්ය,
කෝට්ටේ ශ්‍රී කල්‍යාණි සාමග්‍රීධර්මමහාසඞ්ඝසභායෙහි අනුනායක ධුරන්ධර
ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය

ලබුගම ලඞ්කානන්ද ස්ථවිරයන් වහන්සේ ද

හිඟුල, මාකඩවර විහාරාධිවාසී පණ්ඩිත

කරහම්පිටිගොඩ සුමනසාර ස්ථවිරයන් වහන්සේ ද

විසින් කරන ලද

සිංහල පරිවර්තනයෙන් යුක්ත යි

ලඞ්කා ආණ්ඩුව මගින් ප්‍රකාශිත යි.

බු. ව. 2515
ක්‍රි. ව. 1973

Buddha Jayanthi Tripitaka Series, Vol: XLI

THE FIRST BOOK

IN

# THE ABHIDHAMMAPITAKA

# DHAMMASANGANIPPAKARANA

WITH THE SINHALESE TRANSLATION

*by*

The Venerable Pandita
LABUGAMA LANKANANDA THERA
Anunayaka of Kotte Srikalyanisamagri Dharma Maha Sanghasabha,
Vice Principal of the Pravacanodaya Pirivena,
Molligoda Wadduwa.,

&

The Venerable Pandita
KARAHAMPITIGODA SUMANASARA THERA
Makadawara Vihara, Hingula.

PUBLISHED UNDER THE PATRONAGE

OF

THE GOVERNMENT OF CEYLON

B. E. 2515
C. E. 1973

## අභිධම්මපිටකෙ

# ධම්මසඞ්ගණිප්පකරණං

## අභිධර්මපිටකයෙහි

# ධර්මසඞ්ගණීප්‍රකරණය

"තථාගතප්පවෙදිතො භික්ඛවෙ ධම්මවිනයො විවටො විරොචති නො පටිච්ඡන්නො"

"මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දෙශනා කරණ ලද ධර්මය හා විනය විවෘත වූයේ බබලයි. වැසුනේ නො බබලයි."

(අඞ්ගුත්තරනිකාය – තිකනිපාතය – භරණ්ඩුවග්ග, 9 සූත්‍රය.)

# පටුන

## CONTENTS

# සංස්කාරක නිවේදනය

අභිධර්මපිටකයෙහි පළමුවන ප්‍රකරණය වූ “ධම්මසඞ්ගණිප්පකරණය” බුද්ධජයන්ති ත්‍රිපිටකග්‍රන්ථමාලායෙහි එක්සාලිස්වන ග්‍රන්ථය වෙයි. බුද්ධජයන්ති උත්සවසංවිධානය සඳහා ලඞ්කාරජය මගින් පත්කරනලද ලඞ්කා බෞද්ධමණ්ඩලයේ සමාරාධනය පරිදි ධම්මසඞ්ගණිප්පකරණය සිංහලයෙන් ව්‍යාඛ්‍යාන කරනලද නමුදු එය බෞද්ධමණ්ඩලයෙන් සම්මත වූ සැලැස්ම අනුව නො ගිය හෙයින් ත්‍රිපිටකසංස්කාරක මණ්ඩලය විසින් ධම්මසඞ්ගණිප්පකරණයෙහි පාඨශෝධනය හා සිංහල අනුවාදය ද කළ මැනැවැයි අප වෙත පවරනලද්දේ විය.

ධම්මසඞ්ගණි පරිවර්තනය අත්‍යාසිකකාර්‍යයක් වූයෙන් ත්‍රිපිටක සංස්කාරකමණ්ඩලයෙහි උද්‍යොගිමත් සාමාජිකයකු වූ පණ්ඩිත කරහම්පිටිගොඩ සුමනසාර ස්ථවිරයන් වහන්සේ ද සහාය කොටගෙන යථෝක්ත කාර්‍යය අප විසින් සපුරාලනලද්දේ ය.

ප්‍රවචනෝදය පිරිවෙන්හි උපාචාර්‍යධුරීණ වැ සිටි පණ්ඩිත සුමනසාර ස්ථවිරයන් වහන්සේ ඉතිහාස පුරාවිද්‍යායෙහි ද තර්කන්‍යායාදියෙහි ද විශේෂ කුශලතායෙන් යුක්තයහ. ඒ ස්ථවිරයන් ධම්මසඞ්ගණිප්පකරණය සඳහා ලියූ දීර්ඝ සංඥාපනය භාවිනයනට මතු නො වැ ප්‍රවීණයනට පවා වැඩදා වූයෙකි. එහි “අභිධම්ම” ශබ්දාර්ථය පෙළ අටුවානය ගෙන විශද කොට ඇත. කාලාන්තරයෙහි සිට විතණ්ඩවාදීන් අභිධර්මපිටකය සඳහා ඉදිරිපත් කරන දූෂිත මැනැවින් නිරාකරණය කරනලද වෙයි. ලක්දිවැ අභිධර්මපිටකය සඳහා එන ඓතිහාසික සටහනුදු නඟා දක්වති. ධම්මසඞ්ගණිප්පකරණයෙහි එන ධර්මවිභාගය සංග්‍රහ කොට දක්වනලදුයේ ද වෙයි.

ත්‍රිපිටකග්‍රන්ථ මුද්‍රණය ඉක්මනින් නිමවාලනුවස් ශෝධිත ධම්සඞ්ගණිපෙළ හා සිංහල පරිවර්තනය ද 1960 දී පමණ එක්තරා මුද්‍රණාලයකට භාරදෙන ලදුව බොහෝ දුරට මුද්‍රණය අවසාන වී තිබිය දී අප නො දත් යම් කිසි හේතුවක් නිසා මුද්‍රණකාර්‍යය නැවතීගියේ ය. මඳ කලකට පසු දතහැකි වූයේ මුද්‍රණයට සකස් කළ අත්පිටපත් මතු නො වැ මුද්‍රිත කොටස් පවා සොයාගත නො හැකි වූ බවෙකි. එහෙයින් දෙවැනිවරට ද ධම්මසඞ්ගණි පරිවර්තනය සපුරාලන්නට සිදුවිය.

ධම්මසඞ්ගණිප්පකරණයේ මුද්‍රණය වහා නිමහම් කිරීමට මහත් පරිශ්‍රමයක් දැරූ ත්‍රිපිටක සංස්කාරකමණ්ඩලයේ සම්පාදක වූ විද්‍යොදයවිශ්වවිද්‍යාලයේ විනෙතෘභූත දර්ශනවිශාරද පරවාහැර සිරිවජිරඤාණ නාහිමිපාණන් වහන්සේ පූර්වමුද්‍රිත කොටසෙහි අවසාන සංස්කරණය සිදු කළහ. මේ කාර්‍යයෙහි ලා වර්තමාන ත්‍රිපිටක සංස්කාරකමණ්ඩලයේ සභාපති අහංගම විද්‍යාචන්ද්‍ර පරිවෙණාධිපති පණ්ඩිත කෝදාගොඩ ඥානාලෝකාභිධාන දක්ෂිණලඞ්කායෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේගේ ඥානාලෝකය ද මෙහි වැටී ඇත. ත්‍රිපිටකසම්පාදකමණ්ඩලයේ ලේඛකාධිකාරී පණ්ඩිත දෙරගමුවේ ධම්මපාල නායක ස්ථවිරයන් වහන්සේ ද මේ කාර්‍යයෙහි සහාය වූහ. මේ මුද්‍රණය අඩාළ වැ හෙළිදක්වාලියැ නො හැකි වැ තුබූ ධම්මසඞ්ගණිප්පකරණය සපුරාලීමට උපස්තම්භ වූ ස්වදේශීය මුද්‍රණශිල්පීහු ද, ලඞ්කාබෞද්ධමණ්ඩලයේ සුධීහු ද, මෙය පළකරවාලූ සංස්කෘතික දෙපාර්තමේන්තුවේ අධිකාරීහු ද අභිධර්මප්‍රකාශනයෙන් ජනිත කුශලයෙහි සුඛභාගීහු වෙත්වා’යි ආශංසනය කරම්හ.

ලබුගම ලඞ්කානන්ද ස්ථවිර
ත්‍රිපිටකසම්පාදකමණ්ඩලයේ ප්‍රධාන සම්පාදක.

1972-12-30
ත්‍රිපිටක කාර්‍යාලය,
මහානායකචාරිකාරාමය,
115, විජේරාම මාවත,
කොළඹ. 7.

# ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය

---

**උපදේශක:**

එක්සත් අමරපුරමහානිකායේ සභාපති අග්ගමහාපණ්ඩිත බලන්ගොඩ ආනන්දමෛත්‍රෙය මහානායක මහාස්ථවිරපාදයන් වහන්සේ.

**සභාපති:**

අහංගම විද්‍යාචන්ද්‍රපරිවේණාධිපති ත්‍රිපිටකවාගීශ්වර පණ්ඩිත කෝදගොඩ ශ්‍රී ඥානාලෝක දක්ෂිණලඞ්කායෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

**ප්‍රධාන සම්පාදක:**

මොල්ලිගොඩ ප්‍රවචනෝදය පිරිවෙන්හි උපප්‍රධානාචාර්ය ත්‍රිපිටක-වාගීශ්වර පණ්ඩිත ලබුගම ලඞ්කානන්ද - කෝට්ටේ ශ්‍රී කල්‍යාණිසාමග්‍රී-ධර්මමහාසඞ්ඝසභාවේ අනුනායක ස්ථවිරයන් වහන්සේ.

**සම්පාදක:**

දෙමටගොඩ ධර්මදූතාශ්‍රම විද්‍යාලයාධිපති පණ්ඩිත පරවාහැර පඤ්ඤානන්ද (බී. ඒ. ලන්ඩන්) කොළඹ නවකෝරළයේ ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

හිගුලේ - මාකඳවර විහාරාධිවාසී පණ්ඩිත කරගම්පිටිගොඩ සුමනසාර ස්ථවිරයන් වහන්සේ.

**ලේඛකාධිකාරී:**

බෞද්ධාලෝක මාවතේ බෞද්ධාලෝක විහාරාධිපති පණ්ඩිත දෙරගමුවේ ධම්මපාල කොළඹ පළාතේ ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

# සංඥාපනය

---

**විජම්බණ:** ශ්‍රීඝනසුගත තථාගත සම්මා සම්බුද්ධරජාණන් වහන්සේ සම්බෝධියෙන් සවැනි වසැ රජගහනුවර බිම්සර මහරජහු විසින් කරවා දුන් වේළුවන අරම්හී වැඩවසන දවස් රජගහ සිටු 'තමන් රහත්හ' යි පිළින කරන විවිධ දෘෂ්ටිවාදීන් පිරික්සනුවට සැටරියන් හුණදඬියෙකැ ලා රත්සඳුන් පාත්‍රයක් අහස්හි නගාලා 'රහත්හු ඇත් නම් ඉදුහයෙන් ගොස් ගනිත්ව' යි නුවර බෙර ලැවී. සදිනෙක් ඉක්මගියේ යැ, සඳුන්පය ගන්නෝ නැති. එකරුණින් 'ලොවැ සෘද්ධිමත් රහත්හු නැතැ' යි නුවරවැස්සෝ කියන්නට වන්හ. සත්වන දවස එනුවර පිඬුසිගා වඩනා මහමුගලන් තෙරණුවනටත් පිණ්ඩොලභාරද්වාජ තෙරණුවනටත් එබස් ඇසිණ. එකල මහමුගලන් තෙරණුවන්ගේ බසින් පිණ්ඩොලභාරද්වාජ තෙරණුවෝ ඉදුහයෙන් ගොස් පාත්‍රය ගෙන ලොව සෘද්ධිමත් රහතුන් විසින් හොසිස් බව පළ කළහ. බුදුහු එපවත් අසා "භික්ෂූන් සෘද්ධිප්‍රාතිහාර්‍ය නොපෑයුතු යැ" යි ශික්ෂා පැනවූහ. "ශ්‍රාවකයන් විසින් නො කළයුතු යැ" යි පනවන ලද්ද බුදුහුදු නො කෙරෙති" යි සිතූ තීර්ථකයෝ සෘද්ධිප්‍රාතිහාර්‍ය පිණිස බුදුරදුනට වාදාරොපණ කළහ. බිම්සර මහරජහු විසින් දන්වනලද බුදුහු උන්ගේ වාද පිළිගෙන ඉන් සාරමසෙකින් මොබ ඇසැළ මැදිපොහෝ දවස්හි සැවැත් නුවර ගඬඹරුක්මුල්හි දී යමාමහපෙළහර දක්වා තීර්ථකයන්ගේ මාන මදීන කොට සත්වැනි වස සඳහා තව්තිසා දෙව්ලොවට වැඩියහ. එහි පරසතුරුක්මුල්හි පඬුඇඹුල්සලස්නෙහි වැඩහිඳ මාතෘදිව්‍යරාජයා කායසාක්ෂි කොට දසදහසක් සක්වළ දෙවියනට 'කුසලා ධම්මා, අකුසලා ධම්මා, අව්‍යාකතා ධම්මා' ආදීන් තෙමසක් මුළුල්ලෙහි අභිධර්මදෙශනා කළසේක· දවස දවස පිඬු පිණිස මිනිස්ලොවට වඩනා බුදුහු නුතත්දහතලායෙහි දී උවටන් පිණිස තමන්වහන්සේ වෙත එළැඹෙන දම්සෙනෙවි සැරියුත් තෙරණුවන් අමතා: 'ශාරීපුත්‍රයෙනි, අද මා විසින් මෙතෙක් දහම් දෙසන ලද්' යි තෙරණුවනට එදහම් නය විසින් වදාරති. තෙරණුවෝ එ නය ගෙන එදා යමාමහපෙළහරෙහි පැහැදැ තමන් වහන්සේ වෙත පැවිදි වූ පන්සියක් අතැවැසියනට එදහම් සිය, දහස්, සුවහස් නයින් විභාග කොට හදාරවති. මෙසෙයින් සම්බුදුරදුන් තව්තිසායෙහි විජම්දෙසුන් නිමවන් මැ මිනිස්ලොවැ සැරියුත් තෙරණුවන්ගේ අතැවැසියොත් සප්තප්‍රකරණොකත විජම්බණ හදාරා නිමැවූහ. මෙසේ සම්බුදුරදුන් විසින් දෙවියනට දෙසූ අභිධර්මයෙහි වාචනාමාර්ගය මිනිස්ලොවැ දම්සෙනෙවි සැරියුත් මහරහත් තෙරණුවන් ප්‍රභව කොට පහළ වී. සම්බුදුරදුන් විසින් දෙසූ නය විභාග කොට දෙශිත වන බැවින් එය බුද්ධවචනයෙහි මැ වැටෙයි. ප්‍රථම සඞ්ගීතියෙහි දී මහසුප් තෙරණුවන්ගේ පිළිවිසීමෙන් ධර්මභාණ්ඩාගාරික අනඳ තෙරණුවන් විසින් විසඳන ලදුව පන්සියක් මහරහතුන් විසින් සඞ්ගීත වූ අභිධර්මපිටකය දඹදිවැ ඇදුරොල්හි පිළිවෙළින් සැරියුත් තෙරණුවන් පටන් කොට භද්දජී, සොභිත, පියජාලී, පියපාල, පියදස්සී, කොසියපුත්ත, සිග්ගව, සන්දෙහ, මොග්ගලීපුත්තතිස්ස, සුදත්ත, ධම්මිය, දාසක, සොණක, රෙවත යන මහ තෙරහු තුන්වැනි සඞ්ගීති කාලය තෙක් වාචනා කොටගෙන ආහ. දෙවනපෑතිස් මහරජුන් දවස දඹදිවැ දම්සෝ මහනිරිඳු පුත් අනුබුදු මිහිඳුමහරහතුන් විසින් ලක්දිවට ගෙන එන ලද

එදහම ලක්දිවැ ඇදුරොල්හි වාචනාමාර්ගයෙහි ආයේ වලගම්අබා මහරජුන් දවස මාතුලජනපදයෙහි අලුලෙන්හි දී ග්‍රන්ථාරූඪ කරන ලදු වැ මෙතෙක් නිර්මල වැ පවත්තේ යි. මේ සැකෙවින් දක්වන ලද්දේ අභිධර්මය පිළිබඳ අර්ථකථාගත ඉතිවෘත්ත යි.

**අභිධර්මාර්ථ:** අභිධර්මශබ්දයෙහි අර්ථවිවරණ නොයෙක් අයුරින් අටුවාහි දක්නට ඇත. "අභිධම්මෙති නාමරූප පරිච්ඡෙදො" යි අභිධර්ම යනු නාමරූපපරිච්ඡෙද බව **සමන්තපාසාදිකා**[1] විනය අටුවාහි ද **සාරත්ථදීපනී**[2] විනයටීකාහි ද එයි. "අභිධම්මෙති අභිවිසිට්ඨෙ ධම්මෙ, ඉමෙසු සත්තතිංසබොධපක්ඛියධම්මෙසූති අත්ථො"[3] යි අභිධර්ම යනු විශිෂ්ට ධර්මයෙහි-සත්තිස් බොධිපාක්ෂිකධර්මයෙහි යන අර්ථ බව **පපඤ්චසූදනී** මජ්ඣිමනිකායට්ඨකථායෙහි දැක්වෙයි. "අභිධම්මනති උත්තමධම්මකථං"[4] යි අභිධර්ම යනු උත්තමධර්මකථා යැ යි **මනොරථපූරණී** අඞ්ගුත්තරනිකායට්ඨකථායෙහි එයි. එහි මැ අන්තැනෙකැ අභිධර්මාර්ථය ඉතා පැහැදිලි ලෙස විවරණය කෙරෙමින්: "අභිධම්මෙ අභිවිනයෙති එත්ථ ධම්මො - අභිධම්මො - විනයො-අභිවිනයොති චතුක්කං වෙදිතබ්බං, තත්ථ ධම්මොති සුත්තන්තපිටකං, අභිධම්මොති සත්තප්පකරණානි, විනයොති උභතො විභඞ්ගං, අභිවිනයොති ඛන්ධකපරිවාරා"[5] යි කීහු.

"අභිධම්මෙ අභිවිනයෙ යන මෙහි ධර්ම-අභිධර්ම-විනය-අභිවිනය යන චතුෂ්කය දතයුතු යැ. එහි 'ධර්ම' යනු සූත්‍රපිටක යැ, 'අභිධර්ම' යනු සප්තප්‍රකරණයෝ යැ, 'විනය' යනු භික්ෂු - භික්ෂුණී උභය විභඞ්ග යැ, 'අභිවිනය' යනු චුල්ලවග්ග - මහාවග්ග - සඞ්ඛ්‍යාත ඛන්ධක හා පරිවාර හා මෙ දෙක යි" යනු එහි අර්ථ යි

ඇදුරොල්හි ආ සෙයින් අභිධර්ම ශබ්දයෙහි පූර්වෝක්ත අර්ථවිවරණය කරන අටුවා ඇදුරු බුදුගොස් තෙරණුවෝ 'අත්ථසාලිනී' නම් ධම්මසඞ්ගණී අර්ථකථායෙහි "තත්ථ අභිධම්මොති කෙනට්ඨෙන අභිධම්මො? ධම්මාතිරෙක ධම්මවිසෙසට්ඨෙන" යි ධර්මාතිරේකාර්ථයෙන් හා ධර්මවිශේෂාර්ථයෙන් අභිධර්ම නම් වන සේ නිරුක්ත්‍යර්ථ දු දක්වති.

'අභිධම්ම' පදයෙහි 'අභි' ශබ්දය "බාළ්හා මෙ දුක්ඛා වෙදනා අභික්කමන්ති නො පටික්කමන්ති" යන තන්හි සෙයින් අතිරේකාර්ථ ද "අභික්කන්තවණ්ණා" යන තන්හි සෙයින් විශේෂාර්ථ ද කියයි එයින් අතිරේකධර්ම විශේෂධර්ම 'අභිධම්ම' නම් වෙයි.

ඒ එසේ මැ යි: සූත්‍රාන්තයට පැමිණ පඤ්චස්කන්ධය එකදෙශයෙකින් විභාග කරනලද යැ. අභිධර්මයෙහි දී සුත්තන්තභාජනීය, අභිධම්මභාජනීය, පඤ්හපුච්ඡක යන ත්‍රිවිධ නය විසින් නිෂ්ප්‍රදෙශ කොට (සර්වාකාරයෙන්) විභාග කරනලද වෙයි. මෙසෙයින් මැ දොළොස් ආයතන, අටළොස් ධාතු, සිවුසස්, සතර සතිපට්ඨාන, සතර සම්‍යක්ප්‍රධාන, සතරඍද්ධිපාද, සප්ත බොධ්‍යඞ්ග, ආර්‍ය්‍යඅෂ්ටාඞ්ගමාර්ග, සතර ධ්‍යාන, සතර අප්‍රාමාණ්‍ය, සිවුපිළිසිඹියා, ඥාන, කෙලශ, භූම්‍යන්තරපරිච්ඡේද ද යන මොහු අභිධර්මයට පැමිණ නිෂ්ප්‍රදෙශ කොට විභාග කරන ලදහ. හුදෙක් ඉන්ද්‍රියවිභඞ්ග, සික්ඛාපද විභඞ්ග යන මෙහි සුත්තන්තභාජනීය ද ප්‍රත්‍යයාකාරයෙහි පඤ්හපුච්ඡකය ද නැත. මෙසේ සූත්‍රාන්තධර්මයෙන් අතිරේක කොට විශිෂ්ට කොට විභක්ත වන බැවින් ධර්මාතිරේක ධර්මවිශේෂාර්ථයෙන් අභිධර්ම නම් වෙයි.

---

1. සමන්තපාසාදිකා - හෙව්මු. 789 පිටුව 2 සාරත්ථදීපනී - මජස. 40 පිටුව
3. පපඤ්චසූදනී, කින්තිසුත්තවණ්ණනා - හෙව්මු. 4-20 පිටුව
4. මනොරථපූරණී - හෙව්මු. 612 පිටුව 5. මනොරථපූරණී - හෙව්මු. 820 පිටුව.

**අභිධර්මපර්‍යාය:** අභිධර්මය පිටක විසින් 'අභිධම්මපිටක' නමුදු දෙසනා විසින් පරමාර්ථ බහුලකොට දෙශිත වන බැවින් 'පරමත්ථදෙශනා' නමුදු ශාසන විසින් ධර්මපුඤ්ජමාත්‍රයෙහි 'මම' යැ 'මාගේ' යැ යන සංඥා ඇති සත්ත්වයන් මෙහි ලා ධර්මානුරූප කොට අනුසස්නා ලද වන බැවින් 'යථාධම්මසාසන' නමුදු රාගාදියට ප්‍රතිපක්ෂ වූ නාමරූපපරිච්ඡේදය කියන ලද වන බැවින් 'නාමරූපපරිච්ඡේදකථා' නමුදු වෙයි.

**ඛාතත්‍ය:** අභිධර්මපිටකයෙහි ලා අධිශීල, අධිචිත්ත, අධිප්‍රඥ සඞ්ඛ්‍යාත ත්‍රිවිධ ශික්ෂා අතුරෙහි 'අධිප්‍රඥශික්ෂාව' කියනලද වෙයි. ව්‍යතික්‍රම, පර්‍යුත්ථාන, අනුශය සඞ්ඛ්‍යාත ත්‍රිවිධ ක්ලේශප්‍රහාණයන් අතුරෙහි 'අනුශයප්‍රහාණය' කියනලද වෙයි. තදඞ්ග, විෂ්කම්භන, සමුච්ඡේද ප්‍රහාණයන් අතුරෙහි 'සමුච්ඡේදප්‍රහාණය' කියනලද වෙයි. දුශ්චරිත, තෘෂ්ණා, දෘෂ්ටි සංක්ලේශයන් අතුරෙහි 'දෘෂ්ටිසංක්ලේශප්‍රහාණය' කියනලද වෙයි.

**සම්පත්:** සම්පත් අර්ථයෙන් ගතුත් විනයයෙහි සුපිළිපන් මහණ ශීලසම්පත් නිසා ත්‍රිවිද්‍යාවට පැමිණෙයි. සූත්‍රාන්තයෙහි සුපිළිපන් මහණ සමාධිසම්පත් නිසා ෂඩභිඥාවට පැමිණෙයි. අභිධර්මයෙහි සුපිළිපන් මහණ ප්‍රඥාසම්පත් නිසා සිවුපිළිසිඹියාවට පැමිණේ.

**අඞ්ග:** තවද මේ අභිධර්මය දීඝ, මජ්ඣිම, සංයුත්ත, අඞ්ගුත්තර, ඛුද්දක යන පඤ්චවිධ නිකායයන් අතුරෙහි ඛුද්දකනිකායෙහි බැසගනී. සුත්ත, ගෙය්‍ය, වෙය්‍යාකරණ, ගාථා, උදාන, ඉතිවුත්තක, ජාතක, අබ්භුතධම්ම, වෙදල්ල යන නවවිධ ශාසනාඞ්ගයන් අතුරෙහි වෙය්‍යාකරණාඞ්ගයෙහි බැසගෙන සිටී. පිටක විසින් වෙන් කොට ගතුත් සූත්‍රාන්තපිටකයෙහි අන්තර්ගත ග්‍රන්ථයෝ දීඝනිකාය, මජ්ඣිමනිකාය ආදි විසින් 'නිකාය' නමින් හෝ 'ආගම' නමින් ද විනයපිටකයෙහි අන්තර්ගත ග්‍රන්ථයෝ පාරාජිකපාළි, පාචිත්තියපාළි ආදි විසින් 'පාළි' නමින් ද අභිධර්මපිටකයෙහි අන්තර්ගත ග්‍රන්ථයෝ ධම්මසඞ්ගණිප්පකරණ, විභඞ්ගප්පකරණ ආදි විසින් 'පකරණ' නමින් ද වෙසෙසා හඳුන්වනු ලැබෙත්.

**ප්‍රකරණ ශබ්දාර්ථ:** පාළියෙහි 'පකරණ' ශබ්දය දෙශ, කාරණ, ප්‍රස්තාව, ග්‍රන්ථවිශෙෂ යන අරුත්හි දක්නාලැබේ "කිස්මිඤ්චිදෙව පකරණෙ"[1] යන තන්හි දෙශයෙහි වැටෙයි. "කිස්මිඤ්චිදෙව පකරණෙති කිස්මිඤ්චිදෙව දෙසෙ" යනු සුමඞ්ගලවිලාසිනී අම්බට්ඨසුත්තවණ්ණනා යි. "පකරණෙති රාගාදි වසෙන පදුට්ඨෙ පක්ඛලිතෙ කාරණෙ" යි එ මැ ටීකායෙහි[2] එයි. "එතස්මිං නිදානෙ එතස්මිං පකරණෙ"[3] යන තන්හි කාරණයෙහි වැටෙයි "පකරණන්ති කායවිඤ්ඤත්ති සහිතාය වධකචෙතනාය අධිප්පෙතත්ථසාධනං"[4] යනු සාරත්ථදීපනී විනයටීකාහි දැක්වෙයි. පළමු කී සුමඞ්ගලවිලාසිනී අර්ථය ද මෙහි නො යෙදෙන්නේ නො වේ.

"සංයොගා විප්පයොගා ච සාහචරියා විරොධතො
අත්ථා පකරණා ලිඞ්ගා සද්දන්තර සමීපතො"[5]

යන තන්හි ප්‍රස්තාවයෙහි වැටෙයි. "සත්තප්පකරණානි" යන තන්හි ග්‍රන්ථවිශෙෂයෙහි වැටෙයි. ජාතකඅටුවාගැටපදයෙහි "නන් ප්‍රභෙදයෙන් බුත් අර්ථයෝ ප්‍රකාරයෙන් කියනුලැබෙත් නු යි යථොක්ත ධම්මසඞ්ගණී ආදි 'ප්‍රකරණ' නම් වේ"[6] යනුවෙන් නොයෙක් ප්‍රභෙදයෙන් භින්න වූ අර්ථයන් ප්‍රකාරයෙන් කියනුලබන හෙයින් ධම්මසඞ්ගණී ආදිය ප්‍රකරණ නම් වන සේ දක්වනලදී.

---

1. දීඝනිකාය - අම්බට්ඨසුත්ත 2. දීඝනිකාය සීලක්ඛන්ධවග්ගටීකා - මජසං 305 පිටුව.
3 පාරාජිකපාළි - තතියපාරාජිකා. 4. සාරත්ථදීපනී - මජසං, 256 පිටුව
5. පඤ්චිකාප්‍රදීප- ධසං, 20 පිටුව. 6. ජාතකඅටුවාගැටපද-ඩී. බී .ජයතිලක 43 පිටුව.

**භාෂාන්තරයෙහි:** "ප්‍රමාණප්‍රකරණ, ප්‍රමෙයප්‍රකරණ"[1] ආදි තන්හි ග්‍රන්ථසන්ධියෙහි වැටෙයි. මෙ අරුත්හි 'පාද' ශබ්දය ද යෙදෙයි. මුග්ධබොධයෙහි ග්‍රන්ථසන්ධි 'පාද' නමින් දැක්වෙයි. පාද ලක්‍ෂණ දක්වන මුග්ධබොධටීකාකාර දුර්ගාදාසයෝ: "එකාර්‍ථාවච්ඡින්න සූත්‍රසමූහඃ පාදඃ" යි 'එකාර්‍ථයෙහි කැටි කොටගත් සූත්‍රසමූහය පාද නමැ' යි කියති. පාදපර්‍ය්‍යාය හෙයින් 'ප්‍රකරණ' ශබ්දයෙහිදු මෙ අරුත් යෙදෙයි. එකාර්‍ථප්‍රතිපාදක ධර්‍ම සමූහ වන බැවින් ධම්මසඞ්ගණී ආදිය හා යෙදෙන ප්‍රකරණ ශබ්දයෙහි දු මෙ අරුත් යෙදේ දෑ යි විමසනු වටී.

**සම්භාවනා:** දිවමනු සම්බුදුරදුන් සමයෙහි මැ අභිධර්‍මය මහත් සම්භාවනා ලද්දේ යැ. එ දවස 'ධම්මකථික' යනු ආභිධර්මිකයනට නමෙකි. 'ධම්මකථික' නමින් වෙන මැ ආචාර්‍ය්‍යගණයෙක් ද වී. කොසඹෑ නුවර ඝොෂිතාරාමයෙහි පන්සියක් අතැවැසියන්ගෙන් සමන්විත ධම්මකථික ගණයෙක් වී. මෙහි ධම්මකථික ගණයත් විනයධර ගණයත් අතර උපන් විනය පිළිබඳ මතභෙදයක් නිසා බුදුරදුන් පාරිලෙය්‍යවනයට වැඩි සේ ධම්මපදට්ඨකථා කොසම්බකවත්ථුයෙහි දැක්වේ. මහාගොසිඞ්ග සූත්‍රයෙහි දී සම්බුදුරදුන් විසින් මැ ආභිධර්මිකයා 'ධම්මකථික'යයි නම් කරන ලද්දේ යැ.

කිනෙයින් මහණහු විසින් ගොසිඞ්ගසාලවනය හොබනේ දැ? යි දම්සෙනෙවි සැරියුත් තෙරණුවන් විසින් පුළුවුත් මහමුගලන් තෙරණුවෝ:

"ඇවැත්නි, ශාරීපුත්‍රයෙනි, මෙසස්නෙහි මහණහු දෙදෙනෙක් අභිධර්‍ම කථා කෙරෙත් ද, ඔහු ඔවුනොවුන් පැන පුළුවුසිත් ද ඔවුනොවුන් පැන පුළුවුස්නා ලදහු විසඳත් ද නො පසුබසිත් ද උන්ගේ දැහැමිකථාත් පවත්නී වේ ද, ඇවැත්නි ශාරීපුත්‍රයෙනි, මෙවන් මහණහු විසින් ගොසිඞ්ගසාලවනය හොබනේ යැ"[3] යි අභිධර්‍මකථා කරන මහණහු විසින් ගොසිඞ්ගසාලවනය හොබවන සේ දැක්විණ. මහමුගලන් තෙරණුවන්ගේ විසැඳුම සැරියුත් තෙරණුවන් විසින් සම්බුදුරදුන් හමුයෙහි දක්වාලූ කල්හි භාග්‍යවත් බුදුහු: "සාධු සාධු ශාරීපුත්‍රය, එය මුගලන්හු පැවැසූ සේ මැනැවැ. ශාරීපුත්‍රය, මොග්ගල්ලාන ධර්‍මකථිකයෙකි"[4] යි වදාළහ මෙහි සම්බුදුරදුන් විසින් අභිධර්‍ම කථා පසස්මින් 'ආභිධර්මිකයෝ මැ ධර්‍මකථිකායහ' යි ද වදාරනලද වෙයි.

ආභිධර්මික මැ ධර්‍මකථික වීමට හෙතුදු අර්‍ථකථායෙහි මෙසේ දැක්වෙයි: "සූක්‍ෂම වූ චිත්තාන්තර, ස්කන්ධාන්තර, ධාත්වන්තර, ආයතනාන්තර, ධ්‍යානාවක්‍රාන්ති, ආලම්බනාවක්‍රාන්ති, අඞ්ගව්‍යවස්ථා, ආලම්බනව්‍යවස්ථා, අඞ්ගසංක්‍රාන්ති, ආලම්බනසංක්‍රාන්ති, එකතොවර්ධන, උභතොවර්ධන යන මොවුන් ආභිධර්මිකයනට මැ ප්‍රකට වෙයි. ආභිධර්මික නො වූයේ ධර්‍මය කියතුදු මේ ස්වවාද යැ මේ පරවාද යැ යි නො දනී"[4] යයි.

අත්ථසාලිනියෙහිදු ආචාර්‍ය්‍යයෝ: "ආභිධර්මික මහණහු මැ ධර්‍මකථික නම් වෙති. සෙස්සෝ ධර්‍මකථා කියන්නාහු නමුදු යථාර්‍ථයෙන් ධර්‍මකථික නො වෙති. කවර හෙයින යත්: ඔහු ධර්‍මකථා කියන්නාහු කර්‍මාන්තර විපාකාන්තර රූපාරූපපරිච්ඡෙද ධර්‍මාන්තර ආලොළන කොට කියති. ආභිධර්මිකයෝ ධර්‍මාන්තර නො අලළති. එහෙයින් ආභිධර්මික මහණ ධර්‍මය කියන්නේ වේවයි නො කියන්නේ වේවයි පිළිවිසි කල්හි පැන විසඳනු යි මේ මැ එකාන්ත ධර්‍මකථික වේ"[5] යයි ආභිධර්මික මහණ මැ ධර්‍මකථික වන සේ තර කොට කියති.

---

1. ගෞතමන්‍යායදර්ශන, 2. මුග්ධබොධටීකා - 15 පිටුව. ජීවානන්ද විද්‍යාසාගර, 1902
3. මජ්ඣිමනිකාය - මහාගොසිඞ්ගසුත්ත. 4. පපඤ්චසූදනී - මහාගොසිඞ්ගසුත්තවණ්ණනා. 5. අත්ථසාලිනී - නිදානවණ්ණනා, හෙවිමු. 24 පිටුව.

නිකායාන්තර බෞද්ධයන් අතුරෙහි සර්වාස්තිවාදීන් විසින් අභිධර්මය ආදෘත යැ. ඔවුනට ද අභිධර්මයෙහි සප්තප්‍රකරණයෙක් වෙයි: ඥානප්‍රස්ථාන යැ සඞ්ගීතිපර්‍යාය යැ ප්‍රකරණපාද යැ විඥානකාය යැ ධාතුකාය යැ ධර්මස්කන්ධ යැ ප්‍රඥප්තිශාස්ත්‍ර යැ යන මේ සප්තප්‍රකරණයෝ යි. කනිෂ්ක-රාජසමයෙහි දී ඥානප්‍රස්ථානයට 'විභාෂා' නමින් අර්ථකථාවක් ද යළි එයට ටීකා තුනක් ද ලියන ලදහ. එහි විශාලතම ටීකාව 'මහාවිභාෂා' නමින් හැඳින්වෙයි. පශ්චාත්කාලීන පඬිවරුන් විසින් ලියනලද පරිවාර ග්‍රන්‍ථ රාශියෙකිනුදු සර්වාස්තිවාදීන්ගේ අභිධර්මය පෝෂිත වෙයි.

ලක්දිව බෞද්ධයන් අභිධර්මය කෙරෙහි දක්වූයේ අතිමාත්‍ර භක්තියෙකි, සම්භාවනායෙකි. එහි ලා මෙරට රජවරුන් මැ පුරෝගාමී වූ සේ ඉතිහාස-යෙහි දක්නා හැකි යැ. තෙමලා බුදුවදන්හි නිපුණ වූ සිංහල රජදරුවෝ බොහෝ දෙනෙක් මෙරට පාලනයෙහි නියුක්ත වූහ. බුදුදහම ව්‍යාප්ත කරලීම ද ඔවුන්ගේ රජදහම්හි අඞ්ගයෙක් වි. දහම් දෙසන්නටත් ධර්ම-ව්‍යාඛ්‍යාන කරන්නටත් ධර්මාධ්‍යාපනය කරන්නටත් මෙරට රජවරු ඉදිරිපත් වූ අවස්ථා ඉතිහාසයෙහි සඳහන් වැ ඇත. කුමරුවන් නිවාපයෙන් උපලාලනය කොට දහම් හැදූර වූ රජවරු ද වූහ.

දුටුගැමුණුරජ (බු. ව. 382 – 406) අනුරාධපුර ලෝහප්‍රාසාදයෙහි යටි-මහල්හි මහසඟන මැද දහම් දෙසන්නට ධර්මාසනාරූඪ වි.[1] සුළුමුගලන්රජ (බු. ව. 1089 – 1109) ධර්මභාණකයනට අතිරෙක පූජා කොට අර්ථකථා සහිත තුන්පිටකය වාචනා කරවී. කුමරුවන් නිවාපයෙන් උපලාලන කොට දහම් හැදූරවී. තෙමේ දහම් කවියට නඟා රාත්‍රිධර්මාවසානයෙහි ඇතුන් පිට පුරුෂයන් හිඳුවා නගරයෙහි කියැවී [2] දෙටුතිස් iii රජ (බු. ව. 1180 – 81) යුදයෙන් පැරැදූ සිරියෙන් ගෙල සිඳ සියදිවි නසාගනුයේ ඇමැති අත මෙහෙ-සියට සන්දේශයක් යවමින් "පැවිදිවැ ආගම හදාරා අභිධර්මය කියා පින්පෙත් දෙව" යි කියායවී.[3] කාසුප්මහරජ ii (බු ව. 1196 – 1205) මිරිසවැටි වෙහෙරෙහි පහයක් කරවා එහි නාගසාලනිවාසී 'මහාධම්මකථි' නම් මහ තෙරුන් වස්වා සිවුපසයෙන් උපස්ථාන කොට ඔබ ලවා අර්ථකථා සහිත අභිධර්මය කියැවි. නාගසාලයෙහි දු ආවාසයක් කරවා 'මහානිසීල' ග්‍රාමය එයට ප්‍රත්‍යය පිණිස පිදී.[4]

දෙබිසෑවජා සලමෙවන් අභා මහරජ (v කසුප් බු. ව. 1445 - 1455) මිරිසවැටි වෙහෙරෙහි දී නුවරවැසියන් හා භික්ෂූන් පිරිවරා විචිත්‍ර මණ්ඩප-යෙකැ හිඳ විජම්බණ දෙසී. විජම්පෙල රන්පත්හි ලියවා ධම්සඟුණු පෙළ නන්රුවනින් සඳ නුවර මැද උත්තමගෘහයක් (ධම්මචක්කගෙහ) කරවා එහි තබා පෙරහැර කරවී. තමා පුතුහට 'සක්කසෙනාපති' තැන් දී එයට පුද පෙරහැර කරවීමෙහි යෙදූවී. හවුරුදු පතා නුවර අලඞ්කාර කරවා සර්වාභරණයෙන් සැදී සෙන් පිරිවරා ඇතුපිට හිඳ ධම්සඟුණු වඩාගෙන වීථි සඤ්චාරය කොට තමන් කරවූ (මිරිසවැටි) විහාරයට මහපෙරහැරින් පමුණුවා එහි ධාතුඝරයෙහි විචිත්‍රමණ්ඩපයෙකැ තබා පුදපෙරහැර පැවැත්වී.[5] මහාවංශයෙහි එන මෙපුවත v කසුප් රජුගේ අභයගිරිසෙල්ලිපියෙහිදු

---

1. මහාවංස – 32 පරි. 42, 43 ගාථා. 2. මහාවංස – 40 පරි 58-60 ගාථා.
3. මහාවං – 42 පරි. 109 ගාථා 4. මහාසංස – 43 පරි. 149-151 ගාථා..
5 මහාවංස – 50 පරි. 45-56 ගාථා.

“ ……… දෙබිසෙවජා සලමෙය්වන් අබහය් මහරජ්ජුතාර් …… …… දසැණෙත් බුද්රුවත් අරියය් ධම්රුවත් කවරිසෙයෙකිත් පුජනෙම් හො යන අදහස් පුරය් අභිධම් දෙසුත් කසුත්පත් අරවය් මහපුජ කොට් සසුත් චිහිට්වම් යන සිත් දෙල්හෙන් ඇජරපය හමුයෙහි එ මෙ ධම්දෙසුත් වියක්හත් කළ ……” යනු දක්නට ඇත. මෙයින් එරජු අභිධම්-ව්‍යාඛ්‍යානයකුදු කළ බව හෙළි වෙයි.

මිහිඳු මහරජ iv (බු. ව. 1491 - 1507) සිතුළුගාමවාසී ‘දහම්මිත්’ තෙරුන් පුදා ඔබ ලවා අභිධම්වණ්ණනාවක් කරවී. අරණ්‍යවාසී ‘දෘඨානාග’ තෙරුන් ලවා අභිධර්මය කියැවී (උගැන්වී)[1] එයට වැටුප් තැබූ සැටිදු ඔබගේ මිහින්තලා පුවරු ලිපියෙහි එයි:

“……… විනවලා කියන බික්සඟ හිමියනට් කඩිත් පිඩිත් වසග් පසක් ඉසා සුතත්වලා කියන බික්සඟ හිමියනට් කඩිත් පිඩිත් වසග් සතක් ඉසා බිදම්වලා කියන බික්සඟ හිමියනට් කඩිත් පිඩිත් වසග් දෙළසක් ඉසා .. ………” යි.

මෙහි දැක්වෙන පරිදි විනයපිටකය කියන (උගන්වන) මහණක්හට වසග් පසක් ද සූත්‍රාන්තපිටකය කියන මහණක්හට වසග් සතක් ද අභිධම්පිටකය කියන මහණක්හට වසග් දෙළසක් ද දියයුතු වෙයි. විනයපිටකයත් සූත්‍රපිටකයත් දෙක මැ සඳහා කළ වැය එක් මැ අභිධම්-පිටකය සඳහා කළ වැය හා සම වෙයි. එයින් අභිධර්මය කෙරෙහි මහත් සම්භාවනා දක්වූ සේ පැනෙයි.

මහාවිජයබාහු රජ (බු. ව 1594 - 1649) දවස්පතා උදෑසන විවෙකී වැ ධර්මාගාරයට වැද ‘ධම්මසඞ්ගණිය’ පරිවර්තන කෙළේ යැ.[2]

මෙසෙයින් බලත් මැ අභිධම්පිටකය ලක්දිවෙහි දී ලද සම්භාවනා ඉමහති. ඉතිදු ධම්මසඞ්ගණීප්‍රකරණය විශිෂ්ට වෙයි. එය සඳහා ‘ධම්ම-සඞ්ගණිගෙහ’ නමින් වෙනමැ ගෘහයක් ද එහි ආරක්ෂාවට ‘සකකසෙනාපති’ නමින් වෙන මැ සෙනෙවි ධුරයෙක් ද වී. මෙකල ඇසළ පෙරහැර සෙයින් පැවැත්වෙන වාර්ෂික පූජෝත්සවයෙක් ද වූයේ යි. එහි දී ධම්සඟුණු වඩා ගෙන ගියේ මහරජ තෙමේ යි.

## විරුද්ධවාද

ධම්විනයෙහි නිපුණ විශාරද පඬිවරුන්ගේ අත්‍යන්ත බහුමානයට පාත්‍ර වැ ඇත ද අභිධම්පිටකය පමණ විවේචකයන්ගේ මතභේදයට ලක් වූ අන් පිටකයෙක් නැත. තුන්වැනි සඞ්ගීතියෙනුත් පළමු ඇරැඹුණු විවේචනය මෙතෙක් නැවැතී නැත. නිකායාන්තර බෞද්ධයන්ගේත් අන්‍යලබ්ධික යුරෝපීය පඬුවන්ගේත් විවේචනයට ලක්වීම ආගමයකී නො වෙයි. ඔවුන් අනුකරණය කරන මෙරට ථෙරවාදී තෙරවරුන්ගේත් ගිහිපඬුවන්ගේත් ප්‍රහාරය ද දැන් එයට නො අඩු වැ වදනා සැටි පැනෙයි ! ‘අභිධර්මය බුද්ධ-භාෂිත නො වෙයි’ කියනුවන්ගේ මුඛ්‍යවාද ගැන හෙතුයුක්ත එළවා කළ ප්‍රාමාණික මතඛණ්ඩනයක් බුද්ධජයන්ති ත්‍රිපිටකමුද්‍රණාඞ්කාගත මහාවග්ග-පාළි ප්‍රස්තාවනායෙහි එයි. ධම්විනයෙහි මෙන් මැ දර්ශනයෙහි දූ විශාරද වූ,

1. මහාවංස - 52 පරි. 35, 36 ගාථා. 2. මහාවංස - 58 පරි. 17 ගාථා.

ශ්‍රී ලඞ්කා විද්‍යෝදය විශ්වවිද්‍යාලයෙහි දර්ශනාංශයෙහි විනේතෘභූත මහෝපාධ්‍යාය දර්ශනවිශාරද පරවාහැර සිරිවජිරඤාණාභිධාන නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින් කරනලද එ මැ වාද ඛණ්ඩනය ප්‍රමාණවතුදු ප්‍රාසඞ්ගික හෙයින් මෙහි දු කරුණු කිහිපයක් දක්වාලම්හ.

**මහාසාංඝිකයෝ:** අභිධර්මයට විරුද්ධ වැ පළමු නැඟී සිටියෝ මහාසාඞ්ඝික නිකායවාසිහු වෙති. දඹදිව කාලාශෝක මහරජු (බු. ව. 90 - 118) දවස අකප්පිය දශවස්තුවක් නඟා ශාසනාර්බුදයක් ඉපැද වූ එහෙයින් මැ ද්විතීය සඞ්ගීතියෙහි දී ස්ථවිරවාදයෙන් නෙරනලද වජ්ජිපුත්තක භික්ෂූහු අධර්මවාදීන්ගේ පක්ෂබල ලබා දසදහසක් දෙනා එක් වැ කොසඹෑ නුවර ඝෝෂිතාරාමයෙහි දී 'මහාසාඞ්ඝික' නමින් වෙන මැ නිකායක් පිහිටුවා ගත්හ. ඔවුන් විසින් පරිවාර, අභිධර්මප්‍රකරණ සය, පටිසම්භිදා, නිද්දෙස, ජාතක එකදෙශයෙක් යන මෙතෙක් දහම් හළ බව දීපවංසයෙහි[1] එයි.

**ශාසනය නවීකෘත වී ද?:** දඹදිව ධර්මාශෝක මහනිරිඳුන් දවස තෘතීය සඞ්ගීති සමයෙහි නිකායාන්තර බෞද්ධයන් අතුරෙහි සර්වාස්තිවාදීන් හැර සෙසු හැමදෙනා අභිධර්මය බුද්ධභාෂිත සේ නො ගත්හ. 'ශාසනය නවීකෘත යැ' (සාසනං නවං කතං) යි කියත්තෝ ද වූහ. මධුරසූත්‍ර[2] ඝෝටමුඛසූත්‍ර[2] මුණ්ඩරාජසූත්‍ර[3] සන්නසඤ්ඤිකකණ්ඩිකා[4] වැනි ප්‍රථම සඞ්ගීතියෙන් පසු වැ කළ දෙශනාවන් පෙළට එක් කිරීම ගැන ඔවුන් එසේ කියනු විය හැකි යැ කථාවස්තුයෙහි උන්ගේ වාද සහෙතුක වැ ඛණ්ඩනය කොට ඇත.[5] 'ශාසනය නවීකෘත යැ' යි කීම ඇතැම් උත්තරාපථකයන්ගේ බස් වැන්නැයි අට්ඨකථාචාර්යයෝ දක්වති.[6] මෙහි නිර්දිෂ්ට යත් අටුවා පාළියට නඟන අවධියෙහි විසූ උත්තරාපථක්‍යනැ යි සිතම්හ. ඔහු සෞත්‍රාන්තික නිකායවාසී බෞද්ධයෝ වියයුත්තාහ. සෞත්‍රාන්තිකයෝ වනාහි කාශ්මීර ගන්ධාර දෙරටෙහි බලවත් වැ සිටි සර්වාස්තිවාදයෙන් බිඳීගියාහු වෙති. ඔහු සූත්‍රාන්ත මැ බුද්ධභාෂිත සේ ප්‍රමාණ කොට ගත් හෙයින් 'සෞත්‍රාන්තික' නම් වූහ. මෙයින් පැනෙනුයේ 'ශාසනය නවීකෘත යැ' යන මතය කථාවස්තුයෙන් ඛණ්ඩනය කොට තිබියදීත් එහි තර වැ එල්බගත් පිරිසක් අටුවා පෙළබසට නඟන අවධියේත් භාරතයෙහි සිටි බවයි.

අභිධර්මයට විරුද්ධ වැ විතණ්ඩවාදීන් යනන නොයෙක් චෝදනා ඇත. ඔවුනතර:

i **අභිධර්මය බුද්ධභාෂිත නො වෙයි,**

ii **ප්‍රථම සඞ්ගීතියට පෙර අභිධර්මය නො වී,**

iii **අභිධර්මය ප්‍රථම සඞ්ගීතියෙහි සඞ්ගීත නො වී,**

යන චෝදනාවෝ මුඛ්‍ය වෙති. මේ එකෙකුදු අලුත් නො වෙයි. අටුවා පෙළබසට නඟන්නටත් පෙර සිට මැ නිකායාන්තර බෞද්ධයන් විසිනුදු ස්ථවිරවාදයට විරුද්ධ වැ නඟනලදු වැ අට්ඨකථායෙහි ඛණ්ඩන ද කොට ඇති චෝදනා මැ යි. අපිදු විමසම්හ.

1. දීපවංස - 4 පරි. 76 ගාථාව, 2. මජ්ඣිමනිකාය - මජ්ඣිමපණ්ණාසක.
5. අඞ්ගුත්තරනිකාය - පඤ්චකනිපාත, මුණ්ඩරාජවග්ග 4. චුල්ලවග්ගපාළි.
3. කථාවත්ථු - එකවීසතිවග්ග 6. පඤ්චප්පකරණට්ඨකථා - හෙව්මු. 204 පිටුව.

# වාදනිරාස

**අභිධර්මය බුද්ධභාෂිත නො වේ ද?:** 'අභිධර්මය බුද්ධභාෂිත නො වේ' යයි ප්‍රතිඥා කරනුවෝ එහි නිදාන නැති බව හෙතු විසින් දක්වති. සූත්‍රාන්තය එයට වෛධර්ම්‍යදෘෂ්ටාන්ත කොට එළවති. තර්කානුකූල මැ ගත් කලැ මේ මෙසේ සිටුනේ යැ:

'අභිධර්මය බුද්ධභාෂිත නො වෙයි,
නිදාන නැති හෙයිනි,
(වෛධර්ම්‍යයෙහි) සූත්‍රාන්තය මෙනි' යි.

මෙයින් මේ කියනලද වෙයි: 'ඉදින් අභිධර්මය බුද්ධභාෂිත වී නම් සූත්‍රාන්තයට "එවං මෙ සුතං එකං සමයං භගවා සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ" ආදිය සෙයින් අභිධර්මයට ද නිදානයක් විය යුතු යැ. නිදාන නැති හෙයින් අභිධර්මය බුද්ධභාෂිත නො වේ' කියා යි. ඔවුන්ගේ හෙතු මැ සදොස් වෙයි ප්‍රතිඥාර්ථසිද්ධියට එළවන හෙතු ඒකාන්ත වියයුතු යැ. බුද්ධභාෂිතයට නිදාන ඒකාන්ත හෙතු නො වෙයි. 'යමෙක් බුද්ධභාෂිත වී නම් ඒ සනිදාන වියයුතු යැ' යි ව්‍යාප්තිනියමයෙක් නැති දෘෂ්ටාන්ත කොටගත් සූත්‍රාන්තයෙහි දු නිදාන අව්‍යභිචාරී නො වෙයි. නිදාන නැති සූත්‍රාන්ත ද ඇති හෙයිනි. ජාතක, සුත්තනිපාත, ධම්මපද ආදියෙහි නිදාන නැත, බුද්ධභාෂිතයට සනිදානත්වය හෙතු වී නම් එ හැම බුද්ධභාෂිත බැවින් බැහැර කළයුතු වෙයි.

මහාකාත්‍යායන තෙරණුවන්ගේ අතැවැසි සොණ තෙරණුවෝ සුත්තනිපාතය උගෙන එහි එන අට්ඨකවග්ග ගාථා බුදුරදුන් වදාළ පරිදි මැ උන්වහන්සේ හමුයෙහි මධුරස්වරයෙන් සජ්ඣායනා කොට කල්‍යාණවාක්කරණ ඇති ශ්‍රාවක මහණුන් අතුරෙහි අගතැන් ලදහ. අඞ්ගුත්තරනිකාය එතදග්ගපාළියෙහි උන්වහන්සේගේ නම් සඳහන් වැ ඇත. අට්ඨකථායෙහි පුවත විස්තර විසින් එයි. මෑත දී දඹදිවැ සාඤ්චිස්තූපයෙහි පුරාවස්තු අතර තිබී 'සත්පුරුෂ මහාකාත්‍යායනගේ අතැවැසි සොණගේ' යන අරුත් ඇති "සපුරිසස මහකචනස අතෙවසිනො සොනස" යන ලිපිය සහිත ධාතු කරඬුවක් සොයා ගෙන ඇත. මහාකාත්‍යායන තෙරණුවෝ පැවිද්දට පෙර අවන්තිජනපදයෙහි චණ්ඩපජ්ජොත රජුගේ පුරොහිත බ්‍රාහ්මණ වූහ. සොණ තෙරණුවෝ ප්‍රථම සෝවාන් උවැසි වූ කුරරඝරයෙහි කාළී උවැසියගේ පුතණුවෝ යි. සාඤ්චිස්තූපයෙහි උන්වහන්සේගේ නම ගෞරවයෙන් අනුස්මරණය කිරීමට හෙතුව ජන්මභූමියෙහි සම්බන්ධය වියයුතු යැ. එයින් පෙළ උටුවාහී ආ පවත් ඓතිහාසික සත්‍යභාවයෙන් තර වෙයි. මේ අනුව අන් කුමක් හැර පියතුදු සුත්තනිපාතයෙහි අට්ඨකවග්ගය හෝ බුද්ධභාෂිත සේ ගතයුතු වෙයි. එයට ද නිදානයෙක් නැත. මෙසෙයින් බුද්ධභාෂිතයෙහි නිදාන අනෛකාන්තික වෙයි. හෙතු මැ සදොස් බැවින් වාදය බිඳ වැටෙයි.

**නිදාන නො දැක්වීමට හෙතු:** අභිධර්මයට නිදාන එකක් නො වැ දෙකක් ඇති සේ අර්ථකථායෙහි දක්වන ලදී. එය එසේ නම් ඇති නිදාන නො දැක්වූයේ කිම? නිරර්ථක හෙයිනි. නිදාන දක්වනුයේ අර්ථයක් සඳහා යි. ස්ථාන, පුද්ගල, වස්තු ආදීන් නානාත්වයක් ඇති තන්හි නිදාන දැක්වීම ග්‍රහණධාරණයෙහි පහසු පිණිස පවතී. එද අවශ්‍යයෙන් මැ දැක්වියයුතු යැ යි නියමයෙක් නැති. ප්‍රථමසඞ්ගීතියෙහි දී ධර්මසඞ්ග්‍රාහකතෙරුනට රිසි සේ නිදාන තබනලදී. අභිධර්මයෙහි සූත්‍රාන්තයෙහි සෙයින් ස්ථානපුද්ගලාදි නානාභාවයෙක් නැති. එයින් නිදාන අවශ්‍ය නො වෙයි.

තවද කරුණෙක් ඇත: සූත්‍රාන්ත ධර්මසඞ්ග්‍රහ කරන ලද්දේ බුදුන් පිරිනිවි තුන්මසකට පසු යැ. එයින් එය අනුශ්‍රව වියින් සනිදාන කොට කියයුතු වෙයි. ධර්මය ශාස්තෘන් වහන්සේ ප්‍රභව කොට පවත්නා හෙයින් හා උන්වහන්සේ නො හමුයෙහි සඞ්ග්‍රහ කළයුතු වූ ද බැවිනි. අභිධර්මපිටකය වාචනාමාර්ගයට නඟනලද්දේ සම්බුදුරජුන් හමුයෙහි යැ. ප්‍රථම සඞ්ගීතියෙහි සඞ්ගායනා කරනු මිස සඞ්ග්‍රහ කිරීමට කිසිවක් එහි නො වී එයිනුදු නිදාන නිරර්ථක වෙයි.

මෙහි දී 'අභිධර්මයේ ප්‍රභවය' (THE ORIGIN OF THE ABHIDHAMMA) නමින් බෞද්ධවිශ්වකෝෂයෙහි (ENCYCLOPAEDIA OF BUDDHISM) එන ලිපිය ද විමසනු වටී. "බුදුරජහු අභිධර්මය නො දෙසූහ යනු මණ්ඩලාරාමවාසී තිස්සභූති තෙරුන්ගේ මතය විය. උන්වහන්සේ සවමතය සනාථ කිරීමට පදෙසවිභාර සූත්‍රය නිදසුන් කොට ගත්හ. සුමනදෙව නම් තෙර කෙනකුන් විසින් 'අභිධර්මයෙහි කර්තෘ බුදුරජාණන් වහන්සේ මැ යැ' යි පිළිගන්නා ලෙස සවකීය අනුගාමිකයෝ පොළොඹවන ලදහ"[1] යි ලියුම්කරු මහතා කියයි. දැන් අපි මෙයට සම්බන්ධ අටුවා පාඨ ගෙන බලම්හ.

"මණ්ඩලාරාමවාසී තිස්සභූතිත්ථෙරො පන මහාබොධිනිදානො එස අභිධම්මො නාමාති දස්සෙතුං "යෙන ස්වාහං භික්ඛවෙ විහාරෙන පඨමාභිසම්බුද්ධො විහරාමි තස්ස පදෙසෙන විහාසින්ති ඉමං පදෙසවිහාර සුත්තන්තං කථෙසි ... එවං ථෙරො පදෙසවිහාරසුත්තන්තවසෙන අභිධම්මස්ස නිදානං කථෙසි. ගාමවාසී සුමනදෙවත්ථෙරො පන හෙට්ඨාලොහපාසාදෙ ධම්මං පරිවත්තෙන්තො අයං පරවාදී බාහා පග්ගය්හ අරඤ්ඤෙ කන්දන්තො විය අසක්ඛිකං අට්ටං කරොන්තො විය ච අභිධම්මෙ නිදානස්ස අභාවම්පි න ජානාතීති වත්වා නිදානං කථෙන්තො එවමාහ. "එකං සමයං භගවා දෙවෙසු විහරති තාවතිංසෙසු පාරිච්ඡත්තකමූලෙ පණ්ඩුකම්බලසිලායං, තත්‍ර ඛො භගවා දෙවානං තාවතිංසානං අභිධම්මකථං කථෙසි: කුසලා ධම්මා අකුසලා ධම්මා අව්‍යාකතා ධම්මා"ති.[2]

අත්ථසාලිනියෙහි එන මේ පාඨයෙන් බෞද්ධවිශ්වකෝෂ ලියුම්කරු තඟාගත් පූර්වෝක්ත අර්ථය හාස්‍යජනක යැ. මෙහි එනුයේ: "අභිධර්මයට නිදානයෙන් කිසෙක් නැතැ' යි කරුණු ගන්වනු නො හැකි, එහි නිදාන මැ සොයා වෙහෙසෙන විරුද්ධවාදීහට මණ්ඩලාරාමවාසී තිස්සභූති තෙරුන් විසින් පදෙසවිහාරසූත්‍රාන්තය එළවා මහාබොධි නිදානය අභිධර්මයට නිදාන සේ දක්වූ බව යි. එසේ මැ ග්‍රාමවාසී සුමනදෙව තෙරණුවන් විසින් ලොහප්‍රාසාදයෙහි යටිමහල්හි දී අභිධර්මයට තාවතිංසනිදානය එළවූ බව යි. මෙතරම් සරල පාළිපාඨ ද වරදවා ගෙන අභිධර්මය වැනි ගැඹුරු විෂයයක් විවෙචන කොරෙමින් ආධුනිකයන් විසංවාදයෙහි හෙළීම බලවත් අපරාධ යෙකි.

අභිධර්මය පිළිබඳ ථෙරවාද මතයට විරුද්ධ වැ බෞද්ධවිශ්වකෝෂයෙහි අභිධර්ම ලිපියෙහි දක්වන තවත් අදහස් කිහිපයක් මෙසේ යැ:

iv "අභිධර්මය වැඩීගියේ සූත්‍රාන්තයෙහි දෙශනා කොට ඇති ධර්මය පැහැදිලි කිරීමට ගන්නා ලද උත්සාහයෙහි ප්‍රතිඵලයක් වශයෙනි"[3]

1. බෞද්ධ විශ්වකෝෂ 41 පිටුව, 2. අත්ථසාලිනී - හෙවිමු. 25 පිටුව.
3. බෞ වි කො. 63 පිටුව

v "නිද්දෙසයත් පටිසම්භිදාමග්ගයත් පාළි අභිධම්ම ග්‍රන්ථ සත පහළ වීමට පළමුයුගයකට අයත් වෙති "[1]

vi "මේ ග්‍රන්ථ දෙකෙහි මැ දෙශනාව සම්පූර්ණයෙන් ආකූල යැ "[1]

vii "නිද්දෙසය බුදුදහමෙහි ඉපැරණි කොටසට අයත් වන අට්ඨක පාරායණ වැනි ධර්ම කොටස්‍ගනනට අභිධර්ම අර්ථ විවරණ සපයන ග්‍රන්ථයෝ යි"[1] යනු යි.

අභිධර්මපිටකය පසුකලෙක දී සූත්‍රාන්තපිටකයට කරනලද අර්ථවිවරණයක් සේ ලියුම්කරු මහතා සලකන බව මෙයින් පෙනේ. ඒ අනුව නිද්දෙසයත් පටිසම්භිදාමග්ගයත් ඉපැරණි අභිධර්ම අර්ථවිවරණ දෙක යි. අභිධර්මපිටකයට ගුරු වූයේ ද එ දෙක මැ යි. 'නිද්දෙසයත් පටිසම්භිදාමග්ගයත් පාළි අභිධර්ම ග්‍රන්ථ සත පහළ වීමට පළමු යුගයකට අයත් වෙති' කියන්නේ එහෙයිනි. අභාග්‍යයකට මෙන් නිද්දෙසය මැ ඒ මහතාට හරස් වෙයි. ධම්මසඞ්ගණි-යෙන් උද්ධෘතපාඨ සවිස්සකට (26) නො අඩු ගණනක් ද විභඞ්ගයෙන් උද්ධෘතපාඨ සතළොස (17) කට නො අඩු ගණනක් ද නිද්දෙසයෙහි දක්නා ලැබේ. එ හැම බුද්ධජයන්ති ත්‍රිපිටක මුද්‍රණාගත නිද්දෙසයෙහි පෙන්වා ඇත. මේ පාඨයන් නිද්දෙසයට ඇතුළු වූ සේ නිර්ණය කිරීමේ දී පළමු නිගමනයත් වෙනස් කොට අර්ථකථායෙහි පිහිට සොයන්නට සිදුවනු ඇත.

'අභිධර්මය සූත්‍රාන්තයට කළ අර්ථවිවරණයෙකි' යන විමතිය බොහෝ දෙනා තුළ පහළ වැ ඇත්තේ නිද්දෙසයත් පටිසම්භිදාමග්ගයත් අභිධර්ම ග්‍රන්ථ දෙකක් සේ වරදවා ගැනීමෙන් වියැයුතු යැ. නිද්දෙසයත් පටිසම්භිදා-මග්ගයත් තේරුම් ගැනීමට නො හැකි වීම නිසා ඔවුන් මහ අවුලෙකැ වැටී සිටුනා බව නම් පැහැදිලි යැ. 'මේ දෙකෙහි දෙශනාව සම්පූර්ණයෙන් ආකූල යැ' යි කියන්නේ ද එහෙයිනි. දහම් නය දතුවෝ නම් එහි කිසි අවුලෙක් නුදුටුවිරු හ.

නිද්දෙසයෙහි හෝ පටිසම්භිදාමග්ගයෙහි හෝ අභිධර්මලක්ෂණයක් එ දෙක පහළ වූ තැන් පටන් මෙතෙක් එක ද ආභිධර්මිකයෙක් නො දුටුයේ යි. ධර්ම විසින් ගනුත් සූත්‍රාන්තයත් අභිධර්මයත් අතර කිසි වෙනසෙක් නැති. වෙනස ඇත්තේ විභාගනයෙහි පමණි. සූත්‍රාන්ත සප්‍රදෙශ කොට ද අභිධර්ම නිෂ්ප්‍රදෙශ කොට ද විභක්ත වෙයි. එයින් ඒ ධර්මාතිරෙක ද ධර්ම විශෙෂ ද විය. සූත්‍රාන්තය ව්‍යවහාරදෙශනා යැ. අභිධර්මය පරමාර්ථදෙශනා යි. මේ වෙනස නො හැඳින හෝ නො තකා හෝ අභිධර්ම විවෙචනයට බැසීම අඳුරෙහි අතා ඔව්නා වැන්න. නිද්දෙසයෙහිත් පටිසම්භිදාමග්ගයෙහිත් සප්‍රදෙශ නය මිස නිෂ්ප්‍රදෙශ නයෙක් නො වේ.

**ප්‍රථම සඞ්ගීතියට පසුව අභිධර්මය නො වී ද?**

මේ ද අර්ථකථායෙහි නිරාකෘත ප්‍රශ්නයෙකි. එහෙත් 'අභිධර්මය ප්‍රථම සඞ්ගීතියෙන් පෙර නො වී' යයි කියන්නෝ අදත් ඇත. ඔවුන් අභිධර්මයෙහි පශ්චාත්කාලීනත්වය කීමට බුද්ධඝොෂ අටුවාචාරීන් වහන්සේ 'අභිධම්ම' ශබ්දයට දක්වූ නිරුක්තාර්ථය ද එහල් කොට ගන්නා බව පෙනේ. අභිධම්ම ශබ්දයෙහි අරුත් දක්වන තෙරණුවෝ අත්ථසාලිනී නම් ධම්මසඞ්ගණි අටුවාවෙහි: "කෙනට්ඨෙන අභිධම්මො? ධම්මාතිරෙක ධම්මවිසෙසට්ඨෙන. අතිරෙක විසෙසත්ථදීපකො හි එත්ථ අභිසද්දො".[2] එයි-

1 බෞ. වි. කෝෂ 66 පිටුව. 2. අත්ථසාලිනී - හෙවිමු 2 පිටුව

අභිධම්ම යනු කවර අරුතෙකින් අභිධර්ම වෙයි යත්: ධර්මාතිරේක ධර්ම විශේෂාර්ථයෙනි. මෙහි 'අභි' ශබ්දය අතිරේකවිශේෂාර්ථදීපක හෙයිනි'' යි කීහු විභාවනෙහි 'අභිධම්ම' යනු 'සුත්තන්තාධිකා පාළි[1] සූත්‍රාන්තයට අධික වූ පාළි'' යයි කියනු ලදී. 'අභිධර්මය සූත්‍රාන්තයට පසු වැ ඇති වී යයි කියන්නන් අතිරේක විශේෂ ශබ්දයනට අලුත්–පසු වැ ඇති වූ යන අරුත් ගන්නා බව පෙනේ. ඒ අනුව 'අභිධම්ම' යනු 'අලුත් දහම' 'පසු වැ ඇති වූ දහම' නම් වෙයි. එහෙත් අතිරේක විශේෂ ශබ්දයන්හි ඒ අරුත නො ලැබෙයි.

'අභිධම්ම' ශබ්දයට යථෝක්ත නිරුක්ත්‍යර්ථ හා වාච්‍යාර්ථ දැක්වූවෝ බුදුගොස් තෙරණුවෝ යි. එහි දී උත්වහන්සේ දැක්වූ අරුත් මැ ගනු මිස තමන් රිසියෙන අරුතක් ගැනීම නො මැනැවි. නිරුක්ත්‍යර්ථයට වඩා වාච්‍යාර්ථය බලවති. අභිධර්මය ධර්මාතිරේක ධර්මවිශේෂ වන අයුරු ද පැහැදිලි ලෙස බුදුගොස් තෙරණුවෝ මැ දක්වාලූහ.[2] අපිදු එය මූලදී දැක්වූම්හ.

'අභිධර්මපිටකය සම්බුද්ධපරිනිර්වාණයෙන් පසු ශතවර්ෂ කිහිපයක් තුළ අනුක්‍රමයෙන් වැඩිගියේ යැ' යි කියන්නෝ ද වෙති. ආචාර්ය කොගෙන් මිශුනෝ (KOGEN MIZUNO) 'ක්‍රි පූ 3 වැනි සියවස්හි මධ්‍යභාගය පටන් ක්‍රිස්තුවර්ෂාරම්භය දක්වා අභිධර්මයෙහි මූලග්‍රන්ථ සම්පාදනය වූ කාලය' සේ කියයි.[3] මේ වනාහි සාධක රහිත නිගමනයෙකි. කථාවත්ථුප්‍රකරණය මිස ත්‍රිපිටකයෙහි ඇතුළු වැ ඇති අන් එක ද ග්‍රන්ථයෙකැ හෝ ඔවුන්ගේ විමතියට අදාල කාලනිර්ණයකට සත්‍ය සාධක දැක්වීමෙහි ඔහු නො සමත් වෙති. කථාවත්ථුප්පකරණ පිළිබඳ පවත්නා අට්ඨකථා ද පුදුරා දක්වා ඇත. සෙසු තෙවළා දහම් රැසැයුණු අයුරු ද අට්ඨකථා එයි. 'කථාවත්ථුප්පකරණය බුදුරදුන් තැබූ මාතිකාවය ගෙන මොග්ගලිපුත්තතිස්ස තෙරණුවන් විසින් දැදිව දම්සෝ මහනිරිඳුන් දවස දෙසින යැ' යි දක්වා ඇත. ඉදින් විරුද්ධවාදීන් සිතන කියන පරිදි තෙවළාහෙහි පාළි, ටීකා, පකරණ ග්‍රන්ථ ඒ ඒ යුගයන්හි වෙන් වෙන් කතුවරුන් විසින් නිපදවන ලද නම් ඔවුන්ගේ නම්ගොත් ජීවනක්‍රමය ආදී පවත් කථාවත්ථුප්පකරණයෙහි දැක් වූ සෙයින් අටුවා ඇදුරන් විසින් නො දක්වා වලහාලන්නට හේතු කිම්? එසේ වළහාලූ බවට සත්‍යසාධක දැක්විය හැකි ද? පෙළ බසත් දහම් ඥානත් නො දැන හෝ වරදවා ගෙන හෝ එළවන මනඃකල්පිත සාධක මගින් 'අර දහම් පැරැණි යැ, මේ දහම් කොටස් අලුත් යැ' යි කියනු මිස මේ විනෙතක් කිසි විවේචකයෙක් සත්‍ය සාධක එළවා එය තර කිරීමට සමත් වූයේ නො වේ.

''නිකාය ග්‍රන්ථ පතුරෙහි මෙක්සිම අභිඥාකාර ශ්‍රද්ධානකාය පසු කලකට අයත් වේ යයි ද අභිධර්මය ගැන සඳහන් වන්නේ එ දෙක්හි පමණෙකැ''[4] යි ද ආචාර්ය කොගෙන් මිශුනෝ මහතා මෙබඳු විගමනයෙහි කියයි. කවර කාලෙක කවුරුන් විසින් ද යනු නො කියයි. ද්විතීයසංගීතියෙහි දී පෙළට ඇතුළු කරන ලද කොසම්බිය, වර්ග, මුණ්ඩරාජ සූත්‍ර නිසා ආචාර්ය මිශුනෝට ඒ විමතිය පහළ වූයේ වන. ඒ එක ද සූත්‍රයක් හෝ බුද්ධභාෂිත සේ දැක්වීමට සඞ්ගීතිකාරක තෙරවරුන් හෝ අටුවා ඇදුරන් හෝ කිසි තැනෙක් දරා ඇද්ද? යථෝක්ත සූත්‍රයන්හි බුදුන්ගේ බැහැරි කියවක් නැත.

1. අභිධම්මමූලටීකා - මජ්ඣ. 12 පිටුව, 2. අත්ථසාලිනී නිදානකථා - හෙවිතූ 2 පිටුව.
3. බෞ. වි. කොෂය 65 පිටුව 4. බෞ. වි. කො. 66 පිටුව

බුදුදහම ශ්‍රාවකභාෂිත වුව ද එය පෙළට ඇතුළු කිරීම දිවමනු බුදුරදුන් හමුයෙහි මැ සිදු වූයේ යි. සම්බුද්ධපරිනිර්වාණයෙන් පසු වැ දෙශිත වුව ද යථොක්ත සූත්‍රයන් පෙළට ඇතුළු කිරීමට කිසි බාධායෙක් නැත. එහෙත් ශ්‍රාවකභාෂිතයක් බුද්ධභාෂිත සේ දක් වූ තැනෙක් නැත. එ හැම අටුවා ඇදුරෝ ඉඳුරා සඳහන් කෙරෙති. උත්තර මාතුපෙතවත්ථුව මෙයට හොඳ නිදසුනෙකි. එහි එන මහාකච්චානයින් තෙරණුවෝ බුදුරදුන්ගේ සම්මුඛශ්‍රාවක කෙනෙකි. උදේනරජ සම්මුඛ උපාසකයෙකි. අට්ඨකථායෙහි නො කියන ලද නම් ඒ කථාව ප්‍රථමසඞ්ගීතියෙහි සඞ්ගීත නො වී යැ යි කිසිලෙසකින් දත නො හෙයි. එහෙත් එහි එන පුවත සම්බුද්ධපරිනිර්වාණයෙන් පසු සිදු වූ බවත් ද්විතීය සඞ්ගීතියෙහි දී පෙළට ඇතුළු කරනලද බවත් අටුවා ඇදුරෝ හෙළි කෙරෙති.[1] විතණ්ඩවාදීන් සිතන කියන පරිදි පශ්චාත්කාලීන රචනා බුදුන් කෙරෙහි හෝ උන්වහන්සේගේ සමීපශ්‍රාවකයන් කෙරෙහි හෝ ආරෝපණය කිරීමට වෑයමෙක් වී නම් නිතැතින් මැ ප්‍රථමසඞ්ගීතියට ඇතුළුවියහැකි වැ තුබුණු මාතුපෙතවත්ථුව ද්විතීයසඞ්ගීතියෙහි සඞ්ගීත වී යැ යි සඳහන් කරනු ඇද්ද?

මජ්ඣිම අඞ්ගුත්තර දෙනිකායෙහි අභිධර්මය ගැන සඳහන් වීම ප්‍රමාණ කොටගෙන අභිධර්මපිටකය පශ්චාත්කාලීන රචනාවක් බව දක්වීමට බෞද්ධ විශ්වකෝෂයෙහි ආචාර්ය මිශුනෝ යත්න දරා ඇත.[2] එහෙත් අභිධර්මය ගැන සඳහන් සූත්‍ර දිවමනු බුදුරදුන්ගේ සමයට අයත් වීමෙන් ඒ මහතා අනාථ වෙයි. එමතු දු නො වෙයි, අභිධර්මපිටකයට ද ගුරු වූයේ යැ යි අදහන මහානිද්දේසයෙහි අඞ්ගුත්තරනිකායානුගත සූත්‍රයන් ගෙන් උද්ධෘතපාඨ එකොළොසක් (11) පමණ ද මජ්ඣිමනිකායානුගත සූත්‍රයන්ගෙන් උද්ධෘත පාඨ තෙළෙසක් (13) පමණ ද දක්නට ඇත.[3] ප්‍රථමසඞ්ගීති අවසන්හි මජ්ඣිමනිකාය සැරියුත් තෙරණුවන්ගේ අතැවැසියනටත් අඞ්ගුත්තරනිකාය අනුරුද්ධ තෙරණුවනටත් පැවැරූ බව සුමඞ්ගලවිලාසිනී නම් දීඝනිකායට්ඨකථායෙහි සඳහන් වෙයි මිශුනෝ මහතා සිතන පරිදි අභිධර්මපිටකයෙහි යටත්පිරිසෙයින් ධම්මසඞ්ගණීප්පකරණය හෝ මජ්ඣිමනිකායටත් අඞ්ගුත්තරනිකායටත් පැරණි වියයුතු යැ: නිද්දෙසය ඉනිදු පැරණි වෙයි. (මිශුනෝ මතය පරිදි) එයට ගුරු වූ හෙයිනි. අභාග්‍යයකට මෙන් මජ්ඣිමනිකායාගත සූත්‍රපාඨ ද අඞ්ගුත්තරනිකායාගත සූත්‍රපාඨ ද ධම්මසඞ්ගණී විභඞ්ගපාඨ ද නිද්දෙසයෙහි නිර්දිෂ්ට වෙයි මේ අවුලෙහි දී මිශුනෝ මහතාට සිදුවනුයේ විනයෙහි[4] අභිධර්ම සඳහන ගැන ඕල්ඩන්බර්ග් මහතා කී පරිදි 'පසුකලෙක ඇතුළු කරන ලද' යි කියා ලිස්සා යෑමට යි. යථොක්ත කරුණු අනුව මජ්ඣිමනිකායෙහිත් අඞ්ගුත්තරනිකායෙහිත් අභිධර්මය ගැන සඳහන ප්‍රමාණ කොට අභිධර්මයෙහි පශ්චාත්කාලීනත්වය සනාථ කරන්නට යන්නෝ අනාථ වැ ඇද වැටෙති.

**ත්‍රිපිටකයෙහි යුග බෙදීම්.** ත්‍රිපිටක බුද්ධවචනය යුග වශයෙන් බෙදන්නට යෑමෙන් විවේචකයෝ මහ අවුලෙක පැටලී සිටිති. පාළි විසින් හෝ නිකාය විසින් හෝ පකරණ විසින් හෝ ගෙන අසුවල් පාළිය, නිකාය, පකරණය අනෙකට වඩා අළුත් යයි හෝ පැරණි යයි හෝ කිවහැකි කිසි ප්‍රමාණයෙක් නැත. ශික්ෂා විසින් හෝ සූත්‍ර විසින් හෝ විභාග කරන්හොත් ආයාසයෙන් පෙර පසු බෙදා වෙන් කොට ගත හෙයි. තෙවළා බුදු වදන් පිටකයෙහි සඞ්ග්‍රහ කරන ලද්දේ දෙශිත පරිපාටිය

1 පෙතවත්ථුඅට්ඨකථා - හෙවි. 105 පිටුව  2. බෞ. වි. කොෂය 66 පිටුව.
3. නිද්දෙසපාළි බුද්ධජයන්ති මුද්‍රණය.  4. පාචිත්තියපාළි - විලෙඛනසික්ඛාපද

අනුව නො වැ ග්‍රහණධාරණයෙහි පහසු පිණිස ස්වරූපසාම්‍යය අනුව යි. දේශනා අනුපිළිවෙළ ගන්නා ලද නම් 'ධම්මචක්කප්පවත්තන' සූත්‍රය සඞ්ග්‍රහ කළයුතු වන්නේ සච්චසංයුත්තයෙහි නො වැ දීඝනිකායෙහි ප්‍රථම සූත්‍රස්ථානයෙහි යැ. මේ බව නො සිතන ත්‍රිපිටක විවේචකයන් ප්‍රථම සඞ්ගීතියෙන් පසු වැ දේශිත මූණ්ඩරාජ, සොටමුඛ, මධුර වැනි සූත්‍රයන්හි මුලා වැ අඞ්ගුත්තරනිකායත් මජ්ඣිමනිකායත් 'පශ්චාත්කාලීන රචනා' යයි සිතනු වියහැකි යි. එහෙත් යථෝක්ත සූත්‍ර එකක් හෝ ප්‍රථමසඞ්ගීතියෙන් පෙර දේශිත වූ බව දක්වීමට කිසි වෑයමක් ස්ථවිරවාදීහු කර නැත. සම්බුද්ධ පරිනිර්වාණයෙන් පසු දේශිත කිසි දහමක් බුද්ධකාලය හා සම්බන්ධ කොට දක්වා ඇති බවක් සහෙතුක වැ කීමට මෙතෙක් කිසිදු විවේචකයෙක් සමත් නො වී.

ත්‍රිපිටකයෙහි යුග බෙදනුවත් පෙළ බසත් දහම්නයත් නො දන මුලා වූ සේ නම් පැහැදිලි වැ පෙනේ. අපදානපාළියෙහි නව්‍යත්වය සනාථ කිරීමටත් එයින් මැ 'පශ්චාත්කාලීන රචනා බුදුරදුන් කෙරෙහි හෝ උන්වහන්සේගේ සමීපශ්‍රාවකයන් කෙරෙහි හෝ ආරොපණය කිරීමට ස්ථවිරවාදීහු තැත් කොට ඇතැ' යි කීමටත් අභෙද්‍ය සාධක සේ බොහෝ උගතුන් ප්‍රමාණ කොට ගන්නා අපදාන ගාථාවක් මෙහි ලා නිදසුන් කළ හැක්ක.

අපදානයෙහි:

“අභිධම්මනයඤ්ඤූහං කථාවත්ථුවිසුද්ධියා
සබ්බෙසං විඤ්ඤාපෙත්වාන විහරාමි අනාසවො”

යන්න නිසැකයෙන් මැ කථාවත්ථුප්පකරණය සඳහන් කරතියි ද කථාවත්ථුප්පකරණය සම්පාදිත වූයේ මොග්ගලිපුත්තතිස්ස තෙරුන් විසින් වන බැවින් අපදානය අන්තිම වරට සකස් වූයේ තෘතීයසඞ්ගීතියෙනුත් පසු කාලෙකැ යි ද කියන්නෝ ඇත. පූර්වෝක්ත ගාථායෙහි අරුත් විමසත් හොත් එයින් මොග්ගලිපුත්තතිස්ස තෙරණුවන් විසින් සම්පාදිත කථාවත්ථුප්පකරණය සඳහන් වන බවක් නිසැකයෙන් තබා සැකයෙනුදු ගත නො හෙයි. ඔවුන් ගාථායෙහි එන 'අභිධම්ම' ශබ්දයෙහිත් 'කථාවත්ථු' ශබ්දයෙහිත් මුලා වූ සේ යැ. අට්ඨකථායෙහි එන 'කථාවත්ථුප්පකරණෙ' යන්නෙහි වඩාලා මැ මුලා වන්නට ඇත. ගාථායෙහි අරුය් විමසන ලද නම් නාගාගත් අභෙද්‍යසාධකය ගැන සිතා නැහෙතු ඇත. 'කථාවත්ථු' යනු කථාවත්ථුප්පකරණ (මොග්ගලිපුත්තතිස්ස සම්පාදිත) යයි ගනුත් 'විසුද්ධියා' යන්නට කවර අරුතක් ගනී දැ යි නො දනුම්හ. එයින් 'කථාවත්ථුප්පකරණයෙහි ශොධනයක් අදහස් කෙරේ' යයි නො කිව මැනැවි.

පූර්වෝක්ත ගාථායෙන් මන්තානිපුත්‍ර පූර්ණ තෙරණුවෝ: 'අභිධර්මනය දන්නා මම (දශ) කථාවස්තු විශුද්ධියෙන් හැමදෙනාහට විඥාපන කොට අනාස්‍රව වැ වෙසෙමි'' යි කියති. උන්වහන්සේ දශකථාවස්තුයෙහි ලා සප්ත විශුද්ධීන් ද සප්ත විශුද්ධියෙහි ලා දශකථාවස්තූන් ද දේශනා කරන ධර්මකථික තෙරකෙනකුන් වශයෙන් හැමදෙනා කෙරෙහි ප්‍රකාශයට පත්වූහ. රථවිනීත සූත්‍රයෙහි[1] එය පැහැදිලි ලෙස දක්වෙයි. කථාවස්තුවිශුද්ධිය අට්ඨකථායෙහි[2] විස්තර කොට ඇත. බුදුරදුන් හමුයෙහි ධර්මකථික භික්ෂූන් අතුරෙහි අගතැන් ලද පූර්ණතෙරණුවන්ගේ අපදානයට බුදුන් පිරිනිවි හවුරුදු දෙසියසතිස (236) කට පසු සම්පාදිත ග්‍රන්ථයක් සම්බන්ධ කිරීම සිහි ඇත්තකු විසින්

1. මජ්ඣිමනිකාය 2. පපඤ්චසූදනී, රථවිනීතසුත්තවණ්ණනා - හෙවිමු 2-131 පිටුව

කරනු ඇද්ද? මෙතරම් සුළු කරුණු පවා වරදවා ගතුවන්ගේ යුග බෙදීම් කථා ප්‍රතිෂ්ඨා විරහිත ප්‍රලාප පමණි. තෙවලා බුදුදහමට ඉන් වන හානි නැත ද ආධුනිකයනට නම් මහත් හානි වෙයි. දහම්හි සැක දනවන හෙයිනි.

ප්‍රථමසඞ්ගීතියෙන් පෙර අභිධර්මය නොවී' යයි කියන්නෝ සහෙතුක වැ එය තර කිරීමට නො සමත් වෙති ඔහු මැ විනයපිටකයත් සූත්‍රාන්තපිටකයත් ප්‍රථමසඞ්ගීතියෙහි සඞ්ගීත වූ බව පිළිගනිති විනයෙහි දු සූත්‍රාන්තයෙහි දු නොයෙක් තැන අභිධර්මය ගැන සඳහන් වෙයි. පළමු ද එබඳු කිහිපතැනක් දක්වාලුම්හ. එ ද මෙහි ලා ගන්නේ යැ තවද,

පාචිත්තියපාළියෙහි "අනාපත්ති න විවණ්ණෙතුකාමො, ඉඞ්ඝ තාව ආවුසො සුත්තන්තං වා ගාථායො වා අභිධම්මං වා පරියාපුණස්සු, පච්ඡාපි විනයං පරියාපුණිස්සසීති භණති."[1] යන පාඨයෙහි අභිධර්මය සඳහන් වෙයි. ඕල්ඩන්බර්ග් මහතා සිතන පරිදි 'අභිධම්මං' යනු පසුකාලෙක ඇතුළු කරන ලද්දැයි පිළිගත නො හැකි යැ. ශික්ෂා පැනවීම හෝ වෙනස් කිරීම ශ්‍රාවකවිෂය නො වෙයි. බුද්ධානුබුද්ධකසික්ඛා සමූහනනයට බුදුරදුන්ගෙන් ලද අවසරය ද ප්‍රථමසඞ්ගීතියෙහි දී ප්‍රතික්ෂෙප කරන ලදී. ශ්‍රාවකයන් ශික්ෂා පැනවූ හෝ වෙනස් කළ බවට වෙනත් සාධක ද නො ලැබෙයි

මහාවග්ගපාළියෙහි: "පඤ්චහි භික්ඛවෙ අඞ්ගෙහි සමන්නාගතෙන භික්ඛුනා න උපසම්පාදෙතබ්බං න නිස්සයො දාතබ්බො න සාමණෙරො උපට්ඨාපෙතබ්බො, න පටිබලො හොති අන්තෙවාසිං වා සද්ධිවිහාරිං වා අභිසමාචාරිකාය සික්ඛාය සික්ඛාපෙතුං, ආදිබ්‍රහ්මචරියකාය සික්ඛාය විනෙතුං, අභිධම්මෙ විනෙතුං, අභිවිනයෙ විනෙතුං, උප්පන්නං දිට්ඨිගතං ධම්මතො විවෙචෙතුං."[2] යන පාඨය එයි. මෙහි දැක්වෙන සේ උපසපන් කරන, නිස දෙන, සෙරණුන්ගෙන් උවටැන් ගන්නා ආචාර්යෝපාධ්‍යායයන් කෙරෙහි අවශ්‍යයෙන් තිබියයුතු අඞ්ග අතුරෙහි අන්තෙවාසිකයා හෝ සද්ධිවිහාරිකයා හෝ අභිධර්මයෙහි විනයනය කරන්නට ප්‍රතිබල වීම ද එකෙකි. "අභිධම්මෙති නාමරූපපරිච්ඡෙදෙ" යි අභිධම් යනු නාමරූපපරිච්ඡෙද බව එහි අට්ඨකථායෙහි එයි නාමරූපපරිච්ඡෙද යනු අභිධර්මයෙහි පර්යායනාමයෙකි.

මජ්ඣිමනිකායෙහි: මහාගොසිඞ්ගසූත්‍රයෙහි "ඉධ භික්ඛූ අභිධම්මකථං කථෙන්ති" ආදීන් අභිධර්මය පිළිබඳ සඳහන පළමු දැක්වූම්හ එහි මැ ගුලිස්සානි සූත්‍රයෙහි "ආරඤ්ඤකෙනාවුසො භික්ඛුනා අභිධම්මෙ අභිවිනයෙ යොගො කරණීයො."[3] යන පාඨයෙහි අභිධර්මය දැක්වෙයි. "අභිධම්මෙ අභිවිනයෙති අභිධම්මපිටකෙ චෙව විනයපිටකෙ ච"[4] යි 'අභිධම්ම' යනු අභිධර්මපිටකය බව අර්ථකථායෙහි පැහැදිලි වැ එයි

අඤ්ඤා කොණ්ඩඤ්ඤ තෙරණුවන්ගේ බෑණනුවෝ - මන්තානිපුත්‍ර පූර්ණ තෙරණුවෝ සම්බුදුරදුන් හමුයෙහි ධර්මකථික භික්ෂූන් අතුරෙහි අගතැන් ලදහ අඞ්ගුත්තරනිකායෙහි එතදග්ගපාළියෙහි උන්වහන්සේගේ නම සඳහන් වෙයි මෙහි 'ධම්මකථික' යනු ආභිධම්මිකයා යන අර්ථයෙන් යොදන ලද වෙයි.

1. පාචිත්තියපාළි - විලෙඛන සික්ඛාපද  2 මහාවග්ගපාළි - ජ.මු. 160 පිටුව
3. මජ්ඣිමනිකාය ගුලිස්සානිසුත්ත - ස්‍යා. 2-107 පිටුව
4. පපඤ්චසූදනී ගුලිස්සානිසුත්තවණ්ණනා.

පුණ්ණමන්තාණිපුත්‍රාපදානයෙහි "අභිධම්මනයසමුද්දං" යනුවෙන් තමන් අභිධර්මනයඥ ( අභිධර්මනය දන්නා ) බව තෙරණුවෝ මැ පවසති. එයින් උන්වහන්සේ ධර්මකථික වූහ. "ආභිධම්මිකො එව ධම්මකථිකො" යන අටුවාව සමග ද එය සැසැඳෙයි. මජ්ඣිමනිකායෙහි 'රථවිනීත' සූත්‍රයෙන් එය තවද තහවුරු වෙයි.

මහානිද්දේසයෙහි උද්ධෘතපාඨ දක්වා ඇති අයුරු ද මෙහි දී සලකනු වටී. සුත්තනිපාතයෙහි අට්ඨකවග්ගයට අර්ථ නිර්දේශ කරන පිණිස දහම් සෙනෙවි සැරියුත් තෙරණුවන් විසින් සම්බුදුරදුන් ධරමාන කල්හි මැ මහානිද්දේසය දේශිත යැ. එහි තුන්පිටකයෙහි නොයෙක් තැනින් උද්ධෘත නොයෙක් පාඨ දක්නට ඇත. ඔවුනතුරෙහි ධම්මසඞ්ගණිපාඨ සවිස්ස (26) කට නො අඩු සඞ්ඛ්‍යාවක් ද විභඞ්ගපාඨ සතළොස (17) කට නො අඩු සඞ්ඛ්‍යාවක් ද වෙයි. එහැම මහානිද්දෙස බුද්ධජයන්ති ත්‍රිපිටක මුද්‍රණාඞ්කයෙහි දක්වා ඇත. එහි පාඨනිර්දේශයෙහි ද විශේෂයෙක් වෙයි. සූත්‍රාන්තයෙන් හා විනයෙන් උද්ධෘතපාඨ නිර්දේශ කිරීමේ දී "තෙනාහ භගවා" යනුවෙන් එය බුදුන් වදාළ සේ දක්වති. එහෙත් අභිධර්මපාඨ නිර්දේශයෙහි දී එය වදාළ කෙනකුන් සඳහන් නො කෙරෙති. අභිධර්මයෙහි වාචනාමාර්ග සැරියුත් තෙරණුවන් සතු වීම මැ එසේ සඳහන් නො කිරීමට හේතු වී. "අභිධම්මෙ වාචනාමග්ගො නාම සාරිපුත්තත්ථෙරප්පභවො" යි අත්ථසාලිනී-යෙහි කියන ලදී.[1] මෙසෙයින් බලත් මැ "ප්‍රථමසඞ්ගීතියෙහි පෙර අභිධර්මය නො වී" යනු ප්‍රතිඥා රහිත වැ බිඳ වැටෙන තැනෙකි.

## අභිධර්මය ප්‍රථමසඞ්ගීතියෙහි සඞ්ගීත නො වී ද?

ප්‍රථමසඞ්ගීතියට පෙර අභිධර්මය පැවැති බවට කරුණු පළමු දැක්වූම්හ. එයින් එය සඞ්ගීතියෙහි ඇතුළු නො වන්නට කිසි කරුණෙක් නැත. පඤ්චසතිකක්ඛන්ධකයෙහි "හන්ද මයං ආවුසො ධම්මඤ්ච විනයඤ්ච සඞ්ගායාම"[2] යන තන්හි ධම්මවිනය මිස අභිධර්මය වෙන් කොට නො දැක්වීම ප්‍රථමසඞ්ගීතියෙහි අභිධර්මය සඞ්ගීත නො වී යයි කීමට එක් හේතුවක් ලෙස ගන්නා බව පෙනේ. පඤ්චසතිකක්ඛන්ධකය ප්‍රථමසඞ්ගීතිය පිළිබඳ සංක්ෂිප්ත වාර්තාවක් පමණි. එහි අභිධර්මය පමණක් නො වැ අභිවිනය ගැන ද සඳහනෙක් නැත. 'ධම්මවිනය' යනු ත්‍රිපිටකයෙහි නොයෙක් විභාගක්‍රමයන් අතුරෙහි එක් ක්‍රමයෙකි. ධම්මවිනය ගත්කල්හි තෙපිළ බුදුවදන් එහි ඇතුළු වැ සිටී. සූත්‍රාන්තයෙන් වෙන් කොට දැක්වූවමනා තන්හි මිස අන් තන්හි 'අභිධම්ම' යයි වෙසෙසා කිවයුතු නො වෙයි. සූත්‍රාන්ත අභිධම්ම දෙක්හි මැ සාමාන්‍ය සංඥාව 'ධම්ම' හෙයිනි.

'ධම්ම ශබ්දයෙහි අභිධම්මය සඞ්ග්‍රහ නො වෙති'යි ගනුත් 'විනය' ශබ්දයෙහි අභිවිනය ද සඞ්ග්‍රහ නොවෙති'යි ගත යුතු වෙයි. එවිට ඛන්ධක හා පරිවාර හා මේ දෙක ද ප්‍රථම සඞ්ගීතියෙන් බැහැර කරන්නට සිදු වෙයි. පරිවාරය තිබියේවා, ආභිසමාචාරික ශික්ෂා සඞ්ග්‍රහය වූ චුල්ලවග්ග මහාවග්ග සඞ්ඛ්‍යාත ඛන්ධකය ප්‍රථම සඞ්ගීතියෙහි සඞ්ගීත නො වී යයි කීයේ ද? ඛන්ධකශික්ෂා විභඞ්ගශික්ෂාවන්ට පළමු පනවන ලද වෙයි. එහෙත් එය අවශ්‍යයෙන් සඞ්ගීත විය යුතු බව පිළිගත යුතු යැ. වෙසෙසා නො දැක්වූ අභිවිනය 'විනය' ශබ්දයෙහි මැ ඇතුළු වැ සිටියේ යි 'විනය' ශබ්දයෙහි අභිවිනය සඞ්ග්‍රහ වන්නා සේ 'ධම්ම' ශබ්දයෙහි 'අභිධම්ම' ද සඞ්ග්‍රහ වෙයි. එයින් පඤ්චසතිකක්ඛන්ධකයෙහි අභිධම්මය වෙසෙසා නො දැක්වීම ප්‍රථම සඞ්ගීතියෙහි අභිධර්මය සඞ්ගීත නො වී යයි කීමට කරුණෙක් නො වේ.

---

අත්ථසාලිනී - නිදානකථා 14 පිටුව   2. චුල්ලවග්ගපාළි - 369 පිටුව

ප්‍රථමසඞ්ගීතියෙහි දී අභිධම්මපිටකය පැවැරුණු පුද්ගලයකු සඳහන් නොවීම ද එය එහි සඞ්ගීත නො වී යයි කීමට ගන්නා තවත් හේතුවක් බව පෙනේ. සඞ්ගීතිකාරක මහරහතුන් වහන්සේ විනයපිටකය උපාලි තෙරණුවනටත් දීඝනිකාය අනඳතෙරණුවනටත් මජ්ඣිමනිකාය සැරියුත්තෙරණුවන්ගේ අතැවැසියනටත් සංයුත්තනිකාය මහසුප් තෙරණුවනටත් අඞ්ගුත්තරනිකාය අනුරුද්ධ තෙරණුවනටත් පැවැරූ බව සුමඞ්ගලවිලාසිනී දීඝනිකායට්ඨකථායෙහි[1] දක්වෙයි. අභිධම්මපිටකය පැවැරුණු වෙන මැ පුද්ගලයකු සඳහන් නො වෙයි. එහෙත් අභිධර්මය සඞ්ගීතියට නඟා පන්සියක් මහරහතුන් වහන්සේ සජ්ඣායනා කළ බව ''පඤ්චඅරහන්තසතානි සජ්ඣායමකංසු''[2]යි එහි මැ දක්වෙයි. අත්ථසාලිනී-ධම්මසඞ්ගණී අට්ඨකථායෙහි සැරියුත් මහරහතුන් වහන්සේ පටන් අභිධම්පිටකය පවත්වා ගෙන ආ ඇදුරුපරපුර තෘතීයසඞ්ගීතිය හිමි කොට නම් වශයෙන් දක්වා ඇත.[3]

ප්‍රථමසඞ්ගීතියෙහි සඞ්ගීත වූ අභිධම්පිටකය පවත්වාගෙන ඊමේ භාරය කිසි පුද්ගලයකුට නො පැවරීමට ද හේතුවක් විය යුතු යැ. අභිධම්පිටකය පමණක් නො වැ සූත්‍රාන්තයෙහි ඛුද්දකනිකාය භාරය පැවැරුණු කෙනකු ද සඳහන් නො වෙයි. නිකාය පස මැ සඞ්ගීතියට නැඟූ බව පඤ්චසතිකක්ඛන්ධකයෙහි දක්වෙයි[4] අභිධම්පිටකයත් ඛුද්දකනිකායත් එහි දී කිසිවකුට භාර නො කිරීමට හේතු කිම?

ප්‍රථමසඞ්ගීතියෙහි දී පුද්ගලයකුට නොපවරනලද බොහෝ දහම් කොටස් බුදුරදුන් හමුයෙහි මැ සඞ්ගෘහීත වැ වෙන වෙන මැ හදාරාගෙන ආ බවට නිදසුන් ත්‍රිපිටකයෙහි මැ ඇත. බුද්ධත්වයෙන් සත්වැනි වසැ දම්සෙනෙවි සැරියුත් මහරහතුන් වහන්සේ අභිධර්ම වාචනාමාර්ගයට නඟා උන්වහන්සේගේ පන්සියක් අතැවැසියනට හැදෑරවූහ.[3] ඛුද්දකනිකායෙහි ඇතුළු වැ සිටුනා නිද්දෙස හා පටිසම්භිදාමග්ග හා මෙදෙක ද සැරියුත් තෙරණුවන්ගේ මැ දෙශනා යි. එ ද උන්වහන්සේගේ අතැවැසියන් කෙරෙහි පවත්නට ඇත. සොණකුටිකණ්ණ තෙරණුවන් මහකසයින් තෙරණුවන් වෙත සුත්තනිපාතය හදාළ බව සොණ තෙරුන්ගේ වතෙහි එයි. ධම්මපදය එකල වෙන මැ ධම්සඞ්ග්‍රහයක් සේ හදාළ බව පෙනේ. V කසුප් රජ ද එබව් ධම්පියාඅටුවාගැටපදයෙහි: ''බුදුන් සඳහු මෙතියර දෙශනා ධම්මපද නම් යි වෙන් කොට හජාරනා බැවින්''[5] යි සඳහන් කරයි. ථේරගාථා ආදී අන් තන්හිදු ධම්මපද ගාථා දක්නා ලැබෙනුයේ එය වෙන මැ ධම්සඞ්ග්‍රහයක් වශයෙන් පර්‍යාපාඨයෙහි පැවැති නිසා යයි සැලකිය යුතු යැ. ආරම්භයෙහි පටන් බුද්ධචරිතය හා සමග ජාතකදෙශනා සම්බන්ධ වැ පවතී. ශාස්තෘශාසනාඞ්ග අතුරෙහි ජාතක ද එකෙකි. පසුකලෙක ජාතකභාණක නමින් වෙන මැ දෙශකගණයෙක් ද හමුවෙයි. සාඤ්චිස්තූප ආදියෙහි දක්නා පැරැණි සෙල් කැටයම් භාරතීය ජනයා ජාතක කථා කෙරෙහි දැක්වූ සැලකිල්ලට දෙස් දෙයි. සම්බුද්ධපරිනිර්වාණයෙන් පළමු මැ ජාතකදෙශනාත් වෙන මැ සඞ්ගෘහීත වැ පැවැති බව දතයුතු යැ

මෙසෙයින් බලන් මැ ප්‍රථමසඞ්ගීතියෙහි දී පුද්ගලයකට නො පැවැරූ ධම්සඞ්ග්‍රහයන් අතුරෙහි වැඩි කොටසක් සම්බුද්ධපරිනිර්වාණයෙන් පළමු මැ සඞ්ගෘහීත වැ යම් යම් පුද්ගලයන් භාරයේ පැවැති බව පිළිගැනීමට කරුණු

---

1 සුමඞ්ගලවිලාසිනී - ස සං 11 පිටුව  2. සුමඞ්ගලවිලාසිනී - ස සං 11 පිටුව.

3. අත්ථසාලිනී - නිදානකථා.  4 චුල්ලවග්ගපාළි - පඤ්චසතිකක්ඛන්ධක, සැ.ස. 371 පිටුව.

5. ධම්පියා අටුවා ගැටපද - ඩී. බී. ජයතිලක, 19 පිටුව

ඇත. පුද්ගලයනට පවරන ලද දීඝනිකායාදි නිකාය සතර සඞ්ගීතියට පළමු සඞ්ගෘහීත වැ පැවැති බවක් හෝ පුද්ගලයනට පැවැරී තුබුණු බවක් හෝ නො පෙනේ. විනයෙහි උද්දෙසපරියාපන්න ශික්‍ෂා හැර සෙස්ස සඞ්ගෘහීත වැ තුබුණු බවට ද කරුණු නො පෙනේ. ප්‍රථම සඞ්ගීතියෙහි දී ශික්‍ෂා පිළිවෙළින් සූත්‍ර පිළිවෙළින් ගෙන සඞ්ග්‍රහ කරන ලද්දේත් සඞ්ගීති අවසන්හි පුද්ගලයනට පවරන ලද්දේත් එයට පෙර සඞ්ගෘහීත නො වූත් පුද්ගලයනට නො පවරන ලද්දවූත් ධම්මවිනය යයි සිතියයුතු යැ. සම්බුදුරදුන් හමුයෙහි නයග්‍රහණය කොට වාචනාමාර්ගයට නඟන ලදු වැ සැරියුත් තෙරණුවන්ගේ අතවැසියන් අත පැවැති අභිධම්මපිටකය අන් කිසිවකුට පැවැරිය යුතු නො වේ. එහෙත් ථෙරානුමති සඳහා සඞ්ගීතියට නඟන ලද්දේ යැ. අට්ඨකථායෙහි සඞ්ගායනා කළ බව පමණක් දක්වා පැවැරූ පුද්ගලයන් සඳහන් නො කිරීමට හේතු වූයේ මේ කරුණ යැයි දතයුතු යි.

ද්විතීයසඞ්ගීතියෙහි දී සස්නෙන් බැහැර කරන ලද වජ්ජිභික්‍ෂූන් විසින් පිහිටුවා ගන්නා ලද මහාසඞ්ඝික නිකායවාසීන් අභිධම්මප්‍රකරණ සය නො පිළිගත් බව දීපවංසයෙහි දැක්වෙයි. එයින් එද ස්ථවිරභික්‍ෂූන් කෙරෙහි අභිධම්මප්‍රකරණ සය තුබුණු බව කියැවෙයි, ද්විතීයසඞ්ගීතියට රැස් වූ තෙරවරුන් අතුරෙහි අට නමක් බුදුරදුන්ගේ සම්මුඛශ්‍රාවකයෝ යි. සඞ්ඝස්ථවිර-සබ්බකාමී මහරහතුන් වහන්සේ උපසපන් එක්සියවිසිවස් ඇති වූහ. එවිට යටත් පිරිසෙයින් උන්වහන්සේ ජනමයෙන් එක්සියසාළිස් (140) වස් පිරී සිටියයුතු යැ. බුදුන් පිරිනිවි සියක් වන හවුරුද්දෙහි සඞ්ගායනාව කරන ලද බැවින් සබ්බකාමීතෙරණුවනට බුදුන් ප්‍රත්‍යක්‍ෂයෙහි සතළිස් වසක් ගෙවී ඇත. උන්වහන්සේ ධම්මභාණ්ඩාගාරික ආනන්ද තෙරණුවන්ගේ සද්ධිවිහාරික වෙති. ප්‍රථමසඞ්ගීති පවත් මැනැවින් දැන සිටියහ. අභිධම්මපිටකය ප්‍රථම සඞ්ගීතියෙහි සඞ්ගීත නො වී නම් ද්විතීය සඞ්ගීතියට නො ගනු ඇත.

## ධම්මසඞ්ගණී සංක්‍ෂෙප

සප්තප්‍රකරණයන් අතුරෙහි පළමු වැන්න ධම්මසඞ්ගණිප්පකරණ නම්. 'ධම්මසඞ්ගණී' යනු ධර්මසඞ්ග්‍රහ යන අර්ථ ඇත්තේ යි. සුමඞ්ගලවිලාසිනියෙහි එය 'ධම්මසඞ්ගහ' යි නම් කොට ඇත.[1] මෙහිලා වේදනා, සංඥා, සංස්කාර, විඥාන සඞ්ඛ්‍යාත චතුර්විධ නාමස්කන්ධපර්‍යාපන්න වූ චිත්තාඞ්ග විසින් පෙළෙහි ආ ස්පර්ශාදි සපනස් (56) ධර්මයෝ යැ පෙළෙහි නො එතුදු යෙවාපනක විසින් ගන්නාලද ඡන්දාදි නවධර්මයෝ යැයි පන්සැටක් (65) පමණ වූ නාමධර්මයෝ ද චතුර්විධභූතරූප යැ තෙවිසි උපාදායරූප යැයි සත්විසි වැදෑරුම් වූ භූතොපාදායරූපයෝ ද යන නාමරූපධර්මයෝ සඞ්ගෘහීත වෙති.

ධම්මසඞ්ගණිප්පකරණයෙහි චිත්තවිභක්ති යැ රූපවිභක්ති යැ නික්ෂෙපරාශි යැ අත්ථොද්ධාර යැ යි විභක්ති (විභාග) සතරකි. සතර භූමියෙහි වූ එකුන් අනූ චිත්තයන්ගේ විභාගය චිත්තවිභක්ති නමු. චිත්තොත්පාදකාණ්ඩ යනුදු එයට නමි. එ ද මාතෘකා පදභාජනීය විසින් ද්විවිධ වෙයි.

**මාතෘකා**: අභිධම්මමාතෘකා යැ සූත්‍රාන්තමාතෘකා යැ යි මාතෘකා ද්විවිධ යි.
එහි පරිච්ඡෙද පසළොසෙකි. කුශලත්‍රිකාදි විසින් ආරබ්ධ දෙවිසි ත්‍රිකමාතෘකා එක් පරිච්ඡෙදයෙකි. ද්විකමාතෘකා තුදුසෙකි. එහි 'හෙතු ධම්මා න හෙතු ධම්මා' ආදි ද්වික සයෙක් ග්‍රන්ථ විසින් ද අර්ථ විසින් ද අන්‍යොන්‍ය

1. සුමඞ්ගලවිලාසිනී - සසං. 12 පිටුව.

සම්බන්ධ බැවින් කලාප සෙයින් සිටියේ 'හෙතුගොච්ඡක' යයි කියනු ලැබෙයි. ඉක්බිති 'සප්පච්චයා ධම්මා අප්පච්චයා ධම්මා' ආදී අන්‍යොන්‍ය සම්බන්ධ නො වූ ද්වික සතෙක් ද්වික සාමාන්‍යයෙන් ගෙන වෙන් වෙන් වැ ගොච්ඡක අතුරෙහි තබන ලද වන බැවින් ද මහන්තර ද්විකයට වඩා කුඩා වූ බැවින් ද 'චූලන්තර ද්වික' නම් වෙයි. අනතුරු වැ ආස්‍රව, සංයොජන, ග්‍රන්ථ, ඔඝ, යොග, නීවරණ, පරාමර්ශ යන එකෙකි ගොච්ඡකයෙහි ද්වික සය බැගින් කියන ලද වෙයි. ඉක්බිති 'සාරම්මණා ධම්මා' ආදීන් ආරබ්ධ තුදුස් ද්විකයෙක් 'මහන්තරද්වික' නම් වෙයි. තදනන්තර වැ 'උපාදානා ධම්මා' ආදී ද්වික සයෙක් 'උපාදානගොච්ඡක' නමුදු 'කිලෙසා ධම්මා' ආදී ද්වික අටෙක් 'කිලෙස-ගොච්ඡක' නමුදු වෙයි. ඉක්බිති 'දස්සනෙන පහාතබ්බා' ආදී අටළොස් ද්විකයෙක් අභිධම්මමාතෘකා අවසන්හි ස්ථාපිත වන බැවින් පිට්ඨිදුක නම් වෙයි. 'විජ්ජාභාගිනො ධම්මා' ආදී දෙසාළිස් ද්විකයන්ගේ සඞ්ග්‍රහය සූත්‍රාන්තමාතෘකා නමු. මෙසේ චිත්තවිභක්තිමාතෘකා පසළොස් පරිච්ඡේද-යෙකින් සමන්‍ාගත වේ.

සප්‍රදෙශ නිෂ්ප්‍රදෙශ වියිනුදු මාතෘකා ද්විවිධ වෙයි. උද්දිෂ්ටධර්මයන් අතුරෙහි ත්‍රික නවයෙක් ද ද්වික එක්සැත්තෑවෙක් දූ යි අශීතිධර්ම කෙනෙක් සප්‍රදෙශ රූපාරූපධර්මයන් ගන්නා ලද බැවින් සප්‍රදෙශ වෙති. ත්‍රිකයන් අතුරෙහි: වෙදනා ත්‍රික යැ විතර්කත්‍රික යැ ප්‍රීතිත්‍රික යැ උත්පන්නත්‍රික යැ අතීතත්‍රික යැ ආලම්බනත්‍රික සතර යැ යන නවත්‍රිකයෝ සප්‍රදෙශයෝ යි. ද්විකධර්මයන් අතුරෙහි හෙතුගොච්ඡකය පටන් උපාදානගොච්ඡකය හිමි කොට ඇති නව ගොච්ඡකයෙහි අවසන් තුන් තුන් ද්වික විසින් සත්විසි ද්විකයෝ යැ කෙලශගොච්ඡකයෙහි අවසන් සතර ද්විකයෝ යැ ''චිත්තවිප්ප-යුත්තා ධම්මා චිත්තසම්පයුත්තා ධම්මා, චිත්තසංසට්ඨා ධම්මා චිත්තවිසංසට්ඨා ධම්මා'' යන මහන්තර ද්වික දෙක යැ, දෙසාලිස් සූත්‍රාන්ත ද්විකයන් අතුරෙහි අධිවචන, ප්‍රඥප්ති, නිරුක්ති, නාමරූප යන මේ සතර ද්විකයන් තබා අටතිස් ද්විකයෝ යැ යන මොහු සප්‍රදෙශ වෙති. අවශෙෂධර්මයෝ නිෂ්ප්‍රදෙශ වෙත්.

පදභාජනීය: මාතෘකාවට අනතුරු වැ මාතෘකායෙහි සඞ්ගෘහීත ධර්මයන් ප්‍රභෙද විසින් දක්වන්නට පදභාජනීය එයි. පදභාජනී නිර්දෙශයෙහි ධම්මවවත්ථානවාර යැ සඞ්ගහවාර යැ සුඤ්ඤතවාර යැ යි තුන් මහාවාරයෙක් වෙයි. ධම්මවවත්ථානවාරය උද්දෙස නිද්දෙස විසින් ද්විවිධ යැ. උද්දෙසයෙහි පුච්ඡා යැ සමයනිද්දෙස යැ ධම්මුද්දෙස යැ අප්පණා යැ යි පරිච්ඡේද සතරෙකි. එහි ''කතමෙ ධම්මා කුසලා'' යනු පුච්ඡා යැ ''යස්මිං සමයෙ කාමාවචරං – පෙ– තස්මිං සමයෙ'' යනු සමයනිද්දෙස යැ, ''ඵස්සො හොති –පෙ– අවික්ඛෙපො හොති'' යනු ධම්මුද්දෙස යැ. ''යෙ වා පන තස්මිං සමයෙ අඤ්ඤෙපි අත්ථි පටිච්චසමුප්පන්නා අරූපිනො ධම්මා, ඉමෙ ධම්මා කුසලා'' යනු අප්පණා යි.

උද්දෙශයට අනතුරු වැ නිර්දෙශය එයි. එ ද උද්දෙශ සෙයින් මැ පුච්ඡා යැ සමයනිද්දෙස යැ ධම්මනිද්දෙස යැ අප්පණා යැයි පරිච්ඡේද සතරෙකින් යුක්ත වෙයි. මෙහි දී උද්දිෂ්ට පරොපණ්ණාස ධර්මයන් එකක් එකක් ගෙන විභාග කෙරෙති. එහි තුන් කරුණෙකින් විභාගය ද සතර කරුණෙකින් සාමාන්‍යය ද දෙතැනක අපර දීපනා ද වෙයි.

**විභංගය** වනාහි ව්‍යඤ්ජන යැ උපසර්ග යැ අර්ථ යැ යන තුන් කරුණින් වෙයි. "කොධො කුජ්ඣනා කුජ්ඣිතත්තං" ආදි තන්හි ව්‍යඤ්ජන විසිනුදු "චාරො විචාරො අනුවිචාරො උපවිචාරො" ආදි තන්හි උපසර්ග විසිනුදු 'පණ්ඩිච්චං කොසල්ලං නෙපුඤ්ඤං වෙභව්‍යා චින්තා උපපරික්ඛා" ආදි තන්හි අර්ථ විසිනුදු විභක්ත වෙයි.

**නානාත්වය** නාම යැ ලක්ෂණ යැ කෘත්‍ය යැ ප්‍රතික්ෂෙප යැ යන සතර සැටියෙන් වෙයි. එහි "කතමො තස්මිං සමයෙ බ්‍යාපාදො හොති යො තස්මිං සමයෙ දොසො දුස්සනා" යන මෙහි 'ව්‍යාපාද' යනුත් 'දෙස' යනුත් ක්‍රොධ මැ යි. වෙනස නමින් පමණි. මෙසෙයින් "නාමනානාත්වය" දතයුතු යැ. රාශ්‍යර්ථයෙන් ගනුත් රූප වෙදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ යන පඤ්චස්කන්ධයෝ මැ එක් මැ ස්කන්ධ වෙයි. එතෙකුදු වත් රූප රුප්පන ලක්ෂණ ද වෙදනා වෙදයිත ලක්ෂණ ද සඤ්ඤා සඤ්ජානන ලක්ෂණ ද චෙතනා චෙතයිත ලක්ෂණ ද විඤ්ඤාණ විජානන ලක්ෂණ දැ යි ලක්ෂණ විසින් වෙනසි. මේ '**ලක්ෂණනානාත්ව**' යි. "චත්තාරො සම්මප්පධානා: ඉධ භික්ඛු අනුප්පන්නානං පාපකානං අකුසලානං ධම්මානං අනුප්පාදාය -පෙ- චිත්තං පග්ගණ්හාති පදහති" යන මෙහි එක් මැ වීර්‍ය්‍ය කෘත්‍ය විසින් සතර තැනෙක ආයේ යි. මේ **කෘත්‍යනානාත්ව** යි. චත්තාරො අසද්ධම්මා: කොධගරුතා න සද්ධම්මගරුතා, මක්ඛගරුතා න සද්ධම්මගරුතා, ලාභගරුතා න සද්ධම්මගරුතා, සක්කාරගරුතා න සද්ධම්මගරුතා යන මෙහි **ප්‍රතික්ෂෙප** විසින් නානාත්වය වෙයි.

**අක්ෂරදීපනා** යනු පුනපුනා කීම යි. එය පදසෞව විසින් හෝ දෘඪීකරණ විසින් හෝ කරනු ලැබෙයි. "එසෙසා ඵුසනා සම්ඵුසනා සම්ඵුසිතත්තං" ආදි තන්හි සෙයින් ව්‍යඤ්ජන වශයෙන් හෝ උපසර්ග වශයෙන් හෝ අර්ථ වශයෙන් හෝ කරන පුනරුක්තිය **පදසෞව** නම. "ආවුසො ආවුසො, භන්තෙ භන්තෙ" ආදි විසින් අරුත් දැඩි කරන පිණිස තබන පුනරුක්තිය **දෘඪීකරණ** නම්.

ධම්මවවත්ථානවාරයට අනතුරු වැ "තස්මිං ඛො පන සමයෙ චත්තාරො ඛන්ධා හොන්ති" ආදීන් **සඞ්ග්‍රහවාරය** එයි: එය උද්දෙස යැ නිද්දෙස යැ **පටිනිද්දෙස** යැ යි ත්‍රිවිධ වෙයි. "තස්මිං ඛො පන සමයෙ චත්තාරො ඛන්ධා හොන්ති" යනු උද්දෙස යි. "කතමෙ තස්මිං සමයෙ චත්තාරො ඛන්ධා හොන්ති" ආදිය නිද්දෙස යි. "කතමො තස්මිං සමයෙ වෙදනාක්ඛන්ධො" ආදිය පටිනිද්දෙස යි. **කොට්ඨාසවාර** යනුදු මෙයට නමෙකි.

ඉක්බිති "තස්මිං ඛොපන සමයෙ ධම්මා හොන්ති" ආදීන් **සුඤ්ඤතවාරය** එයි. එද උද්දෙස නිද්දෙස විසින් ද්විවිධ යැ. එහි "ධම්මා හොන්ති" ආදි සූවිසි උද්දෙසයෙක් ඇත. උද්දෙසයට අනතුරු වැ එකෙකි උද්දිෂ්ටධර්මයක් නිර්දෙශ කරනලද වෙයි. විතණ්ඩක විසින් උපදනා පරොපණ්ණාස ධර්මයන් සත්ත්ව පුද්ගලාදි භාව ශූන්‍ය වැ ධර්මමාත්‍රාදි බැවින් කියන ලද හෙයින් මේ ශූන්‍යතවාර නම් වෙයි.

මෙතෙකින් දක්වන ලද්දේ ප්‍රථම මහාකුශල චිත්තයෙහි ධර්මසඞ්ග්‍රහ වන අයුරු යැ. සෙසු චිත්තයෙහි දු මේ නයින් මැ යථායොග සෙයින් ධර්මසඞ්ග්‍රහ වන සේ දතයුතු.

ූමිභෙදයෙන් චිත්තය චතුර්විධ වෙයි. කාමාවචර, රූපාවචර, අරූපාවචර, ලොකුත්තර විසිනි. එහි කාමාවචරය කුශල, අකුශල, විපාක, ක්‍රියා විසින් චතුර්විධ යැ. රූපාරූප චිත්තයෝ කුශල, විපාක, ක්‍රියා විසින් ත්‍රිවිධ වෙති. ලොකුත්තර ක්‍රියා චිත්තයෙක් නැත. ප්‍රභෙද විසින් කාමාවචරයෙහි කුශල අටෙක, අකුශල දොළොසෙක, කුශලවිපාක සොළොසෙක, අකුශලවිපාක සතෙක, ක්‍රියා එකොළොසෙකි. රූපාවචරයෙහි කුශල පසෙක, විපාක පසෙක, ක්‍රියා පසෙකි අරූපාවචරයෙහි කුශල සතරෙක, විපාක සතරෙක, ක්‍රියා සතරෙකි. ලොකුත්තරයෙහි කුශල (මාර්ග) සතරෙක, විපාක (ඵල) සතරෙකි. මෙහැම සිත් එකුන් අනූවෙකි.

අකුශල චිත්තය ලොභමූල, දෙසමූල, මොහමූල විසින් ත්‍රිවිධ යැ. එහි ලොභමූලය දිට්ඨි, මාන, සංඛාර විසින් ප්‍රභෙද වෙයි. කාමාවචර සහෙතුක කුශල විපාක ක්‍රියාවෝ වෙදනා, ඤාණ, සංඛාර විසින් ප්‍රභෙද වෙයි. රූපාවචරකුශල විපාක ක්‍රියාවෝ ධ්‍යානාඞ්ග විසින් ප්‍රභෙද වෙති. ලොකුත්තරචිත්තය පඤ්ච ධ්‍යානාඞ්ග විසිනුදු සතර ප්‍රතිපදා විසිනුදු තුන් විමොක්ෂ විසිනුදු විසි මහනය විසිනුදු විභාග කරන ලද වෙයි.

කුශල අකුශල අව්‍යාකෘත විසිනුදු චිත්තය ත්‍රිවිධ වෙයි. කුශලාකුශලයෝ ප්‍රසිද්ධයහ: මෙහි අව්‍යාකෘත යනු විපාක ක්‍රියාවනට නමෙකි. චිත්තුප්පාද කාණ්ඩය වාචනාමාර්ගයෙහි අා පමණින් සාතිරෙක බණවර සයෙකි.

**රූපවිභක්ති:** චිත්තවිභක්තියට අනතුරු වැ රූපවිභක්තිය එයි. 'රූපකාණ්ඩ' යනුදු එයට නමෙකි. එද උද්දෙස නිද්දෙස විසින් ද්විවිධ යැ. උද්දෙසයෙහි එකවිධරූප පටන් එකාදශවිධරූප තෙක් රූපධර්මයන් සඞ්ග්‍රහ කොට එකක දුක ආදි විසින් මාතෘකා තබන ලදි. එකකසඞ්ග්‍රහයෙහි ලා තෙසාළිස් පද කෙනෙක් උද්දිෂ්ටයහ. ඔවුනතුරෙහි පශ්චිමපදත්‍රය මාතෘකාමුක්ත වෙයි. සෙසු සාළිස් පදයෝ මාතෘකාගතයෝ යි.

ද්විතීයසඞ්ග්‍රහයෙහි ද්වික රූප එක්සිය සතරෙකි. ඔවුනතුරෙහි අන්‍යොන්‍ය අසම්බන්ධ ද්විකරූප තුදුසක් ගෙන 'ප්‍රකීර්ණකද්වික' නමින් ආදියෙහි තබන ලද යැ. ඉක්බිති වස්තු අවස්තු විමසනුවට පැවැති පස්විසි ද්විකයක් ගෙන 'වස්තුද්වික' නමින් ද ආලම්බන අනාලම්බන විමසනුවට පැවැති පස්විසි ද්විකයක් ගෙන 'ආලම්බනද්වික' නමින් ද ආයතන අනායතන විමසනුවට පැවැති දස ද්විකයක් ගෙන 'ආයතනද්වික' නමින් ද ධාතු අධාතු විමසනුවට පැවැති දස ද්විකයක් ගෙන 'ධාතුද්වික' නමින් ද ඉන්ද්‍රිය අනින්ද්‍රිය විමසනුවට පැවැති අට ද්විකයක් ගෙන 'ඉන්ද්‍රියද්වික' නමින් ද සූක්ෂමාසූක්ෂමරූප විමසනුවට පැවැති දොළොස් ද්විකයක් ගෙන 'සූක්ෂමරූපද්වික' නමින් ද තබන ලද වෙති.

තෘතීයසඞ්ග්‍රහයෙහි එක්සිය තුනක් ත්‍රිකරූපයෝ වෙති. ඔහු ප්‍රකීර්ණකද්වික සඞ්ග්‍රහයෙහි කියන ලද ආධ්‍යාත්මිකද්විකය ගෙන සෙසු ද්විකරූපයන් හා සමග යොගයෙන් සඞ්ග්‍රහ කරන ලද්දහු ය. එහි අධ්‍යාත්මිකද්විකය සෙසු ප්‍රකීර්ණකද්වික තෙළෙස හා සමග යෙදීමෙන් තෙළෙස් ප්‍රකීර්ණකත්‍රිකයෝ කියන ලදහ. මෙසෙයින් මැ වස්තු, ආලම්බන, ආයතන, ධාතු, ඉන්ද්‍රිය, සූක්ෂමරූප යන ද්විකරූපයන් ද වෙන වෙන ගෙන ඔවුන් හා සමග ආධ්‍යාත්මිකද්විකය යෙදීමෙන් පස්විසි වස්තුත්‍රිකයෝ යැ පස්විසි ආලම්බනත්‍රිකයෝ යැ දස ආයතනත්‍රිකයෝ යැ දස ධාතුත්‍රිකයෝ යැ අෂ්ට ඉන්ද්‍රියත්‍රිකයෝ යැ, ද්වාදශ සූක්ෂමරූපත්‍රිකයෝ යැ යන එක්සිය තුනක් ප්‍රභෙද වූ ත්‍රිකරූපසඞ්ග්‍රහය දක්වන ලද වෙයි.

චතුත්ථසඞ්ග්‍රහයෙහි දෙවිසි චතුෂ්කයෙක් එයි. එ ද ප්‍රකීර්ණකද්විකරූපයන්ගේ යොගයෙන් මැ සඞ්ග්‍රහ කරන ලද්දේ යැ. ප්‍රකීර්ණකද්විකසඞ්ග්‍රහයෙහි ආදි තුන් ද්විකයෙහි එකෙකි ද්විකයක් ගෙන පස් පස් ද්විකයන් හා සමග යොගයෙන් ආදියෙහි පසළොස් චතුෂ්කයෙක් තබන ලද යැ. ඉක්බිති පච්සද්විකය ගෙන ඉන්ද්‍රිය, මහාභූත ද්විකයන් හා යොගයෙන් චතුෂ්ක දෙකක් ද ඉන්ද්‍රියද්විකය ගෙන ඕළාරික, දූර ද්විකයන් හා යොගයෙන් චතුෂ්ක දෙකක් ද මහාභූතද්විකය ගෙන ඕළාරික දූර ද්විකයන් හා යොගයෙන් චතුෂ්ක දෙකක් දැයි චතුෂ්ක සයෙක් සඞ්ග්‍රහ කරන ලද යැ. අවසන්හි දිට්ඨ, සුත, මුත, විඤ්ඤාත චතුෂ්කය හා සමග චතුෂ්ක දෙවිස්සෙක් වෙයි.

තදනන්තර වැ පඤ්චකයෙහි පටන් එකාදශක සඞ්ග්‍රහය තෙක් අමිශ්‍ර වැ එයි. උද්දෙසයට ඉක්බිති නිද්දෙසයෙහි ලා උද්දිෂ්ටරූප එකක් පාසා විභාග කොට දක්වනු ලැබේ. රූපවිභක්තිය වාචනාමාර්ගයෙහි ආ පමණින් සාතිරෙක දෙබණවරෙක් වෙයි. මෙතෙකින් මාතෘකායෙහි ‘‘කුසලා ධම්මා, අකුශලා ධම්මා, අව්‍යාකතා ධම්මා’යි කියන ලද කුශලත්‍රිකය විභාග කරන ලද වෙයි. සෙසු ත්‍රිකද්වික ධර්මයන්ගේ විභාගය ද මෙනයිනි. විභාග කරත හොත් ඒ ඉතා මහත් වන බැවින් එය තබා නයාන්තරයෙකින් උන්ගේ විභාග කරනුවට රූපවිභක්තියට අනතුරු වැ නික්ෂෙපරාශි ආරබ්ධ යි.

**නික්ෂෙපරාශි**: නික්ෂෙපකාණ්ඩ යනුදු නික්ෂෙපරාශියට නමෙකි. ඒ වනාහි මාතෘකායෙහි ආ ත්‍රික ද්වික ධර්මයන් ගෙන නයාන්තරයෙකින් කෙරෙන විභාගයෙකි. මූල විසින් ස්කන්ධ විසින් ද්වාර විසින් භූමි විසින් අර්ථ විසින් ධර්ම විසින් නාම විසින් ලිඞ්ග විසින් නික්ෂෙප කොට(බහාලා) දෙසන ලද බැවින් මේ නික්ෂෙපරාශි නම් වෙයි. කුශලත්‍රිකය සෙයින් විභාග කරත් මැ ඉතා මහත් වන බැවින් විස්තර විභාගය නික්ෂිප්ත කොට (තබා) නයාන්තරයෙකින් විභාග කරන ලද වන බැවින් නික්ෂෙපරාශි නම් වෙතී ද යෙති. වාචනාමාර්ගයෙහි ආ පමණින් නික්ෂෙපකාණ්ඩය බණවර තුනෙකි.

**අර්ථකථාකාණ්ඩ**: නික්ෂෙපකාණ්ඩයට අනතුරු වැ ධර්මයෙහි අත්ථොද්ධාර විසින් කළ දෙශනාව අර්ථකථාකාණ්ඩ නම් වෙයි. ‘අත්ථුද්ධාර’ යනුදු මෙයට මැ නමෙකි. ‘කුශලත්‍රිකය’ පටන් ‘සරණද්විකය’ හිම් කොට මාතෘකායෙහි ආ සියලු ත්‍රික ද්වික ධර්මයන් ගේ අර්ථ උද්ධරණ කොට මෙහි තබන ලද යැ. අර්ථකථාකාණ්ඩය දම්සෙනෙවි සැරියුත් තෙරණුවන් විසින් දෙශිත යැ. තෙරණුවෝ ‘නික්ෂෙපකාණ්ඩයෙහි අත්ථොද්ධාර සලකනු නො හැකි, තමන් වහන්සේගේ සද්ධිවිහාරිකයක්හට අර්ථකථාකාණ්ඩය වදාළහ’යි යෙති. මේ අදහස මහඅටුවාහි ප්‍රතික්ෂිප්ත යැ. ‘අර්ථකථාකාණ්ඩය බුදුරදුන් විසින් මැ දෙශිත යැ’ යනු මහඅටුවාහි පිළිගත් මතය යි. අභිධර්මය ශ්‍රාවකවිෂය නොවැ බුද්ධවිෂය බවත් සැරියුත් තෙරණුවන් සවකීය සද්ධිවිහාරිකයා බුදුරදුන් වෙතැ පැමිණ වූ කල්හි උන්වහන්සේ විසින් මැ අර්ථකථාකාණ්ඩය දෙසන ලද බවත් මහ අටුවාහි ආ සේ බුදුගොස් තෙරණුවෝ අත්ථසාලිනියෙහි දක්වති. වාචනාමාර්ගයෙහි ආ පමණින් අර්ථකථාකාණ්ඩය බණවර දෙකෙකි. මෙසෙයින් සියලු ධම්මසඞ්ගණිප්පකරණය තෙළෙස් බණවරෙකින් සමන්වාගත වේ.

**පරිවාරග්‍රන්ථ**: අභිධර්මපිටකයෙහි විභඞ්ගාදි ෂට්ප්‍රකරණය මැ ධම්මසඞ්ගණිනය අනු වැ විභාග කරනලද වෙයි. එයින් ධම්මසඞ්ගණිප්පකරණය එ හැමට මූලාශ්‍රය වූයේ අභිධර්මපිටකය පුරා පැතිර සිටී. ධම්මසඞ්ගණියට අර්ථකථාචාර්ය බුදුගොස් තෙරණුවන් විසින් ලියනලද

'අත්ථසාලිනී' නම් අට්ඨකථාවක් ද එහි ලීනාත්ථපද වණ්ණනා කෙරෙමින් 'ආනන්ද' නම් තෙර කෙනෙකුන් විසින් කරන ලද 'අභිධම්මමූලටීකා' නම් ලීනත්ථපදවණ්ණනාවක් ද එයට 'ධම්මපාල' නම් තෙර කෙනෙකුන්ගේ කෘතියකැයි සැලැකෙන කර්තෘ නො සඳහන් අනුටීකාවක් ද ඇත. පස්වැනි කසුප් (බු. ව. 1445-1455) රජු විසින් කරනලද අභිධර්මව්‍යාඛ්‍යානයක් ගැන එරජුගේ අභයගිරි සෙල්ලිපියෙහි සඳහන් වෙයි. සිව්වැනි මිහිඳු (බු. ව. 1491-1507) රජු විසින් සිත්ථගාමවාසී 'ධම්මමිත්ත' නම් තෙර කෙනකුන් ලවා අභිධර්මවර්ණනාවක් කරවනලදැ යි මහාවංසයෙහි සඳහන් වෙයි.[1] මේ ව්‍යාඛ්‍යා දෙක දැන් නාමශෙෂ වැ පවතී.

'අත්ථසාලිනී අටුවාව බුදුගොස් තෙරණුවන් විසින් ලඞ්කාගමනයට පළමු දඹදිව්හි දී මැ කරනලද බව මහාවංශයෙහි දැක්වෙයි[2]. එහෙත් මෙකල විද්‍යමාන 'අත්ථසාලිනිය' ලක්දිව මහාවිහාරයෙහි දී ලියන ලද්දෙකි. "අයමෙත්ථ සඞ්ඛෙපො විත්ථාරො පන විසුද්ධිමග්ගෙ වුත්තනයෙනෙව වෙදිතබ්බො"[3] "අයමෙත්ථ සඞ්ඛෙපො, විත්ථාරො පන සමන්තපාසාදිකායං වුත්තො"[4]. ආදීන් එහි 'විසුද්ධිමග්ගය' ද 'සමන්තපාසාදිකාව' ද නිර්දිෂ්ට යැ. ලක්දිවට පැමිණ උන්වහන්සේ ලියූ පළමු වන ග්‍රන්ථය 'විසුද්ධිමග්ග'ය බව ප්‍රකට යැ. 'සමන්තපාසාදිකා' විනයට්ඨකථාව සිරිනිවාස් මහානාම (බු. ව. 950-972) රජුගේ එක්විසි වන වර්ෂයෙහි ලියා නිමවන ලද්දෙකි 'අත්ථසාලිනී'ය ඉන් පසු ලියැ යුතු වෙයි. දඹදිව්හි දී ලියූ අත්ථසාලිනිය යළි මෙහි දී සකසා ලියූ සේ ද සිතියැහෙයි. ආචාර්‍ය්‍යවාද අතුරෙහි 'රෙවත' තෙරණුවන්ගේ මත ද එහි දක්නා හෙයිනි. 'ඉදං අට්ඨකථාමුත්තකං ආචරියානං මතං න පන්නතං සාරතො දට්ඨබ්බං"[5] යන තන්හි "ආචරියානං මතං" යනු රෙවතාචාර්‍ය්‍යයන්ගේ මතය බව 'අභිධම්මමූලටීකා" යෙහි දැක්වෙයි.[6] මෙහි රෙවතාචාර්‍ය්‍යයෝ නම් දඹදිව බෝමැඩ වෙහෙර වැඩ විසූ බුදුගොස් තෙරණුවන්ගේ ඇදුරු තෙරණුවෝ යි.

'අභිධම්මමූලටීකා' ලියූ 'ආනන්ද' තෙරණුවෝ දඹදෙණියේ දෙවැනි පැරකුම්බා (බු. ව. 1779-1814) රජු දවස විසූ 'ආනන්ද වනරතන' තෙරණුවෝ යයි කෙනෙක් සිතති. ඒ නො මැනැවි. මූලටීකාකාර 'ආනන්ද' තෙරණුවෝ වූ කලී රූපසිද්ධි කර්තෘ 'දීපඞ්කර බුද්ධප්පිය' තෙරණුවනට ඇදුරු වූ 'තම්බපණ්ණිද්ධජ' යනුවෙන් පසස්නා ලද 'ආනන්ද' තෙරණුවෝ යි. ඔබ 'ධම්මමිත්ත' නාම් තෙර කෙනකුන්ගේ අයැදුමින් 'අත්ථසාලිනී ලීනත්ථපදවණ්ණනා' ලියනලද බව ග්‍රන්ථයෙහි සඳහන් කෙරෙති. සිව්වැනි මිහිඳු (බු. ව. 1491-1507) රජුගේ ආරාධනයෙන් අභිධර්මවර්ණනාවක් කළ 'සිත්ථගාමවාසී ධම්මමිත්ත' තෙරණුවෝ ද මූත් වහන්සේ මැ වියැහෙති. 'විසුද්ධිමග්ගටීකාව' ලිවීමට 'බදරතිත්ථ ධම්මපාල' තෙරණුවනට ආරාධනා කළ 'දාඨානාග' තෙරණුවෝ ද 'ධම්මමිත්ත' තෙරණුවනට සමකාලීන වෙත්.

1. ම ව. 52 පරි. 35 ගාථා
2. ම. ව. 37 පරි 225. ගාථා
3. අසා. 612 පිටුව
4. අසා. 108 පිටුව
5. අසා 115 පිටුව.
6. මූ. ටී. 85 පිටුව

**ධම්මසඞ්ගණී බුද්ධජයන්ති අනුවාදය:** ලඞ්කාබෞද්ධමණ්ඩලය විසින් 2500 බුද්ධජයන්තිය නිමිත්තෙන් ආරම්භ කළ බුද්ධජයන්තීත්‍රිපිටක ග්‍රන්ථ-මාලායෙහි ධම්මසඞ්ගණී සිංහල අනුවාදයත් පාඨශෝධන සහිත පාළියත් ශ්‍රී ලංකා රජයේ සංස්කෘතික දෙපාර්තමේන්තුවේ අනුග්‍රහයෙන් මෙසේ පළවෙයි. පාඨශෝධනයේ දී සිංහල තල්පත් පිටපත් හා මුද්‍රිත පිටපත් මරම්ම (බුරුම) ඡට්ඨසඞ්ගීතියෙන් ශෝධිත පොත සියම් රට මුද්‍රිත පොත එංගලන්තයේ පාලිපොත් සමාගමෙහි (PTS) මුද්‍රණය අටුවා ටීකා හා සමග සසඳගෙන විසදෘශපාඨ අධෝලිපි වශයෙන් දක්වන ලදි. අනුවාදයෙහි දී අභිධර්ම පාරිභාෂික වචනයන්ට ප්‍රමුඛත්වය දෙන ලද්දේ යැ. පරමාර්ථධර්ම ව්‍යාඛ්‍යා හෙයින් පර්යාය වචනයෙන් අර්ථවෛපරීත්‍යයට අවකාශ නො තබනු සඳහා යි. දුර්ගමස්ථානයෙහි අර්ථ ප්‍රකට කරනු පිණිස පර්යායාර්ථ වරහන් තුළ යොදා ඇත. අර්ථව්‍යක්තිය පිණිස පාළියට අතිරේක වැ අර්ථ-කථායෙන් ගන්නාලද ව්‍යාඛ්‍යාන ද වරහන් තුළ දක්වන ලද්දේ යි. මේ උදාර කාර්ය්‍යයෙහි සහාය වූ ත්‍රිපිටකසම්පාදක මණ්ඩලය ද ලඞ්කා බෞද්ධ මණ්ඩලය ද ශ්‍රී ලඞ්කා රජය හා එහි සංස්කෘතික දෙපාර්තමේන්තුවේ නිලධාරිමණ්ඩලය ද ස්වදේශීය මුද්‍රණාලයෙහි කාර්ය්‍යමණ්ඩලය ද සුධීන්ගේ පැසසුමට ලක්විය යුත්තාහ.

**සියලු සත්ත්වයෝ නිදුක් වෙත්වා!**

**කරගම්පිටිගොඩ සුමනසාර**

1972. 12. 30
ත්‍රිපිටක කාර්ය්‍යාලය,
මහානායක චාරිකාරාමය,
විජේරාම මාවත,
කොළඹ 7.

# සඞ්කේතනිරූපණය

## ABBREVIATIONS

සිමු. 1. — බෙත්තර සද්ධාතිස්ස ස්ථවිර මුද්‍රණය, 1929.

සිමු. 2. — ශ්‍රීපාද මුද්‍රණය

සිමු. 3 — හේවාවිතාරණ මුද්‍රණය, 1953

ස්‍යා. — ස්‍යාමක්ඛරමුද්දිත පොත.

මඡසං — මරම්මඡට්ඨසඞ්ගීති පොත

පවි. — පරමානන්දවිහාර පුස්කොළ පොත.

අසා. — අත්ථසාලිනී, ධම්මසඞ්ගණී අට්ඨකථා.

PTS. — Pali Text Society - Dhammasanganippakarana

හෙවිමු. — හෙවාවිතාරණ මුද්‍රණය.

ධසං. — ධම්මාරාම සංස්කරණය.

ඤාසං. — ඤාණවිමල සංස්කරණය.

බෞ. වි. කො.— බෞද්ධවිශ්වකෝෂ – ENCYCLOPAEDIA OF BUDDHISM VOL. i

ම. ව. — මහාවංස.

මූ. ටී. — අභිධම්මමූලටීකා.

# THE PALI ALPHABET

## IN SINHALA CHARACTERS.

## VOWELS

අ a   ආ ā   ඉ i   ඊ ī   උ u   ඌ ū   එ e   ඔ o

## CONSONANTS

| | | | | |
|---|---|---|---|---|
| ක ka | ඛ kha | ග ga | ඝ gha | ඞ ṅa |
| ච ca | ඡ cha | ජ ja | ඣ jha | ඤ ña |
| ට ṭa | ඨ ṭha | ඩ ḍa | ඪ ḍha | ණ ṇa |
| ත ta | ථ tha | ද da | ධ dha | න na |
| ප pa | ඵ pha | බ ba | භ bha | ම ma |

ය ya   ර ra   ල la   ව va   ස sa   හ ha   ළ ḷa   අං ṃ

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ක ka | කා kā | කි ki | කී kī | කු ku | කූ kū | කෙ ke | කො ko |
| ඛ kha | ඛා khā | ඛි khi | ඛී khī | ඛු khu | ඛූ khū | ඛෙ khe | ඛො kho |
| ග ga | ගා gā | ගි gi | ගී gī | ගු gu | ගූ gū | ගෙ ge | ගො go |

## Conjunct - Consonants

| | | | |
|---|---|---|---|
| ක්ක kka | ඤ්ඤ ñña | ත්‍ර tra | ම්ඵ mpha |
| ක්ඛ kkha | ඤ්හ ñha | ද්ද dda | ම්බ, ඹ mba |
| ක්‍ය kya | ඤ්ච ñca | ද්ධ ddha | ම්භ mbha |
| ක්‍රි kri | ඤ්ඡ, ඡ ñcha | ද්‍ර dra | ම්ම mma |
| ක්ව kva | ඤ්ජ, ජ ñja | ද්ව, ව dva | ම්හ mha |
| ඛ්‍ය khya | ඤ්ඣ ñjha | ධ්ව dhva | ය්ය, ය්‍ය yya |
| ඛ්ව khva | ට්ට ṭṭa | න්ත nta | ය්හ yha |
| ග්ග gga | ට්ඨ, ඨ ṭṭha | න්ථ ntha | ල්ල lla |
| ග්ඝ ggha | ඩ්ඩ ḍḍa | න්ද nda | ල්‍ය lya |
| ඞ්ක ṅka | ඩ්ඪ ḍḍha | න්ධ ndha | ල්හ lha |
| ග්‍ර gra | ණ්ණ ṇṇa | න්න nna | ව්හ wha |
| ඞ්ඛ ṅkha | ණ්ට ṇṭa | න්හ nha | ස්ස ssa |
| ඞ්ග ṅga | ණ්ඨ ṇṭha | ප්ප ppa | ස්ම sma |
| ඞ්ඝ ṅgha | ණ්ඩ, ඬ ṇḍa | ප්ඵ ppha | ස්ව sva |
| ච්ච cca | ණ්හ ṇha | බ්බ bba | හ්ම hma |
| ච්ඡ ccha | ත්ත tta | බ්භ bbha | හ්ව hva |
| ජ්ජ jja | ත්ථ ttha | බ්‍ර bra | ළ්හ ḷha |
| ජ්ඣ jjha | ත්ව tva | ම්ප mpa | |

ා ā   ි i   ී ī   ු ු u   ූ ූ ū   ෙ e   ො o

# ධම්මසඞ්ගණිප්පකරණං

## විසයසූචි

විසයො පිට්ඨඞ්කා

# අභිධම්මපිටකෙ

# ධම්මසඞ්ගණිප්පකරණං

## අභිධම්මමාතිකා

නමො තස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස

1. කුසලා ධම්මා, 989, 1383*
   අකුසලා ධම්මා, 990, 1384
   අබ්‍යාකතා ධම්මා. 991, 1385

2. සුඛාය වෙදනාය සම්පයුත්තා ධම්මා, 992, 1386
   දුක්ඛාය වෙදනාය සම්පයුත්තා ධම්මා, 993, 1387
   අදුක්ඛමසුඛාය වෙදනාය සම්පයුත්තා ධම්මා. 994, 1388

3. විපාකා ධම්මා, 995, 1389
   විපාකධම්මධම්මා, 996, 1390
   නෙවවිපාකනවිපාකධම්මධම්මා. 997, 1391

4. උපාදින්නුපාදානියා[1] ධම්මා, 998, 1392
   අනුපාදින්නුපාදානියා[2] ධම්මා, 999, 1393
   අනුපාදින්නඅනුපාදානියා ධම්මා 1000, 1394

5. සඞ්කිලිට්ඨසඞ්කිලෙසිකා ධම්මා, 1001, 1395
   අසඞ්කිලිට්ඨසඞ්කිලෙසිකා ධම්මා, 1002, 1396
   අසඞ්කිලිට්ඨඅසඞ්කිලෙසිකා ධම්මා. 1003, 1397

6. සවිතක්කසවිචාරා ධම්මා, 1004, 1398
   අවිතක්කවිචාරමත්තා ධම්මා, 1005, 1399
   අවිතක්කඅවිචාරා ධම්මා 1006, 1400

7. පීතිසහගතා ධම්මා, 1007, 1401
   සුඛසහගතා ධම්මා, 1008, 1402
   උපෙක්ඛාසහගතා[3] ධම්මා. 1009, 1403

---

* එතෙසු අඞ්කෙසු උපරි නික්ඛෙපඅත්ථුද්ධාරකණ්ඩෙසු මාතිකාපදානං විභඞ්ගට්ඨානානි යථාක්කමං දට්ඨබ්බානි.

1. උපාදිණ්ණුපාදානියා, මජ්ඣං. 2. අනුපාදිණ්ණුපාදානියා, මජ්ඣං. 3. උපෙක්ඛා - කත්ථචි.

## අභිධර්මපිටකයෙහි

# ධම්මසඞ්ගණී ප්‍රකරණය

ඒ භාග්‍යවත් අර්හත් සම්මාසම්බුදුරජාණන් වහන්සේට
නමස්කාර වේවා.

## අභිධර්මමාතෘකා

1. කුශලධර්මයෝ යැ,
අකුශලධර්මයෝ යැ,
අව්‍යාකෘතධර්මයෝ යි.

2. සුඛවේදනාව හා සම්ප්‍රයුක්තධර්මයෝ යැ,
දුඃඛවේදනාව හා සම්ප්‍රයුක්තධර්මයෝ යැ,
අදුඃඛ අසුඛ වේදනාව හා සම්ප්‍රයුක්තධර්මයෝ යි.

3. විපාක ධර්මයෝ යැ,
විපාක සවභාවධර්මයෝ යැ,
නොමැවිපාක වූ විපාකසවභාව නො වූ ධර්මධර්මයෝ යි.

4. උපාදින්නඋපාදානියධර්මයෝ යැ,
අනුපාදින්නඋපාදානියධර්මයෝ යැ,
අනුපාදින්නඅනුපාදානියධර්මයෝ යි

5 සඞ්කිලිට්ඨසඞ්කිලේසික ධර්මයෝ යැ,
අසඞ්කිලිට්ඨසඞ්කිලේසික ධර්මයෝ යැ,
අසඞ්කිලිට්ඨඅසඞ්කිලේසික ධර්මයෝ යි.

6. සවිතර්කසවිචාරධර්මයෝ යැ,
අවිතර්කවිචාරමාත්‍රධර්මයෝ යැ,
අවිතර්කඅවිචාරධර්මයෝ යි.

7. ප්‍රීතිසහගතධර්මයෝ යැ,
සුඛසහගතධර්මයෝ යැ,
උපෙක්ෂාසහගත ධර්මයෝ යි.

8. දස්සනෙන පහාතබ්බා ධම්මා, 1010, 1404
භාවනාය පහාතබ්බා ධම්මා, 1014, 1405
නෙව දස්සනෙන න භාවනාය පහාතබ්බා ධම්මා. 1015, 1406

9. දස්සනෙන පහාතබ්බහෙතුකා ධම්මා, 1016, 1407
භාවනාය පහාතබ්බහෙතුකා ධම්මා, 1017, 1408
නෙව දස්සනෙන න භාවනාය
පහාතබ්බහෙතුකා ධම්මා. 1018, 1409

10. ආචයගාමිනො ධම්මා, 1019, 1410
අපචයගාමිනො ධම්මා, 1020, 1411
නෙවාචයගාමිනො න අපචයගාමිනො ධම්මා 1021, 1412

11. සෙඛා[1] ධම්මා, 1022, 1413
අසෙඛා ධම්මා, 1023, 1414
නෙව සෙඛා නාසෙඛා ධම්මා. 1024, 1415

12. පරිත්තා ධම්මා, 1025, 1416
මහග්ගතා ධම්මා, 1026, 1417
අප්පමාණා ධම්මා. 1227, 1418

19 පරිත්තාරම්මණා ධම්මා, 1028, 1419
මහග්ගතාරම්මණා ධම්මා, 1029, 1420
අප්පමාණාරම්මණා ධම්මා. 1030, 1421

14. හීනා ධම්මා, 1031, 1422
මජ්ඣිමා ධම්මා, 1032, 1423
පණීතා ධම්මා. 1033, 1424

15 මිච්ඡත්තනියතා ධම්මා, 1034, 1425
සම්මත්තනියතා[2] ධම්මා, 1035, 1426
අනියතා ධම්මා. 1036, 1427

16. මග්ගාරම්මණා ධම්මා, 1037, 1428
මග්ගහෙතුකා ධම්මා, 1038, 1428
මග්ගාධිපතිනො ධම්මා. 1038, 1428

17. උප්පන්නා ධම්මා, 1040, 1429
අනුප්පන්නා ධම්මා, 1041, 1429
උප්පාදිනො[3] ධම්මා. 1042, 1429

18. අතීතා ධම්මා, 1043, 1430
අනාගතා ධම්මා, 1044, 1430
පච්චුප්පන්නා ධම්මා. 1045, 1430

---

1. සෙක්ඛා - සීමු 2, මජසං. සත. 2. සම්පත්තනියතා - PTS.
3. උප්පාදිනො - .

8. දර්ශනයෙන් (සෝවාන් මගින්) ප්‍රහාතව්‍යධර්මයෝ යැ,
භාවනායෙන් (ශේෂමාර්ගත්‍රයෙන්) ප්‍රහාතව්‍යධර්මයෝ යැ,
නො මැ දර්ශනයෙන් නො ද භාවනායෙන් ප්‍රහාතව්‍ය ධර්මයෝ යි.

9. දර්ශනයෙන් ප්‍රහාතව්‍යහෙතු ඇති ධර්මයෝ යැ,
භාවනායෙන් ප්‍රහාතව්‍යහෙතු ඇති ධර්මයෝ යැ,
නො මැ දර්ශනයෙන් නො ද භාවනායෙන් ප්‍රහාතව්‍ය හෙතු ඇති ධර්මයෝ යි.

10. ආචයගාමී (ප්‍රතිසන්ධි ච්‍යුති ගති ප්‍රවෘත්තීන්ට පමුණුවන) ධර්මයෝ යැ,
අපචයගාමී (නිවනට පමුණුවන) ධර්මයෝ යැ,
නො මැ ආචයගාමී නො ද අපචයගාමී ධර්මයෝ යි.

11. ශෛක්‍ෂධර්මයෝ යැ,
අශෛක්‍ෂධර්මයෝ යැ,
නො මැ ශෛක්‍ෂ වූ නො ද අශෛක්‍ෂ වූ ධර්මයෝ යි.

12. පරිත්ත (කාමාවචර) ධර්මයෝ යැ,
මහද්ගත (රූපාරූප) ධර්මයෝ යැ,
අප්‍රමාණ (ලොකොත්තර) ධර්මයෝ යි.

13. පරිත්තාලම්බනධර්මයෝ යැ,
මහද්ගතාලම්බනධර්මයෝ යැ,
අප්‍රමාණාලම්බනධර්මයෝ යි.

14. හීන (ලාමකඅකුශල) ධර්මයෝ යැ,
මධ්‍යම (අවශෙෂත්‍රෛභූමක) ධර්මයෝ යැ,
ප්‍රණීත (ලොකොත්තර) ධර්මයෝ යි.

15. මිථ්‍යාත්වනියත (මිථ්‍යාස්වභාව) ධර්මයෝ යැ,
සම්‍යක්ත්වනියතධර්මයෝ යැ,
අනියතධර්මයෝ යි.

16. මාර්ගාලම්බනධර්මයෝ යැ,
මාර්ගහෙතුකධර්මයෝ යැ,
මාර්ගාධිපතිධර්මයෝ යි.

17. උත්පන්නධර්මයෝ යැ,
අනුත්පන්නධර්මයෝ යැ,
උත්පාදී (අවශ්‍යයෙන් උපදනා) ධර්මයෝ යි.

18. අතීතධර්මයෝ යැ,
අනාගතධර්මයෝ යැ,
ප්‍රත්‍යුත්පන්නධර්මයෝ යි.

19. අතීතාරමමණා ධමමා, 1046, 1431
අනාගතාරමමණා ධමමා, 1047, 1432
පචචුපපනනාරමමණා ධමමා. 1048, 1433

20 අජඣතතා ධමමා, 1049, 1434
බහිදධා ධමමා, 1050, 1434
අජඣතතබහිදධා ධමමා. 1051, 1434

21. අජඣතතාරමමණා ධමමා, 1052, 1435
බහිදධාරමමණා ධමමා, 1053, 1436
අජඣතතබහිදධාරමමණා ධමමා. 1054, 1436

22. සනිදසසනසපපටිඝා ධමමා, 1055, 1437
අනිදසසනසපපටිඝා ධමමා, 1056, 1438
අනිදසසනඅපපටිඝා ධමමා. 1057, 1439

## තිකමාතිකා.

1. හෙතුධමමා,[1] 1058, 1440
නහෙතුධමමා, 1077, 1441

2. සහෙතුකා ධමමා, 1078, 1442
අහෙතුකා ධමමා, 1079, 1443

3. හෙතුසමපයුතතා ධමමා, 1080, 1444
හෙතුවිපපයුතතා ධමමා, 1081, 1445

4. හෙතු චෙව ධමමා සහෙතුකා ච, 1082, 1446
සහෙතුකා චෙව ධමමා න ච හෙතු, 1083, 1447

5. හෙතු චෙව ධමමා හෙතුසමපයුතතා ච, 1084, 1448
හෙතුසමපයුතතා චෙව ධමමා න ච හෙතු, 1085, 1449

6. නහෙතු[2] ඛො පන ධමමා සහෙතුකාපි, 1086, 1450
අහෙතුකාපි 1087, 1451

## හෙතුගොචඡකං.

1. සපපචචයා ධමමා, 1088, 1452
අපපචචයා ධමමා. 1089, 1453

2. සඞඛතා ධමමා, 1090, 1454
අසඞඛතා ධමමා, 1091, 1455

3. සනිදසසනා ධමමා, 1092, 1456
අනිදසසනා ධමමා, 1093, 1457

---

1. හෙතු ධමමා - මජසං. 2 නො හෙතු - PTS.

19. අතීතාලම්බනධර්මයෝ යෑ,
අනාගතාලම්බනධර්මයෝ යෑ,
ප්‍රත්‍යුත්පන්නාලම්බනධර්මයෝ යි.

20. අධ්‍යාත්මධර්මයෝ යෑ,
බාහ්‍යධර්මයෝ යෑ,
අධ්‍යාත්මබාහ්‍යධර්මයෝ යි.

21. අධ්‍යාත්මාලම්බනධර්මයෝ යෑ,
බාහ්‍යාලම්බනධර්මයෝ යෑ,
අධ්‍යාත්මබාහ්‍යාලම්බනධර්මයෝ යි.

22. සනිදර්ශනසප්‍රතිඝධර්මයෝ යෑ,
අනිදර්ශනසප්‍රතිඝධර්මයෝ යෑ,
අනිදර්ශනඅප්‍රතිඝධර්මයෝ යි.

**ත්‍රිකමාතෘකා යි.**

1. හේතු නම් වූ ධර්මයෝ යෑ,
හේතු නො වූ ධර්මයෝ යෑ,

2. (සම්ප්‍රයුක්ත) හේතු සහිත වූ ධර්මයෝ යෑ,
හේතු නැති ධර්මයෝ යෑ,

3. (එකොත්පාදාදිවශයෙන්) හේතු සම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යෑ,
හේතු විප්‍රයුක්ත වූ ධර්මයෝ යෑ,

4. හේතු ද වූ සම්ප්‍රයුක්තහේතු සහිත ද වූ ධර්මයෝ යෑ,
සහේතුක වූ ද හේතු නො වූ ද ධර්මයෝ යෑ,

5. හේතු වූ ද හේතු සම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ යෑ,
හේතු සම්ප්‍රයුක්ත වූ ද හේතු නො වූ ද ධර්මයෝ යෑ,

6. යළි හේතු නො වූ සහේතුක ද වූ ධර්මයෝ යෑ,
(හේතු නො වූ) අහේතුක ද වූ ධර්මයෝ යි.

**හේතුගොච්ඡකය යි.**

1. සප්‍රත්‍යය වූ ධර්මයෝ යෑ,
අප්‍රත්‍යය වූ ධර්මයෝ යෑ,

2. සඞ්ඛත (ප්‍රත්‍යයන් විසින් සකස් කළ) ධර්මයෝ යෑ,
අසඞ්ඛත (ප්‍රත්‍යයන් විසින් සකස් නො කළ) ධර්මයෝ යෑ,

3 නිදර්ශන (දක්ක යුතු බව) සහිත වූ ධර්මයෝ යෑ,
අනිදර්ශන වූ ධර්මයෝ යෑ,

4. සප්පටිඝා ධම්මා, 1094, 1458
අප්පටිඝා ධම්මා, 1095, 1459

5. රූපිනො ධම්මා, 1096, 1460
අරූපිනො ධම්මා, 1097, 1461

6. ලොකියා ධම්මා, 1098, 1462
ලොකුත්තරා ධම්මා, 1099, 1463

7 කෙනචි විඤ්ඤෙය්‍යා ධම්මා, 1100, 1463
කෙනචි නවිඤ්ඤෙය්‍යා ධම්මා. 1100, 1463

## චූලන්තරදුකං.[1]

1. ආසවා ධම්මා, 1101, 1464
නොආසවා ධම්මා, 1106, 1465

2. සාසවා ධම්මා, 1107, 1466
අනාවසවා ධම්මා, 1108, 1467

3. ආසවසම්පයුත්තා ධම්මා, 1109, 1468
ආසවවිප්පයුත්තා ධම්මා, 1110, 1469

4. ආසවා චෙව ධම්මා සාසවා ච, 1111, 1470
සාසවා චෙව ධම්මා නො ච ආසවා, 1112, 1471

5. ආසවා චෙව ධම්මා ආසවසම්පයුත්තා ච, 1113, 1472
ආසවසම්පයුත්තා චෙව ධම්මා නො ච ආසවා, 1114, 1473

6. ආසවවිප්පයුත්තා ඛො පන ධම්මා සාසවාපි, 1115, 1474
අනාසවාපි. 1116, 1475

## ආසවගොච්ඡකං.

1. සඤ්ඤොජනා ධම්මා, 1117, 1476
නොසඤ්ඤොජනා ධම්මා, 1128, 1477

2. සඤ්ඤොජනියා ධම්මා, 1129, 1478
අසඤ්ඤොජනියා ධම්මා, 1130, 1479

3. සඤ්ඤොජනසම්පයුත්තා ධම්මා, 1131, 1480
සඤ්ඤොජනවිප්පයුත්තා ධම්මා, 1132, 1481

4 සඤ්ඤොජනා චෙව ධම්මා සඤ්ඤොජනියා ච, 1133, 1482
සඤ්ඤොජනියා චෙව ධම්මා නො ච සඤ්ඤොජනා, 1134, 1483

5. සඤ්ඤොජනා චෙව ධම්මා සඤ්ඤොජනසම්පයුත්තා ච, 1135, 1484
සඤ්ඤොජනසම්පයුත්තා චෙව ධම්මා
නො ච සඤ්ඤොජනා, 1136, 1485

6. සඤ්ඤොජනවිප්පයුත්තා ඛො පන ධම්මා
සඤ්ඤොජනියාපි, 1137, 1486
අසඤ්ඤොජනියාපි. 1138, 1487

## සඤ්ඤොජනගොච්ඡකං.

1. චූළන්තරදුකං - මජසං.

4. සප්‍රතිඝ (ගැටීම් සහිත) වූ ධර්මයෝ යැ,
අප්‍රතිඝ වූ ධර්මයෝ යැ,

5. රූපී වූ ධර්මයෝ යැ,
අරූපී වූ ධර්මයෝ යැ,

6. ලෞකික (ලොකයෙහි ඇතුළත්) වූ ධර්මයෝ යැ,
ලොකොත්තර වූ ධර්මයෝ යැ,

7. කිසි විඥානයකින් දතයුතු වූ ධර්මයෝ යැ,
කිසි විඥානයකින් නො දතයුතු වූ ධර්මයෝ යි

**චුල්ලන්තරදුකය යි.**

1. ආශ්‍රව වූ ධර්මයෝ යැ,
ආශ්‍රව නො වූ ධර්මයෝ යැ,

2. ආශ්‍රව සහිත වූ ධර්මයෝ යැ,
ආශ්‍රව රහිත වූ ධර්මයෝ යැ,

3. ආශ්‍රව සම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
ආශ්‍රව විප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

4. ආශ්‍රව වූ ද ආ ව සහිත වූ ද ධර්මයෝ යැ,
ආශ්‍රව සහිත වූ ද නො ද ආශ්‍රව වූ ද ධර්මයෝ යැ,

5. ආශ්‍රව වූ ද ආශ්‍රවසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ යැ,
ආශ්‍රව සම්ප්‍රයුක්ත වූ ද නො ද ආශ්‍රව වූ ද ධර්මයෝ යැ,

6. යළි ආශ්‍රව විප්‍රයුක්ත වූ සාශ්‍රව ද වූ ධර්මයෝ යැ,
(ආශ්‍රව විප්‍රයුක්ත වූ) අනාශ්‍රව ද වූ ධර්මයෝ යි.

**ආශ්‍රවගොච්ඡකය යි.**

1. සංයොජන (පුහුල්හු සසර බඳනා) වූ ධර්මයෝ යැ,
සංයොජන නො වූ ධර්මයෝ යැ,

2. සංයොජනීය (සංයොජනයන්ට හිත) වූ ධර්මයෝ යැ,
සංයොජනීය නො වූ ධර්මයෝ යැ,

3. සංයොජනසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
සංයොජනවිප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

4. සංයොජන වූ ද සංයොජනීය වූ ද ධර්මයෝ යැ,
සංයොජනීය වූ ද නො ද සංයොජන වූ ද ධර්මයෝ යැ,

5. සංයොජන වූ ද සංයොජනසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ යැ,
සංයොජනසම්ප්‍රයුක්ත වූ ද නො ද සංයොජන වූ ද ධර්මයෝ යැ,

6. යළි සංයොජනවිප්‍රයුක්ත වූ සංයොජනීය ද වූ ධර්මයෝ යැ,
(සංයොජනවිප්‍රයුක්ත වූ ) අසංයොජනීය ද වූ ධර්මයෝ යි.

**සංයොජනගොච්ඡකය යි.**

1. ගන්ථා ධම්මා, 1139, 1488
නොගන්ථා ධම්මා, 1144, 1489

2. ගන්ථනියා ධම්මා, 1145, 1490
අගන්ථනියා ධම්මා, 1146, 1491

3. ගන්ථසම්පයුත්තා ධම්මා, 1147, 1492
ගන්ථවිප්පයුත්තා ධම්මා, 1148, 1493

4. ගන්ථා චෙව ධම්මා ගන්ථනියා ච, 1149, 1494
ගන්ථනියා චෙව ධම්මා නො ච ගන්ථා, 1150, 1495

5. ගන්ථා චෙව ධම්මා ගන්ථසම්පයුත්තා ච, 1151, 1496
ගන්ථසම්පයුත්තා චෙව ධම්මා නො ච ගන්ථා, 1152, 1497

6. ගන්ථවිප්පයුත්තා ඛො පන ධම්මා ගන්ථනියාපි, 1153, 1498
අගන්ථනියාපි. 1154, 1499

**ගන්ථගොච්ඡකං.**

1. ඔඝා ධම්මා, 1155, 1500
නොඔඝා ධම්මා,

2. ඔඝනියා ධම්මා,
අනොඝනියා ධම්මා,

3 ඔඝසම්පයුත්තා ධම්මා,
ඔඝවිප්පයුත්තා ධම්මා,

4 ඔඝා චෙව ධම්මා ඔඝනියා ච,
ඔඝනියා චෙව ධම්මා නො ච ඔඝා,

5. ඔඝා චෙව ධම්මා ඔඝසම්පයුත්තා ච,
ඔඝසම්පයුත්තා චෙව ධම්මා නො ච ඔඝා,

6. ඔඝවිප්පයුත්තා ඛො පන ධම්මා ඔඝනියාපි,
අනොඝනියා පි

**ඔඝගොච්ඡකං.**

1 යොගා ධම්මා, 1156, 1501
නොයොගා ධම්මා,

2. යොගනියා ධම්මා,
අයොගනියා ධම්මා,

3. යොගසම්පයුත්තා ධම්මා,
යොගවිප්පයුත්තා ධම්මා,

1 ග්‍රන්ථ (ච්‍යුතිප්‍රතිසන්ධි විසින් සසර ගැටලන) ධර්මයෝ යැ,
ග්‍රන්ථ නො වූ ධර්මයෝ යැ,

2. ග්‍රන්ථනීය (අරමුණු කිරීම් වශයෙන් ග්‍රන්ථයන් විසින්
ගෙතිය යුතු වූ ධර්මයෝ යැ,
ග්‍රන්ථනීය නො වූ ධර්මයෝ යැ,

3. ග්‍රන්ථසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
ග්‍රන්ථවිප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

4. ග්‍රන්ථ වූ ද ග්‍රන්ථනීය වූ ද ධර්මයෝ යැ,
ග්‍රන්ථනීය වූ ද නො ද ග්‍රන්ථ වූ ධර්මයෝ යැ,

5. ග්‍රන්ථ වූ ද ග්‍රන්ථසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ යැ,
ග්‍රන්ථ සම්ප්‍රයුක්ත වූ ද නො ද ග්‍රන්ථ වූ ධර්මයෝ යැ,

6. යළි ග්‍රන්ථවිප්‍රයුක්ත වූ ග්‍රන්ථනීය ද වූ ධර්මයෝ යැ,
(ග්‍රන්ථවිප්‍රයුක්ත වූ) ග්‍රන්ථනීය ද නො වූ ධර්මයෝ යි.

**ග්‍රන්ථගොච්ඡකය යි.**

1. ඕඝ (පුහුල්හු සසරැ ගලනා) වූ ධර්මයෝ යැ,
ඕඝ නො වූ ධර්මයෝ යැ,

2. ඕඝනීය (ඕඝයෙන් ඉක්මියයුතු) වූ ධර්මයෝ යැ,
ඕඝනීය නො වූ ධර්මයෝ යැ,

3. ඕඝසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
ඕඝවිප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

4. ඕඝ වූ ද ඕඝනීය වූ ද ධර්මයෝ යැ,
ඕඝනීය වූ ද ඕඝ නො වූ ද ධර්මයෝ යැ,

5. ඕඝ වූ ද, ඕඝසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ යැ,
ඕඝසම්ප්‍රයුක්ත වූ ද නො ඕඝ වූ ධර්මයෝ යැ,

6. යළි ඕඝවිප්‍රයුක්ත වූ ඕඝනීය ද වූ ධර්මයෝ යැ,
(ඕඝවිප්‍රයුක්ත වූ,) ඕඝනීය ද නො වූ ධර්මයෝ යි.

**ඕඝගොච්ඡකය යි.**

1. යොග ( ගුල්හු සසරැ යොදන) ධර්මයෝ යැ,
යොග නො වූ ධර්මයෝ යැ,

2. යොගනීය ධර්මයෝ යැ,
අයොගනීය ධර්මයෝ යැ,

3. යොගසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
යොගවිප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

4. යොගා චෙව ධම්මා යොගනියා ච,
යොගනීයා චෙව ධම්මා නො ච යොගා,

5. යොගා චෙව ධම්මා යොගසම්පයුත්තා ච,
යොගසම්පයුත්තා චෙව ධම්මා නො ච යොගා,

6. යොගවිප්පයුත්තා ඛො පන ධම්මා යොගනීයාපි,
අයොගනීයාපි.

යොගගොච්ඡකං.

1. නීවරණා ධම්මා, 1157, 1502
නොනීවරණා ධම්මා, 1168, 1503

2 නීවරණියා ධම්මා, 1169, 1504
අනීවරණියා ධම්මා, 1170, 1505

3. නීවරණසම්පයුත්තා ධම්මා, 1171, 1506
නීවරණවිප්පයුත්තා ධම්මා, 1172, 1507

4. නීවරණා චෙව ධම්මා නීවරණියා ච, 1173, 1508
නීවරණියා චෙව ධම්මා නො ච නීවරණා, 1174, 1509

5. නීවරණා චෙව ධම්මා නීවරණසම්පයුත්තා ච, 1175, 1510
නීවරණසම්පයුත්තා චෙව ධම්මා නො ච නීවරණා, 1176, 1511

6. නීවරණවිප්පයුත්තා ඛො පන ධම්මා නීවරණියාපි, 1177, 1512
අනීවරණියාපි. 1178, 1513

නීවරණගොච්ඡකං.

1. පරාමාසා ධම්මා, 1179, 1514
නොපරාමාසා ධම්මා, 1181, 1515

2. පරාමට්ඨා ධම්මා, 1182, 1516
අපරාමට්ඨා ධම්මා, 1183, 1517

3. පරාමාසසම්පයුත්තා ධම්මා, 1184, 1518
පරාමාසවිප්පයුත්තා ධම්මා, 1185, 1519

4. පරාමාසා චෙව ධම්මා පරාමට්ඨා ච, 1186, 1520
පරාමට්ඨා චෙව ධම්මා නො ච පරාමාසා, 1187, 1521

5. පරාමාසවිප්පයුත්තා ඛො පන ධම්මා පරාමට්ඨාපි, 1188, 1522
අපරාමට්ඨාපි. 1189, 1523

පරාමාසගොච්ඡකං.

4. යොග වූ ද යොගනීය ද ධර්‍මයෝයෑ,
යොගනීය වූ ද යොග නො වූ ද ධර්‍මයෝ ය,

5. යොග වූ ද යොගසම්ප්‍රයුක්ත වූ ද ධර්‍මයෝ යෑ,
යොගසම්ප්‍රයුක්ත වූ ද නො ද යොග වූ ධර්‍මයෝ යෑ,

6. යළි යොගවිප්‍රයුක්ත වූ යොගනීය ද වූ ධර්‍මයෝ යෑ,
(යොගවිප්‍රයුක්ත වූ) අයොගනීය ද වූ ධර්‍මයෝ යි.

**යොගගොච්ඡකය යි.**

1. නීවරණ (සිත හාත්පසින් බැඳගන්නා) වූ ධර්‍මයෝ යෑ,
නීවරණ නො වූ ධර්‍මයෝ යෑ,

2. නීවරණීය (නීවරණයන්ට හිත) වූ ධර්‍මයෝ යෑ,
අනීවරණීය වූ ධර්‍මයෝ යෑ,

3. නීවරණසම්ප්‍රයුක්ත වූ ධර්‍මයෝ යෑ,
නීවරණවිප්‍රයුක්ත වූ ධර්‍මයෝ යෑ,

4. නීවරණ වූ ද නීවරණීය වූ ද ධර්‍මයෝ යෑ,
නීවරණීය වූ ද නො ද නීවරණ වූ ධර්‍මයෝ යෑ,

5. නීවරණ වූ ද නීවරණසම්ප්‍රයුක්ත වූ ද ධර්‍මයෝ යෑ,
නීවරණසම්ප්‍රයුක්ත වූ ද නො ද නීවරණ වූ ධර්‍මයෝ යෑ,

6. යළි නීවරණවිප්‍රයුක්ත වූ නීවරණීය ද වූ ධර්‍මයෝ යෑ,
(නීවරණවිප්‍රයුක්ත වූ) අනීවරණීය ද වූ ධර්‍මයෝ යි

**නීවරණගොච්ඡකය යි.**

1. පරාමර්‍ශ (නිත්‍යාදි වශයෙන් වරදවා ගන්නා) ධර්‍මයෝ යෑ,
පරාමර්‍ශ නො වූ ධර්‍මයෝ යෑ,

2. පරාමෘෂ්ට (පරාමාසයන් විසින් අරමුණු කළ) ධර්‍මයෝ යෑ,
අපරාමෘෂ්ට (පරාමාසයන් විසින් අරමුණු නො කළ) ධර්‍මයෝ යෑ,

3. පරාමාසසම්ප්‍රයුක්ත වූ ධර්‍මයෝ යෑ,
පරාමාසවිප්‍රයුක්ත වූ ධර්‍මයෝ යෑ,

4. පරාමර්‍ශ වූ ද පරාමෘෂ්ට වූ ද ධර්‍මයෝ යෑ,
පරාමෘෂ්ට වූ ද නො ද පරාමර්‍ශ වූ ධර්‍මයෝ යෑ,

5. යළි පරාමර්‍ශ විප්‍රයුක්ත වූ පරාමෘෂ්ට ද වූ ධර්‍මයෝ යෑ,
(පරාමර්‍ශ විප්‍රයුක්ත වූ) අපරාමෘෂ්ට ද වූ ධර්‍මයෝ යි.

**පරාමාසගොච්ඡකය යි.**

1. සාරම්මණා ධම්මා, 1190, 1524
අනාරම්මණා ධම්මා, 1191, 1525

2. චිත්තා ධම්මා, 1192, 1526
නොචිත්තා ධම්මා, 1193, 1527

3. චෙතසිකා ධම්මා, 1194, 1528
අචෙතසිකා ධම්මා, 1195, 1529

4. චිත්තසම්පයුත්තා ධම්මා, 1196, 1530
චිත්තවිප්පයුත්තා ධම්මා, 1197, 1531

5. චිත්තසංසට්ඨා ධම්මා, 1198, 1532
චිත්තවිසංසට්ඨා ධම්මා, 1199, 1533

6. චිත්තසමුට්ඨානා ධම්මා, 1200, 1534
නොචිත්තසමුට්ඨානා ධම්මා, 1201, 1535

7. චිත්තසහභුනො ධම්මා, 1202, 1536
නොචිත්තසහභුනො ධම්මා, 1203, 1537

8. චිත්තානුපරිවත්තිනො ධම්මා, 1204, 1538
නොචිත්තානුපරිවත්තිනො ධම්මා, 1205, 1539

9. චිත්තසංසට්ඨසමුට්ඨානා ධම්මා, 1206, 1540
නොචිත්තසංසට්ඨසමුට්ඨානා ධම්මා, 1207, 1541

10. චිත්තසංසට්ඨසමුට්ඨානසහභුනො ධම්මා, 1208, 1242
නොචිත්තස සට්ඨසමුට්ඨානසහභුනො ධම්මා, 1209, 1543

11. චිත්තසංසට්ඨසමුට්ඨානානුපරිවත්තිනො ධම්මා, 1210, 1544
නොචිත්තසංසට්ඨසමුට්ඨානානුපරිවත්තිනො ධම්මා, 1211, 1545

12. අජ්ඣත්තිකා ධම්මා, 1212, 1546
බාහිරා ධම්මා, 1213, 1547

13. උපාදා ධම්ම , 1214, 1448
නොඋපාදා ධම්මා, 1215, 1549

14. උපාදින්නා ධම්මා, 1216, 1550
අනුපාදින්නා[1] ධම්මා. 1517, 1551

## මහන්තරදුකං.

1. උපාදානා ධම්මා, 1218, 1552
නොඋපාදානා ධම්මා, 1223, 1553

2. උපාදානියා ධම්මා, 1224, 1554
අනුපාදානියා ධම්මා, 1225, 1555

---

1. නො උපාදින්නා - සීමු. 1

1. සාරම්මණ (ආලම්බන සහිත) වූ ධර්මයෝ යැ,
අනාරම්මණ (ආලම්බන රහිත) වූ ධර්මයෝ යැ,

2. චිත්තධර්මයෝ යැ,
චිත්ත නො වූ ධර්මයෝ යැ,

3. චෛතසික (සිත්හි යෙදුණු) ධර්මයෝ යැ,
චෛතසික නො වූ ධර්මයෝ යැ,

4. චිත්තසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,
චිත්තවිප්‍රයුක්ත වූ ධර්මයෝ යැ,

5. චිත්තසංසෘෂ්ට (සිත හා මිශ්‍ර) වූ ධර්මයෝ යැ,
චිත්තවිසංසෘෂ්ට (සිත හා මිශ්‍ර නො වූ) ධර්මයෝ යැ,

6. චිත්තසමුට්ඨාන (සිතින් හටගන්නා) ධර්මයෝ යැ,
චිත්තසමුට්ඨාන නො වූ ධර්මයෝ යැ,

7. චිත්තසහභූ (සිත හා එක්ව උපදනා) ධර්මයෝ යැ,
චිත්තසහභූ නො වූ ධර්මයෝ යැ.

8. චිත්තානුපරිවර්ති (සිත අනුව පෙරළෙන සුලු) ධර්මයෝ යැ,
චිත්තානුපරිවර්ති නො වූ ධර්මයෝ යැ,

9. චිත්තසංසෘෂ්ටසමුත්ථාන වූ ධර්මයෝ යැ,
චිත්තසංසෘෂ්ටසමුත්ථාන නො වූ ධර්මයෝ යැ,

10. චිත්තසංසෘෂ්ටසමුත්ථානසහභූ ධර්මයෝ යැ,
චිත්තසංසෘෂ්ටසමුත්ථානසහභූ නො වූ ධර්මයෝ යැ,

11. චිත්තසංසෘෂ්ට - සමුත්ථාන - අනුපරිවර්ති වූ ධර්මයෝ යැ,
චිත්තසංසෘෂ්ට - සමුත්ථාන - අනුපරිවර්ති නො වූ ධර්මයෝ යැ,

12. ආධ්‍යාත්මික වූ ධර්මයෝ යැ,
බාහ්‍ය වූ ධර්මයෝ යැ,

13. උපාදා (භූතයන් නිසා පවත්නා) ධර්මයෝ යැ,
උපාදා නො වූ ධර්මයෝ යැ,

14. උපාදින්න (කර්මය විසින් ඵලභාවයෙන් ගන්නා ලද) වූ ධර්මයෝ යැ,
අනුපාදින්න වූ ධර්මයෝ යි.

මහන්තරදුකය යි.

1. උපාදාන (දැඩි ව ගන්නා) වූ ධර්මයෝ යැ,
උපාදාන නො වූ ධර්මයෝ යැ,

2. උපාදානිය (උපාදානයන්ට හිත) වූ ධර්මයෝ යැ,
අනුපාදානිය ධර්මයෝ යැ,

3. උපාදානසම්පයුත්තා ධම්මා, 1226, 1556
උපාදානවිප්පයුත්තා ධම්මා, 1227, 1557

4. උපාදානා චෙව ධම්මා උපාදානියා ච, 1228, 1558
උපාදානියා චෙව ධම්මා නො ච උපාදානා, 1229, 1559

5. උපාදානා චෙව ධම්මා උපාදානසම්පයුත්තා ච, 1230, 1560
උපාදානසම්පයුත්තා චෙව ධම්මා නො ච උපාදානා, 1231, 1561

6. උපාදානවිප්පයුත්තා ඛො පන ධම්මා උපාදානියාපි, 1232, 1562
අනුපාදානියාපි. 1233, 1563

උපාදානගොච්ඡකං.

1 කිලෙසා ධම්මා, 1234, 1564
නොකිලෙසා ධම්මා, 1245, 1565

2. සඞ්කිලෙසිකා ධම්මා, 1246, 1566
අසඞ්කිලෙසිකා ධම්මා, 1247, 1567

3. සඞ්කිලිට්ඨා ධම්මා, 1248, 1568
අසඞ්කිලිට්ඨා ධම්මා, 1249, 1569

4. කිලෙසසම්පයුත්තා ධම්මා, 1250, 1570
කිලෙසවිප්පයුත්තා ධම්මා, 1251, 1571

5. කිලෙසා චෙව ධම්මා සඞ්කිලෙසිකා ච, 1252, 1572
සඞ්කිලෙසිකා චෙව ධම්මා නො ච කිලෙසා. 1253, 1573

6. කිලෙසා චෙව ධම්මා සඞ්කිලිට්ඨා ච, 1254, 1574
සඞ්කිලිට්ඨා චෙව ධම්මා නො ච කිලෙසා, 1255, 1575

7. කිලෙසා චෙව ධම්මා කිලෙසසම්පයුත්තා ච, 1256, 1576
කිලෙසසම්පයුත්තා චෙව ධම්මා නො ච කිලෙසා, 1257, 1577

8. කිලෙසවිප්පයුත්තා ඛො පන ධම්මා සඞ්කිලෙසිකාපි, 1258, 1578
අසඞ්කිලෙසිකා පි. 1259, 1579

කිලෙසගොච්ඡකං.

1. දස්සනෙන පහාතබ්බා ධම්මා, 1260, 1580
න දස්සනෙන පහාතබ්බා ධම්මා, 1264, 1581

2. භාවනාය පහාතබ්බා ධම්මා, 1265, 1582
න භාවනාය පහාතබ්බා ධම්මා, 1266, 1583

3. දස්සනෙන පහාතබ්බහෙතුකා ධම්මා, 1267, 1584
න දස්සනෙන පහාතබ්බහෙතුකා ධම්මා, 1271, 1585

3. උපාදානසම්ප්‍රයුක්ත වූ ධර්මයෝ ය,
උපාදානවිප්‍රයුක්ත වූ ධර්මයෝ ය,

4. උපාදාන වූ ද උපාදානීය වූ ද ධර්මයෝ ය,
උපාදානීය වූ නො ද උපාදාන වූ ධර්මයෝ ය,

5. උපාදාන වූ ද උපාදානසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ ය,
උපාදානසම්ප්‍රයුක්ත වූ ද නො ද උපාදාන වූ ධර්මයෝ ය.

6. යළි උපාදානවිප්‍රයුක්ත වූ උපාදානීය ද වූ ධර්මයෝ ය,
(උපාදානවිප්‍රයුක්ත වූ) අනුපාදානීය ද වූ ධර්මයෝ යි.

උපාදානගොච්ඡකය යි.

1. ක්ලේශ ධර්මයෝ ය,
ක්ලේශ නො වූ ධර්මයෝ ය,

2. සාංක්ලේශික ධර්මයෝ ය,
අසාංක්ලේශික ධර්මයෝ ය,

3. සංක්ලිෂ්ට ධර්මයෝ ය,
අසංක්ලිෂ්ට ධර්මයෝ ය,

4. ක්ලේශසම්ප්‍රයුක්ත ධර්මයෝ ය,
ක්ලේශවිප්‍රයුක්ත ධර්මයෝ ය,

5. ක්ලේශ වූ ද සාංක්ලේශික වූ ද ධර්මයෝ ය,
සාංක්ලේශික වූ ද නො ද ක්ලේශ වූ ධර්මයෝ ය,

6. ක්ලේශ වූ ද සංක්ලිෂ්ට වූ ද ධර්මයෝ ය,
සංක්ලිෂ්ට වූ ද නො ද ක්ලේශ වූ ධර්මයෝ ය,

7. ක්ලේශ වූ ද ක්ලේශසම්ප්‍රයුක්ත වූ ද ධර්මයෝ ය,
ක්ලේශසම්ප්‍රයුක්ත වූ ද නො ද ක්ලේශ වූ ධර්මයෝ ය,

8. යළි ක්ලේශවිප්‍රයුක්ත වූ සාංක්ලේශික ද වූ ධර්මයෝ ය,
(ක්ලේශවිප්‍රයුක්ත වූ) අසාංක්ලේශික ද වූ ධර්මයෝ යි.

ක්ලේශගොච්ඡකය යි.

1. දර්ශනයෙන් (සෝවාන් මගින්) ප්‍රහාතව්‍ය වූ ධර්මයෝ ය,
දර්ශනයෙන් ප්‍රහාතව්‍ය නො වූ ධර්මයෝ ය.

2. භාවනායෙන් (සෙසු තුන් මගින්) ප්‍රහාතව්‍ය වූ ධර්මයෝ ය,
භාවනායෙන් ප්‍රහාතව්‍ය නො වූ ධර්මයෝ ය,

3. දර්ශනයෙන් ප්‍රහාතව්‍ය වූ හෙතු ඇති ධර්මයෝ ය,
දර්ශනයෙන් ප්‍රහාතව්‍ය වූ හෙතු නැති ධර්මයෝ ය,

4. භාවනාය පහාතබ්බහෙතුකා ධම්මා, 1272, 1586
න භාවනාය පහාතබ්බහෙතුකා ධම්මා, 1273, 1587

5. සවිතක්කා ධම්මා, 1274, 1588
අවිතක්කා ධම්මා, 1275, 1589

6. සවිචාරා ධම්මා, 1276, 1590
අවිචාරා ධම්මා, 1277, 1591

7. සප්පීතිකා ධම්මා, 1278, 1592
අප්පීතිකා ධම්මා, 1279, 1593

8. පීතිසහගතා ධම්මා, 1280, 1594
න පීතිසහගතා ධම්මා, 1281, 1595

9 සුඛසහගතා ධම්මා, 1282, 1596
න සුඛසහගතා ධම්මා, 1283, 1597

10. උපෙක්ඛාසහගතා ධම්මා, 1284, 1598
න උපෙක්ඛාසහගතා ධම්මා, 1285, 1599

11. කාමාවචරා ධම්මා, 1286, 1600
න කාමාවචරා ධම්මා, 1287, 1601

12. රූපාවචරා ධම්මා, 1288, 1602
න රූපාවචරා ධම්මා, 1289, 1603

13. අරූපාවචරා ධම්මා, 1290, 1604
න අරූපාවචරා ධම්මා, 1291, 1605

14. පරියාපන්නා ධම්මා, 1292, 1606
අපරියාපන්නා ධම්මා, 1203, 1607

15. නිය්‍යානිකා ධම්මා, 1294, 1608
අනිය්‍යානිකා ධම්මා, 1295, 1609

16. නියතා ධම්මා, 1296, 1610
අනියතා ධම්මා, 1297, 1611

17. සඋත්තරා ධම්මා, 1298, 1612
අනුත්තරා ධම්මා, 1299, 1613

18. සරණා ධම්මා, 1300, 1614
අරණා[1] ධම්මා. 1301, 1615

පිට්ඨිදුකං.

අභිධම්මමාතිකා.

---

1. අසරණා - PTS.

4. භාවනායෙන් ප්‍රහාතව්‍ය වූ හෙතු ඇති ධර්මයෝ ය,
භාවනායෙන් ප්‍රහාතව්‍ය වූ හෙතු නැති ධර්මයෝ ය,

5. විතර්ක සහිත වූ ධර්මයෝ ය,
විතර්ක රහිත වූ ධර්මයෝ ය,

6. විචාර සහිත වූ ධර්මයෝ ය,
විචාර රහිත වූ ධර්මයෝ ය,

7. ප්‍රීති සහිත වූ ධර්මයෝ ය,
ප්‍රීති රහිත වූ ධර්මයෝ ය,

8. ප්‍රීති සහගත වූ ධර්මයෝ ය,
ප්‍රීති සහගත නො වූ ධර්මයෝ ය,

9. සුඛ සහගත වූ ධර්මයෝ ය,
සුඛ සහගත නො වූ ධර්මයෝ ය,

10. උපෙක්ෂා සහගත වූ ධර්මයෝ ය,
උපෙක්ෂා සහගත නො වූ ධර්මයෝ ය,

11. කාමාවචර වූ ධර්මයෝ ය,
කාමාවචර නො වූ ධර්මයෝ ය,

12. රූපාවචර වූ ධර්මයෝ ය,
රූපාවචර නො වූ ධර්මයෝ ය,

13. අරූපාවචර වූ ධර්මයෝ ය,
අරූපාවචර නො වූ ධර්මයෝ ය,

14. පර්‍යාපන්න (තුන්වටෙහි ඇතුලත්) වූ ධර්මයෝ ය,
අපර්‍යාපන්න ධර්මයෝ ය,

15. නෛර්‍යාණික වූ (නිවන අරමුණු කොට සසරින් නික්ම යන) ධර්මයෝ ය,
අනෛර්‍යාණික වූ ධර්මයෝ ය,

16. නියත (ච්‍යුතියට අනතුරුව ඵල දීමෙහි නියත) වූ ධර්මයෝ ය,
අනියත වූ ධර්මයෝ ය,

17. සඋත්තර (උතුරුදහම සහිත) වූ ධර්මයෝ ය,
අනුත්තර වූ ධර්මයෝ ය,

18. සරණ (රාගාදි රණයන් සහිත) වූ ධර්මයෝ ය,
අරණ වූ ධර්මයෝ යි.

පිට්ඨිදුකය යි.

අභිධර්මමාතෘකා නිමි.

1. විජ්ජාභාගිනො ධම්මා, 1302
අවිජ්ජාභාගිනො ධම්මා, 1303

2. විජ්ජූපමා ධම්මා, 1304
වජිරූපමා ධම්මා, 1305

3. බාලා ධම්මා, 1306
පණ්ඩිතා ධම්මා, 1307

4. කණ්හා ධම්මා, 1308
සුක්කා ධම්මා, 1309

5. තපනීයා ධම්මා, 1310
අතපනීයා ධම්මා, 1311

6. අධිවචනා ධම්මා, 1312
අධිවචනපථා ධම්මා, 1312

7. නිරුත්ති ධම්මා, 1313
නිරුත්තිපථා ධම්මා, 1313

8 පඤ්ඤත්ති ධම්මා, 1314
පඤ්ඤත්තිපථා ධම්මා, 1314

9. නාමඤ්ච, 1315
රූපඤ්ච, 1316

10 අවිජ්ජා ච, 1317
භවතණ්හා ච, 1318

11. භවදිට්ඨි ච, 1319
විභවදිට්ඨි ච, 1320

12. සස්සතදිට්ඨි ච, 1321
උච්ඡෙදදිට්ඨි ච, 1322

13. අන්තවා දිට්ඨි ච, 1323
අනන්තවා දිට්ඨි ච, 1324

14 පුබ්බන්තානුදිට්ඨි ච, 1325
අපරන්තානුදිට්ඨි ච, 1326

15. අහිරිකඤ්ච, 1327
අනොත්තප්පඤ්ච, 1328

16. හිරි ච, 1329
ඔත්තප්පඤ්ච, 1330

17. දොවචස්සතා ච, 1331
පාපමිත්තතා ච, 1332

1. විද්‍යාභාගී (විද්‍යාව භජනය කරන) ධර්මයෝ ය,
අවිද්‍යාභාගී (අවිද්‍යාව භජනය කරන) ධර්මයෝ ය,

2. විදුලිය උපමා කොට ඇති ධර්මයෝ ය,
වජ්‍රය උපමා කොට ඇති ධර්මයෝ ය,

3. බාල (බාලයන් කෙරෙහි සිටි) ධර්මයෝ ය,
පණ්ඩිත (පණ්ඩිතයන් කෙරෙහි සිටි) ධර්මයෝ ය,

4. කෘෂ්ණ (සිත අප්‍රභාස්වර කරන) ධර්මයෝ ය,
ශුක්ල (සිත ප්‍රභාස්වර කරන) ධර්මයෝ ය,

5. තපනීය (මෙලොව පරලොව තවන) ධර්මයෝ ය,
අතපනීය ධර්මයෝ ය,

6. අධිවචන (වචනමාත්‍රය මැ ප්‍රධාන කොට පවත්නා) ධර්මයෝ ය,
අධිවචනපථ ධර්මයෝ ය,

7. නිරුක්ති ධර්මයෝ ය,
නිරුක්තිපථධර්මයෝ ය,

8. ප්‍රඥප්ති ධර්මයෝ ය,
ප්‍රඥප්තිපථ ධර්මයෝ ය

9. (නමන ලක්‍ෂණ වූ) නාමය ද,
(රුප්පන ලක්‍ෂණ වූ) රූපය ද,

10. (දුඃඛාදියෙහි නොදැනීම වූ) අවිද්‍යාව ද,
(භවය ප්‍රාර්තනා කරන) භවතෘෂ්ණාව ද,

11. භව (ශාශ්වත වශයෙන් උපදනා) දෘෂ්ටිය ද,
විභව (උච්ඡේද වශයෙන් උපදනා) දෘෂ්ටිය ද,

12. ශාශ්වත දෘෂ්ටිය ද,
උච්ඡේද දෘෂ්ටිය ද,

13. අන්තවත් දෘෂ්ටිය ද,
අනන්තවත් දෘෂ්ටිය ද,

14. පූර්වාන්තය අනුව ගිය දෘෂ්ටිය ද,
අපරාන්තය අනුව ගිය දෘෂ්ටිය ද,

15. අහ්‍රීකය (ලජ්ජා නැති බව) ද,
අනපත්‍රපාව (බිය නො වන බව) ද,

16. හ්‍රීය (ලජ්ජාව) ද,
අපත්‍රපාව (බිය වීම) ද,

17. දුර්වච බව ද,
සුවච බව ද,

18. සොවචස්සතා ච, 1333
කල්‍යාණමිත්තතා ච, 1334

19. ආපත්තිකුසලතා ච, 1335
ආපත්තිවුට්ඨානකුසලතා ච, 1336

20. සමාපත්තිකුසලතා ච, 1337
සමාපත්තිවුට්ඨානකුසලතා ච, 1338

21. ධාතුකුසලතා ච, 1339
මනසිකාරකුසලතා ච, 1340

22. ආයතනකුසලතා ච, 1341
පටිච්චසමුප්පාදකුසලතා ච, 1342

23. ඨානකුසලතා ච, 1343
අට්ඨානකුසලතා ච, 1344

24. අජ්ජවො ච, 1345
මද්දවො ච, 1346

25. ඛන්ති ච, 1347
සොරච්චඤ්ච, 1348

26. සාඛල්‍යඤ්ච, 1349
පටිසන්ථාරො ච, 1350

27. ඉන්ද්‍රියෙසු අගුත්තද්වාරතා ච, 1351
භොජනෙ අමත්තඤ්ඤුතා ච, 1352

28. ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරතා ච, 1353
භොජනෙ මත්තඤ්ඤුතා ච, 1354

29. මුට්ඨස්සච්චඤ්ච, 1355
අසම්පජඤ්ඤඤ්ච, 1356

30. සති ච, 1357
සම්පජඤ්ඤඤ්ච. 1358

31. පටිසඞ්ඛානබලඤ්ච, 1359
භාවනාබලඤ්ච, 1360

32. සමථො ච, 1361
විපස්සනා ච, 1362

33. සමථනිමිත්තඤ්ච, 1363
පග්ගාහනිමිත්තඤ්ච, 1364

34. පග්ගාහො ච, 1365
අවික්ඛෙපො ච, 1366

35. සීලවිපත්ති ච, 1367
දිට්ඨිවිපත්ති ච, 1368

18. පාපමිත්‍රයන් ඇති බව ද,
කල්‍යාණමිත්‍රයන් ඇති බව ද,

19. ආපත්තියෙහි කුශල බව ද,
ආපත්තියෙන් නැඟී සිටීමෙහි කුශල බව ද,

20. සමාපත්තියෙහි කුශල බව ද,
සමාපත්තියෙන් නැඟී සිටීමෙහි කුශල බව ද,

21. (අටළොස්) ධාතුයෙහි කුශල බව ද,
(ධාතු) මනසිකාරයෙහි කුශල බව ද,

22. (චක්ෂුරාදි) ආයතනයෙහි කුශල බව ද,
ප්‍රතීත්‍යසමුත්පාදයෙහි කුශල බව ද,

23 ඨාන (කාරණයෙහි) කුශල බව ද,
අට්ඨාන (අකාරණයෙහි) කුශල බව ද,

24. ඍජු බව ද,
මෘදු බව ද,

25 ක්ෂාන්තිය (ඉවසීම) ද,
සුරත බව ද,

26. සඛිල (මෘදු) බව ද,
(ධර්මාමිෂයෙන්) පටිසන්ථාරය ද,

27. ඉන්ද්‍රියයන්හි නො පියූ දොර ඇති බව ද,
භොජනයෙහි පමණ නො දන්නා බව ද,

28. ඉන්ද්‍රියයන්හි පියූ දොර ඇති බව ද,
භොජනයෙහි පමණදන්නා බව ද,

29. මුඨස්සමෘති (මුළා සිහි ඇති) බව ද,
සම්‍යක්ප්‍රඥ නැති බව ද,

30. ස්මෘතිය ද,
සම්‍යක්ප්‍රඥ ඇති බව ද,

31. පටිසංඛාන (ප්‍රත්‍යවෙක්ෂා) බලය ද,
භාවනා බලය ද,

32. ශමථය ද,
විදර්ශනාව ද,

33. ශමථ නිමිත්ත ද,
ප්‍රග්‍රාහ නිමිත්ත ද,

34. ප්‍රග්‍රාහය ද,
අවික්ෂෙපය ද,

35. ශීලවිපත්තිය ද,
දෘෂ්ටිවිපත්තිය ද,

36. සීලසම්පදා ච, 1369
දිට්ඨිසම්පදා ච, 1370

37 සීලවිසුද්ධි ච, 1371
දිට්ඨිවිසුද්ධි ච, 1372

38. දිට්ඨිවිසුද්ධි ඛො පන, 1373
යථාදිට්ඨිස්ස ච පධානං, 1374

39. සංවෙගො ච සංවෙජනියෙසු ඨානෙසු, 1375
සංවිග්ගස්ස ච යොනිසො පධානං, 1376

40. අසන්තුට්ඨිතා ච කුසලෙසු ධම්මෙසු, 1377
අප්පටිවානිතා ච පධානස්මිං, 1378

41. විජ්ජා ච, 1379
විමුත්ති ච, 1380

42. ඛයෙ ඤාණං, 1381
අනුප්පාදෙ ඤාණන්ති. 1382

සුත්තන්තමාතිකා

මාතිකා නිට්ඨිතා.

36. ශීලසම්පත්තිය ද,
දෘෂ්ටිසම්පත්තිය ද,

37. ශීලවිශුද්ධිය ද,
දෘෂ්ටිවිශුද්ධිය ද,

38. (කර්මස්වකතාඥාන සඞ්ඛ්‍යාත වූ) දෘෂ්ටිවිශුද්ධිය ද,
අනුරූපදෘෂ්ටි ඇත්තහුගේ වීර්යය ද,

39. සංවේජනීය කාරණයෙහි සංවේගය ද,
සංවිග්න වූවහුගේ සම්‍යක්ප්‍රධාන් වීර්යය ද,

40. කුශලධර්මපූරණයෙහි අසන්තුෂ්ටි බව ද,
ප්‍රධාන්වීර්යයෙහි නො නවත්නා බව ද,

41. ත්‍රිවිද්‍යාව ද,
විමුක්තිය ද,

42. (කෙලශක්ෂය සඞ්ඛ්‍යාත) ආර්යමාර්ගයෙහි ඥානය,
අනුත්පාදයෙහි (ආර්යඵලයෙහි) ඥානය යි.

**සුත්‍රාන්තමාතෘකා යි.**

**මාතෘකා නිමි.**

1. කතමෙ ධම්මා කුසලා?

යස්මිං සමයෙ කාමාවචරං කුසලං චිත්තං උප්පන්නං හොති සොමනස්සසහගතං ඤාණසම්පයුත්තං රූපාරම්මණං වා සද්දාරම්මණං වා ගන්ධාරම්මණං වා රසාරම්මණං වා ඵොට්ඨබ්බාරම්මණං වා ධම්මාරම්මණං වා යං යං වා පනාරබ්භ. තස්මිං සමයෙ ඵස්සො හොති, වෙදනා හොති, සඤ්ඤා හොති, චෙතනා හොති, චිත්තං හොති, විතක්කො හොති, විචාරො හොති, පීති හොති, සුඛං හොති, චිත්තස්සෙකග්ගතා හොති, සද්ධින්ද්‍රියං හොති, විරියින්ද්‍රියං හොති, සතින්ද්‍රියං හොති, සමාධින්ද්‍රියං හොති, පඤ්ඤින්ද්‍රියං හොති, මනින්ද්‍රියං හොති, සොමනස්සින්ද්‍රියං හොති, ජීවිතින්ද්‍රියං හොති, සම්මාදිට්ඨි හොති, සම්මාසංකප්පො හොති, සම්මාවායාමො හොති, සම්මාසති හොති, සම්මාසමාධි හොති, සද්ධාබලං හොති, විරියබලං හොති, සතිබලං හොති, සමාධිබලං හොති, පඤ්ඤාබලං හොති, හිරිබලං හොති, ඔත්තප්පබලං හොති, අලොභො හොති, අදොසො හොති, අමොහො හොති, අනභිජ්ඣා හොති, අව්‍යාපාදො හොති, සම්මාදිට්ඨි හොති, හිරි හොති, ඔත්තප්පං හොති කායපස්සද්ධි හොති, චිත්තපස්සද්ධි හොති, කායලහුතා හොති, චිත්තලහුතා හොති, කායමුදුතා හොති, චිත්තමුදුතා හොති, කායකම්මඤ්ඤතා හොති, චිත්තකම්මඤ්ඤතා හොති, කායපාගුඤ්ඤතා හොති, චිත්තපාගුඤ්ඤතා හොති, කායුජ්ජුකතා හොති, චිත්තුජ්ජුකතා හොති, සති හොති, සම්පජඤ්ඤං හොති, සමථො හොති, විපස්සනා හොති, පග්ගාහො හොති, අවික්ඛෙපො හොති, යෙ වා පන තස්මිං සමයෙ අඤ්ඤෙ'පි අත්ථි පටිච්චසමුප්පන්නා අරූපිනො ධම්මා-ඉමෙ ධම්මා කුසලා.

2. කතමො තස්මිං සමයෙ ඵස්සො හොති?

යො තස්මිං සමයෙ ඵස්සො ඵුසනා සම්ඵුසනා සම්ඵුසිතත්තං - අයං තස්මිං සමයෙ ඵස්සො හොති.

3. කතමා තස්මිං සමයෙ වෙදනා හොති?

යං තස්මිං සමයෙ තජ්ජාමනොවිඤ්ඤාණධාතුසම්ඵස්සජං චෙතසිකං සාතං චෙතසිකං සුඛං චෙතොසම්ඵස්සජං සාතං සුඛං වෙදයිතං චෙතොසම්ඵස්සජා සාතා සුඛා වෙදනා-අයං තස්මිං සමයෙ වෙදනා හොති.

4. කතමා තස්මිං සමයෙ සඤ්ඤා හොති?

යා තස්මිං සමයෙ තජ්ජාමනොවිඤ්ඤාණධාතුසම්ඵස්සජා සඤ්ඤා සඤ්ජානිතත්තං-අයං තස්මිං සමයෙ සඤ්ඤා හොති.

5. කතමා තස්මිං සමයෙ චෙතනා හොති?

යා තස්මිං සමයෙ තජ්ජාමනොවිඤ්ඤාණධාතුසම්ඵස්සජා චෙතනා සංචෙතනා චෙතයිතත්තං[1] - අයං තස්මිං සමයෙ චෙතනා හොති.

1. සංචෙතයිතත්තං - PTS.

1. කවර දහම්හු කුසල්හ යත්:

යම් කලෙක්හි රූපාලම්බන චේවයි ශබ්දාලම්බන චේවයි ගන්ධාලම්බන චේවයි රසාලම්බන චේවයි ස්ප්‍රෂ්ටව්‍යාලම්බන චේවයි ධර්මාලම්බන චේවයි යම් යම් අරමුණෙකැ හෝ එල්බැ සොම්නස් සහගිය ඥාන සම්ප්‍රයුක්ත කාමාවචර කුශල චිත්තය උපදනේ (සංඥානුප්‍රයගත) වේ ද, එසමයෙහි ස්පර්ශය වෙයි, වෙදනාව වෙයි, සංඥාව වෙයි, චෙතනාව වෙයි, චිත්තය වෙයි, විතර්කය වෙයි, විචාරය වෙයි, ප්‍රීතිය වෙයි, සුඛය වෙයි, චිත්තයාගේ එකාග්‍රතාව වෙයි, ශ්‍රද්ධෙන්ද්‍රිය වෙයි, වීර්යෙන්ද්‍රිය වෙයි, සමෘතීන්ද්‍රිය වෙයි, සමාධීන්ද්‍රිය වෙයි, ප්‍රඥෙන්ද්‍රිය වෙයි; මනින්ද්‍රිය වෙයි, සොම්නස්සින්ද්‍රිය වෙයි, ජීවිතෙන්ද්‍රිය වෙයි, සම්‍යග්දෘෂ්ටිය වෙයි, සම්‍යක්-සංකල්පය වෙයි, සම්‍යග් ව්‍යායාමය වෙයි, සම්‍යක්සමෘතිය වෙයි, සම්‍යක් සමාධිය වෙයි, ශ්‍රද්ධාබලය වෙයි, වීර්‍ය්‍යබලය වෙයි, සමෘතිබලය වෙයි, සමාධිබලය වෙයි, ප්‍රඥාබලය වෙයි, හිරිබලය වෙයි; ඔත්තප්පබලය වෙයි, අලොභය වෙයි, අද්වෙෂය වෙයි, අමොහය වෙයි, අනභිධ්‍යාව වෙයි, අව්‍යාපාදය වෙයි, සම්‍යග්දෘෂ්ටිය වෙයි, හිරිය වෙයි, ඔත්තප්පය වෙයි, කායප්‍රශ්‍රබ්ධිය වෙයි, චිත්තප්‍රශ්‍රබ්ධිය වෙයි, කායලඝුත්වය වෙයි, චිත්තලඝුත්වය වෙයි, කායමෘදුත්වය වෙයි, චිත්තමෘදුත්වය වෙයි, කායකර්මණ්‍යතාව වෙයි, චිත්තකර්මණ්‍යතාව වෙයි, කායප්‍රාගුණ්‍යතාව වෙයි, චිත්තප්‍රාගුණ්‍යතාව වෙයි, කාය-ඍජුත්වය වෙයි, චිත්ත-ඍජුත්වය වෙයි, සමෘතිය වෙයි, සම්‍යග්ඥානය වෙයි, ශමථය වෙයි, විදර්ශනාව වෙයි, ප්‍රග්‍රාහය වෙයි, අවික්ෂෙපය වේ. එසමයෙහි අන්‍ය වූ ද ප්‍රතීත්‍යසමුත්පන්න වූ යම් අරූපී ධර්ම කෙනෙක් හෝ වෙත් නම් මේ ධර්මයෝ කුශලයෝ යි.

2. කවරෙක් එසමයෙහි (කාමාවචර මහාකුශලචිත්තය උපදනා ඇසිල්ලෙහි) ස්පර්ශ වෙයි යත්:

එසමයෙහි යම් ස්පර්ශයෙක් ස්පර්ශ කරන අයුරෙක් මොනොවට ස්පර්ශ කරන අයුරෙක් මොනොවට ස්පර්ශ කළ බවෙක් වේ ද මේ එසමයෙහි ස්පර්ශය වේ.

3. කවරක් එසමයෙහි වෙදනා වෙයි යත්:

එසමයෙහි තදනුරූප මනොවිඥානධාතුහුගේ සංස්පර්ශයෙන් උපන් චෛතසික වූ යම් මිහිරෙක් චෛතසික සුඛයෙක් චිත්තසංස්පර්ශයෙන් උපන් මධුර වූ වෙදයිතයෙක් චිත්තසංස්පර්ශයෙන් උපන් මධුර වූ සුඛ වෙදනාවෙක් වේ ද මේ - එසමයෙහි වෙදනාව වේ.

4. කවරක් එසමයෙහි සංඥා වෙයි යත්:

එසමයෙහි තදනුරූප වූ මනොවිඥානධාතු සංස්පර්ශයෙන් උපන් යම් සංඥාවෙක් සඤ්ජානනාකාරයෙක් හැඳිනගත් බවෙක් වේ ද - මේ එසමයෙහි සංඥාව වේ.

5. කවරක් එසමයෙහි චෙතනා වෙයි යත්:

එසමයෙහි තදනුරූප වූ මනොවිඥානධාතු සංස්පර්ශයෙන් උපන් යම් චෙතනාවෙක් සඤ්චෙතනාවෙක් සිතන ලද බවෙක් වේ ද - මේ එසමයෙහි චෙතනාව වේ.

6. කතමං තස්මිං සමයෙ චිත්තං හොති?

යං තස්මිං සමයෙ චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජා මනොවිඤ්ඤාණධාතු-ඉදං තස්මිං සමයෙ චිත්තං හොති.

7. කතමො තස්මිං සමයෙ විතක්කො හොති?

යො තස්මිං සමයෙ තක්කො විතක්කො සඞ්කප්පො අප්පනා[1], ව්‍යප්පනා චෙතසො අභිනිරොපනා සම්මා සඞ්කප්පො-අයං තස්මිං සමයෙ විතක්කො හොති.

8. කතමො තස්මිං සමයෙ විචාරො හොති?

යො තස්මිං සමයෙ චාරො විචාරො අනුවිචාරො උපවිචාරො චිත්තස්ස අනුසන්ධානතා අනුපෙක්ඛණතා-අයං තස්මිං සමයෙ විචාරො හොති.

9. කතමා තස්මිං සමයෙ පීති හොති?

යා තස්මිං සමයෙ පීති පාමොජ්ජං ආමොදනා පමොදනා හාසො පහාසො විත්ති ඔදග්‍යං අත්තමනතා චිත්තස්ස - අයං තස්මිං සමයෙ පීති හොති.

10. කතමා තස්මිං සමයෙ සුඛං හොති?

යං තස්මිං සමයෙ චෙතසිකං සාතං චෙතසිකං සුඛං චෙතොසම්ඵස්සජං සාතං සුඛං වෙදයිතං චෙතොසම්ඵස්සජා සාතා සුඛවෙදනා-ඉදං තස්මිං සමයෙ සුඛං හොති.

11. කතමා තස්මිං සමයෙ චිත්තස්සෙකග්ගතා හොති?

යා තස්මිං සමයෙ චිත්තස්ස ඨිති සණ්ඨිති අවට්ඨිති අවිසාහාරො අවික්ඛෙපො අවිසාහටමානසතා සමථො සමාධින්ද්‍රියං සමාධිබලං සම්මා සමාධි-අයං තස්මිං සමයෙ චිත්තස්සෙ'කග්ගතා හොති.

12. කතමං තස්මිං සමයෙ සද්ධින්ද්‍රියං හොති?

යා තස්මිං සමයෙ සද්ධා සද්දහනා ඔකප්පනා අභිප්පසාදො සද්ධා සද්ධින්ද්‍රියං සද්ධාබලං-ඉදං තස්මිං සමයෙ සද්ධින්ද්‍රියං හොති.

1. අප්පණා-අසා

6. කවරක් එසමයෙහි චිත්ත වෙයි යත්:

එසමයෙහි යම් චිත්තයෙක් මනසෙක් මානසයෙක් සිතෙක් (පණ්ඩර වූ) භවාඞ්ග සිතෙක් මනසෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප වූ මනොවිඥනධාතුයෙක් වේ ද – මේ එසමයෙහි **චිත්තය** වේ.

7. කවරෙක් එසමයෙහි විතර්ක වෙයි යත්:

එසමයෙහි යම් තර්කයෙක් විතර්කයෙක් සංකල්පයෙක් අර්පණයෙක් බලවත් අර්පණයෙක් (අරමුණෙහි) සිත පිහිටුවීමෙක් සම්‍යක්සංකල්පයෙක් වේ ද – මේ එසමයෙහි **විතර්කය** වේ.

8. කවරෙක් එසමයෙහි විචාර වෙයි යත්:

එසමයෙහි යම් (අරමුණෙහි හැසිරෙන) චාරයෙක් විචාරයෙක් අනුවිචාරයෙක් උපවිචාරයෙක් (අරමුණෙහි) සිත ගළපන බවෙක් අනුප්‍රෙක්‍ෂණතායෙක් වේ ද – මේ එසමයෙහි **විචාරය** වේ.

9. කවරක් එසමයෙහි ප්‍රීති වෙයි යත්:

එසමයෙහි යම් ප්‍රීතියෙක් ප්‍රාමොද්‍ය (තරුණප්‍රීති)යෙක් ආමොදනාකාරයෙක් ප්‍රමොදනාකාරයෙක් හර්ෂයෙක් ප්‍රහර්ෂයෙක් ප්‍රීතිධනයෙක් ඔදවැඩි බවෙක් චිත්තයා ගේ සතුටු බවෙක් වේ ද – මේ එසමයෙහි **ප්‍රීතිය** වේ.

10. කවරෙක් එසමයෙහි සුඛ වෙයි යත්:

එසමයෙහි යම් චෛතසික මිහිරෙක් චෛතසික සුඛයෙක් චිත්ත සංස්පර්ශයෙන් උපන් සාතසුඛවෙදයිතයෙක් චිත්තසංස්පර්ශයෙන් උපන් සාතසුඛවෙදනායෙක් වේ ද – මේ එසමයෙහි **සුඛවෙදනාව** වේ

11. කවරක් එසමයෙහි චිත්තෛකාග්‍රතා වෙයි යත්:

එසමයෙහි චිත්තයා ගේ යම් (නිසල බැවින් අරමුණෙහි) සිටීමෙක් බැසගෙන සිටීමෙක් නො විසිරීමෙක් අවික්‍ෂෙපයෙක් නො විසුරුණු සිත ඇති බවෙක් ශමථයෙක් සමාධීන්ද්‍රියයෙක් සමාධිබලයෙක් සම්‍යක් සමාධියෙක් වේ ද – මේ එසමයෙහි **චිත්තෛකාග්‍රතා** වේ.

12. කවරෙක් එසමයෙහි ශ්‍රද්ධෙන්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි යම් ශ්‍රද්ධාවෙක් හැදැහීම් අයුරෙක් (ගුණයෙහි) බැසගැනීමෙක් අභිප්‍රසාදයෙක් සැදැහැයෙක් ශ්‍රද්ධෙන්ද්‍රියයෙක් ශ්‍රද්ධාබලයෙක් වේ ද – මේ එසමයෙහි **ශ්‍රද්ධෙන්ද්‍රිය** වේ.

13. කතමං තස්මිං සමයෙ විරියින්ද්‍රියං හොති?

යො තස්මිං සමයෙ චෙතසිකො විරියාරම්භො නික්කමො[1] පරක්කමො උය්‍යාමො වායාමො උස්සාහො උස්සොළ්හී ථාමො ධිති අසිථිලපරක්කමතා අනික්ඛිත්තඡන්දතා අනික්ඛිත්තධුරතා ධුරසම්පග්ගාහො විරියං විරියින්ද්‍රියං විරියබලං සම්මාවායාමො - ඉදං තස්මිං සමයෙ විරියින්ද්‍රියං හොති.

14. කතමං තස්මිං සමයෙ සතින්ද්‍රියං හොති?

යා තස්මිං සමයෙ සති අනුස්සති පටිස්සති සති සරණතා ධාරණතා අපිලාපනතා අසම්මුස්සනතා සති සතින්ද්‍රියං සතිබලං සම්මාසති - ඉදං තස්මිං සමයෙ සතින්ද්‍රියං හොති.

15. කතමං තස්මිං සමයෙ සමාධින්ද්‍රියං හොති?

යා තස්මිං සමයෙ චිත්තස්ස ඨිති සණ්ඨිති අවට්ඨිති අවිසාහාරො අවික්ඛෙපො අවිසාහටමානසතා සමථො සමාධින්ද්‍රියං සමාධිබලං සම්මාසමාධි - ඉදං තස්මිං සමයෙ සමාධින්ද්‍රියං හොති.

16. කතමං තස්මිං සමයෙ පඤ්ඤින්ද්‍රියං හොති?

යා තස්මිං සමයෙ පඤ්ඤා පජානනා විචයො පවිචයො ධම්මවිචයො සල්ලක්ඛණා උපලක්ඛණා පච්චුපලක්ඛණා පණ්ඩිච්චං කොසල්ලං නෙපුඤ්ඤං වෙභව්‍යා චින්තා උපපරික්ඛා භූරී මෙධා පරිනායිකා විපස්සනා සම්පජඤ්ඤං පතොදො පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං පඤ්ඤාබලං පඤ්ඤාසත්ථං පඤ්ඤාපාසාදො පඤ්ඤාආලොකො පඤ්ඤාඔභාසො පඤ්ඤාපජ්ජොතො පඤ්ඤාරතනං අමොහො ධම්මවිචයො සම්මාදිට්ඨි - ඉදං තස්මිං සමයෙ පඤ්ඤින්ද්‍රියං හොති.

17. කතමං තස්මිං සමයෙ මනින්ද්‍රියං හොති?

යං තස්මිං සමයෙ චිත්තං මනො මානසං හදයං පණ්ඩරං මනො මනායතනං මනින්ද්‍රියං විඤ්ඤාණං විඤ්ඤාණක්ඛන්ධො තජ්ජාමනොවිඤ්ඤාණධාතු - ඉදං තස්මිං සමයෙ මනින්ද්‍රියං හොති.

1. නික්ඛමො - අසා.

13. කවරෙක් එසමයෙහි වීර්‍ය්‍යෙන්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි යම් චෛතසික වූ වීර්‍ය්‍යාරම්භයෙක් නිෂ්ක්‍රම (කුසීත බැවින් නික්මෙන) වීර්‍ය්‍යයෙක් පරාක්‍රම (වීර්‍ය්‍ය)යෙක් උද්‍යමයෙක් ව්‍යායාමයෙක් උත්සාහයෙක් අධිමාත්‍ර උත්සාහයෙක් දෘඪපරාක්‍රම (ථාම)යෙක් ධෛර්‍ය්‍යයෙක් ස්ථිර පරාක්‍රමතායෙක් නො තැබූ ඡන්දය ඇති බවෙක් නො තැබූ වීර්‍ය්‍යධුර ඇති බවෙක් වීර්‍ය්‍යය දැඩි වැ ගැනීමෙක් වේ ද, වීර්‍ය්‍යෙන්ද්‍රියයෙක් වීර්‍ය්‍යබලයෙක් සම්‍යග්ව්‍යායාමයෙක් වේ ද - මේ එසමයෙහි වීර්‍ය්‍යෙන්ද්‍රිය වේ.

14. කවරෙක් එසමයෙහි ස්මෘතීන්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි යම් ස්මෘතියෙක් (සිහි කිරීමෙක්) පුනපුනා සිහි කිරීමෙක් අභිමුඛ කොට සිහි කිරීමෙක්, ස්මෘති සඞ්ඛ්‍යාත සිහි කරන අයුරෙක් දරන බවෙක් අරමුණෙහි පිවිසෙන බවෙක් සිහිය නො නස්නා බවෙක් ස්මෘතියෙක් ස්මෘතීන්ද්‍රියයෙක් ස්මෘතිබලයෙක් සම්‍යක්ස්මෘතියෙක් වේ ද - මේ එසමයෙහි ස්මෘතීන්ද්‍රිය වේ.

15. කවරෙක් එසමයෙහි සමාධීන්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි චිත්තයාගේ යම් සිටීමෙක් මොනවට සිටීමෙක් බැසැගෙන සිටීමෙක් නො විසිරීමෙක් අවික්ෂෙපයෙක් නො විසුරුණු සිත ඇති බවෙක් ශමථයෙක් සමාධීන්ද්‍රියයෙක් සමාධිබලයෙක් සම්‍යක් සමාධියෙක් වේ ද - මේ එසමයෙහි සමාධීන්ද්‍රිය වේ.

16. කවරෙක් එසමයෙහි ප්‍රඥෙන්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි යම් ප්‍රඥයෙක් දන්නා අයුරෙක් (අනිත්‍යාදිය) විමසීමෙක් ප්‍රවිචයයෙක් ධර්මවිචයයෙක් (අනිත්‍යාදිය) සැලැකීමෙක් උපලක්ෂණයෙක් ප්‍රත්‍යුපලක්ෂණයෙක් පණ්ඩිත බවෙක් කුශල බවෙක් නිපුණ බවෙක් විභාවනයෙක් චින්තායෙක් උපපරීක්ෂායෙක් භූරිප්‍රඥයෙක් (කෙලෙසුන් නසන හෙයින්) මේධායෙක් පරිණායිකායෙක් විදර්ශනායෙක් සම්‍යග් ඥනයෙක් (සිත විදර්ශනාවීථියට නහන) පතොදයෙක් ප්‍රඥයෙක් ප්‍රඥෙන්ද්‍රියයෙක් ප්‍රඥබලයෙක් ප්‍රඥශස්ත්‍රයෙක් ප්‍රඥප්‍රාසාදයෙක් ප්‍රඥ-ආලොකයෙක් ප්‍රඥවභාසයෙක් ප්‍රඥප්‍රද්‍යොතයෙක් ප්‍රඥරත්නයෙක් අමොහයෙක් ධර්මවිචයෙක් සම්‍යග්දෘෂ්ටියෙක් වේ ද, මේ එසමයෙහි ප්‍රඥෙන්ද්‍රිය වේ.

17. කවරෙක් එසමයෙහි මනින්ද්‍රිය වෙයි යත්:

එසමයෙහි යම් චිත්තයෙක් මනසෙක් මානසයෙක් චිත්තයෙක් භවාඞ්ගචිත්තයෙක් මනසෙක් මනායතනයෙක් මනින්ද්‍රියයෙක් විඥනස්කන්ධයෙක් තදනුරූප වූ මනොවිඥනධාතුයෙක් වේ ද, මේ එසමයෙහි මනින්ද්‍රිය වේ.

18. කතමං තස්මිං සමයෙ සොමනස්සින්ද්‍රියං හොති?

යං තස්මිං සමයෙ චෙතසිකං සාතං චෙතසිකං සුඛං චෙතොසම්ඵස්සජං සාතං සුඛං වෙදයිතං චෙතොසම්ඵස්සජා සාතා සුඛා වෙදනා–ඉදං තස්මිං සමයෙ **සොමනස්සින්ද්‍රියං** හොති.

19. කතමං තස්මිං සමයෙ ජීවිතින්ද්‍රියං හොති?

යො තෙසං අරූපීනං ධම්මානං ආයු ඨිති යපනා යාපනා ඉරියනා වත්තනා පාලනා ජීවිතං ජීවිතින්ද්‍රියං–ඉදං තස්මිං සමයෙ **ජීවිතින්ද්‍රියං** හොති.

20. කතමා තස්මිං සමයෙ සම්මාදිට්ඨි හොති?

යා තස්මිං සමයෙ පඤ්ඤා පජානනා විචයො පවිචයො ධම්මවිචයො සල්ලක්ඛණා පච්චුපලක්ඛණා පණ්ඩිච්චං කොසල්ලං නෙපුඤ්ඤං වෙභබ්‍යා චින්තා උපපරික්ඛා භූරි මෙධා පරිනායිකා විපස්සනා සම්පජඤ්ඤං පතොදො පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං පඤ්ඤාබලං පඤ්ඤාසත්ථං පඤ්ඤාපාසාදො පඤ්ඤාආලොකො පඤ්ඤාඔභාසො පඤ්ඤාපජ්ජොතො පඤ්ඤාරතනං අමොහො ධම්මවිචයො සම්මාදිට්ඨි – අයං තස්මිං සමයෙ **සම්මාදිට්ඨි** හොති.

21. කතමො තස්මිං සමයෙ සම්මාසංකප්පො හොති?

යො තස්මිං සමයෙ තක්කො විතක්කො සංකප්පො අප්පනා ව්‍යප්පනා චෙතසො අභිනිරොපනා සම්මාසංකප්පො – අයං තස්මිං සමයෙ **සම්මාසංකප්පො** හොති.

22. කතමො තස්මිං සමයෙ සම්මාවායාමො හොති?

යො තස්මිං සමයෙ චෙතසිකො විරියාරම්භො නික්කමො පරක්කමො උය්‍යාමො වායාමො උස්සාහො උස්සොළ්හී ථාමො ඨිති අසිථිලපරක්කමතා අනික්ඛිත්තච්ඡන්දතා අනික්ඛිත්තධුරතා ධුරසම්පග්ගාහො විරියං විරියින්ද්‍රියං විරියබලං සම්මාවායාමො – අයං තස්මිං සමයෙ **සම්මාවායාමො** හොති.

23. කතමා තස්මිං සමයෙ සම්මාසති හොති?

යා තස්මිං සමයෙ සති අනුස්සති පටිස්සති සති සරණතා ධාරණතා අපිලාපනතා අපම්මුස්සනතා සති සතින්ද්‍රියං සතිබලං සම්මාසති – අයං තස්මිං සමයෙ **සම්මාසති** හොති.

999. කවර ධර්මයෝ අනුපාදින්න - උපාදානීය වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශල ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, නො ම කුශල වූ අකුශල නො වූ නො ද කර්මවිපාක වූ යම් ක්‍රියාධර්ම කෙනෙකුත් වෙත් ද, කර්මය කළ හෙයින් නො වූ යම් රූපයෙකුත් වේ ද, මේ ධර්මයෝ අනුපාදින්න - උපාදානීයයෝ යි.

1000. කවර ධර්මයෝ අනුපාදින්න - අනුපාදානීය වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසංඛත (-නිර්වාණ) ධාතුව ද යි මේ ධර්මයෝ අනුපාදින්න - අනුපාදානීයයෝ යි.

1001. කවර ධර්මයෝ සඞ්කිලිට්ඨ සඞ්කිලෙසික වෙති යත්:

ලෝභ ද්වේෂ මෝහ යන තුන් අකුශලමූලයෝ ය, තදේකස්ථ වූ ක්ලේශයෝ ය, තත්සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, තත්සමුත්ථිත වූ කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම ය, මේ ධර්මයෝ සංක්ලිෂ්ටසාංක්ලෙශිකයෝ යි.

1002. කවර ධර්මයෝ අසඞ්කිලිට්ඨසඞ්කිලෙසික වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාව්‍යාකෘතධර්මයෝ ය, රූපස්කන්ධ ය වේදනාස්කන්ධ ය සංඥාස්කන්ධ ය සංස්කාරස්කන්ධ ය විඥානස්කන්ධ ය, මේ ධර්මයෝ අසංක්ලිෂ්ටසාංක්ලෙශිකයෝ යි.

1003. කවර ධර්මයෝ අසඞ්කිලිට්ඨ අසඞ්කිලෙසික වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසංඛත (-නිර්වාණ) ධාතුව ද යි මේ ධර්මයෝ අසංක්ලිෂ්ට - අසාංක්ලෙශිකයෝ යි.

1004. කවර ධර්මයෝ සවිතර්ක - සවිචාර වෙති යත්:

කාමාවචරයෙහි රූපාවචරයෙහි, අපරියාපන්නයෙහි සවිතර්ක සවිචාර- භූමියෙහි වූ විතර්කවිචාරයන් තබා තත් (-සවිතර්කසවිචාර චිත්තය හා) සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය. මේ ධර්මයෝ සවිතර්ක සවිචාරයෝ යි.

1005. කවර ධර්මයෝ අවිතර්කවිචාරමාත්‍ර වෙති යත්:

රූපාවචරයෙහි අපරියාපන්නයෙහි අවිතර්ක විචාරමාත්‍රභූමියෙහි වූ විචාරය තබා ඒ අවිතර්කවිචාරමාත්‍රචිත්තය හා සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය... විඥානස්කන්ධ ය, මේ ධර්මයෝ අවිතර්කවිචාරමාත්‍රයෝ යි.

1006. කතමෙ ධම්මා අවිතක්කඅවිචාරා?

අවිතක්කඅවිචාරභූමියං කාමාවචරෙ රූපාවචරෙ අරූපාවචරෙ අපරියාපන්නෙ වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අවිතක්කඅවිචාරා.

1007 කතමෙ ධම්මා පීතිසහගතා?

පීතිභූමියං කාමාවචරෙ රූපාවචරෙ අපරියාපන්නෙ පීතිං ඨපෙත්වා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා පීතිසහගතා.

1008. කතමෙ ධම්මා සුඛසහගතා?

සුඛභූමියං කාමාවචරෙ රූපාවචරෙ අපරියාපන්නෙ සුඛං ඨපෙත්වා තංසම්පයුත්තො සඤ්ඤාක්ඛන්ධො සඞ්ඛාරක්ඛන්ධො විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සුඛසහගතා.

1009. කතමෙ ධම්මා උපෙක්ඛාසහගතා?

උපෙක්ඛාභූමියං කාමාවචරෙ රූපාවචරෙ අරූපාවචරෙ අපරියාපන්නෙ උපෙක්ඛං ඨපෙත්වා තංසම්පයුත්තො සඤ්ඤාක්ඛන්ධො සඞ්ඛාරක්ඛන්ධො විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා උපෙක්ඛාසහගතා.

1010. කතමෙ ධම්මා දස්සනෙන පහාතබ්බා?

තීණි සඤ්ඤොජනානි: සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාසො.

1011. තත්ථ කතමා සක්කායදිට්ඨි?

ඉධ අස්සුතවා පුථුජ්ජනො අරියානං අදස්සාවී අරියධම්මස්ස අකොවිදො අරියධම්මෙ අවිනීතො, සප්පුරිසානං අදස්සාවී සප්පුරිසධම්මස්ස අකොවිදො සප්පුරිසධම්මෙ අවිනීතො රූපං අත්තතො සමනුපස්සති, රූපවන්තං වා අත්තානං, අත්තනි වා රූපං, රූපස්මිං වා අත්තානං. වෙදනං අත්තතො සමනුපස්සති, වෙදනාවන්තං වා අත්තානං, අත්තනි වා වෙදනං, වෙදනාය වා අත්තානං. සඤ්ඤං අත්තතො සමනුපස්සති, සඤ්ඤාවන්තං වා අත්තානං, අත්තනි වා සඤ්ඤං, සඤ්ඤාය වා අත්තානං. සඞ්ඛාරෙ අත්තතො සමනුපස්සති, සඞ්ඛාරවන්තං වා අත්තානං, අත්තනි වා සඞ්ඛාරෙ, සඞ්ඛාරෙසු වා අත්තානං. විඤ්ඤාණං අත්තතො සමනුපස්සති, විඤ්ඤාණවන්තං වා අත්තානං, අත්තනි වා විඤ්ඤාණං, විඤ්ඤාණස්මිං වා අත්තානං.-

1006. කවර ධම්මයෝ අවිතක්ක - අවිචාර වෙති යත්:

කාමාවචරයෙහි රූපාවචරයෙහි අරූපාවචරයෙහි අපරියාපන්නයෙහි අවිතක්ක - අවිචාරභූමියෙහි වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛත (නිබ්බාන) ධාතුව දැයි මේ ධම්මයෝ අවිතක්ක - අවිචාරයෝ යි.

1007. කවර ධම්මයෝ ප්‍රීතිසහගත වෙති යත්:

කාමාවචරයෙහි රූපාවචරයෙහි අපරියාපන්නයෙහි ප්‍රීතිභූමියෙහි වූ, ප්‍රීතිය තබා ඒ (ප්‍රීතිය උපදනා සිත හා) සම්ප්‍රයොග වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ යි. මේ ධම්මයෝ ප්‍රීතිසහගතයෝ යි.

1008. කවර ධම්මයෝ සුඛසහගත වෙති යත්:

කාමාවචරයෙහි රූපාවචරයෙහි අපරියාපන්නයෙහි සුඛභූමියෙහි වූ සුඛය තබා ඒ (සුඛභූමිය) හා සම්ප්‍රයොග වූ සංඥාස්කන්ධ ය සංස්කාරස්කන්ධ ය විඥානස්කන්ධ යි. මේ ධම්මයෝ සුඛසහගතයෝ යි

1009. කවර ධම්මයෝ උපෙක්ෂාසහගත වෙති යත්:

කාමාවචරයෙහි රූපාවචරයෙහි අරූපාවචරයෙහි අපරියාපන්නයෙහි උපෙක්ෂාභූමියෙහි වූ, උපෙක්ෂාව තබා ඒ (උපෙක්ෂාව උපදනා සිත) හා සම්ප්‍රයොග වූ සංඥාස්කන්ධ ය සංස්කාරස්කන්ධ ය විඥානස්කන්ධ යි. මේ ධම්මයෝ උපෙක්ෂාසහගතයෝ යි.

1010. කවර ධම්මයෝ දර්ශනයෙන් ප්‍රහාතව්‍ය වෙති යත්:

සත්කායදෘෂ්ටි ය විචිකිත්සා ය ශීලව්‍රතපරාමර්ශ ය යන තුන් සංයෝජනයෝ යි.

1011. එහි සත්කායදෘෂ්ටි කවරේ යත්:

මෙලොව අශ්‍රැතවත් පෘථග්ජන තෙමේ ආර්‍යයන් නො දක්නාසුලු වූයේ ආර්‍යධම්මයෙහි අකොවිද (අදක්ෂ) වූයේ ආර්‍යධම්මයෙහි අවිනීත වූයේ, සත්පුරුෂයන් නො දක්නාසුලු වූයේ සත්පුරුෂධම්මයෙහි අකොවිද වූයේ සත්පුරුෂධම්මයෙහි අවිනීත වූයේ රූපය ආත්මය යි (දෘෂ්ටිවශයෙන්) දකී. (සුවණ ඇති රූකයක් මෙන්) ආත්මය රූපවත් කොට හෝ, (මලෙහි සුවඳ මෙන්) ආත්මයෙහි රූපය හෝ, (කරඬුයෙහි මැණික මෙන්) රූපයෙහි ආත්මය හෝ දකී වේදනාව ආත්මය යි (දෘෂ්ටිදර්ශනයෙන්) දකී. ආත්මය වේදනාවත් කොට හෝ, ආත්මයෙහි වේදනාව හෝ, වේදනායෙහි ආත්මය හෝ දකී සංඥාව ආත්මයයි දකී ආත්මය සංඥාවත් කොට හෝ, ආත්මයෙහි සංඥාව හෝ, සංඥායෙහි ආත්මය හෝ දකී. සංස්කාරයන් ආත්මය යි දකී. ආත්මය සංස්කාරවත් කොට හෝ, ආත්මයෙහි සංස්කාරයන් හෝ, සංස්කාරයන්හි ආත්මය හෝ දකී. විඥානය ආත්මය යි දකී. ආත්මය විඥානවත් කොට හෝ, ආත්මයෙහි විඥානය හෝ, විඥානයෙහි ආත්මය හෝ දකී.-

යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායික[1] දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසංයොජනං ගාහො පතිට්ඨාහො[2] අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො,[3] අයං වුච්චති සක්කායදිට්ඨි.

1012. තත්ථ කතමා විචිකිච්ඡා?

සත්ථරි කඞ්ඛති විචිකිච්ඡති, ධම්මෙ කඞ්ඛති විචිකිච්ඡති, සඞ්ඝෙ කඞ්ඛති විචිකිච්ඡති, සික්ඛාය කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, අපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තාපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, ඉදප්පච්චයතා පටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු කඞ්ඛති විචිකිච්ඡති යා එවරූපා කඞ්ඛා කඞ්ඛායනා කඞ්ඛායිතත්තං විමති විචිකිච්ඡා ද්වෙළ්හකං ද්වෙධාපථො සංසයො අනෙකංසග්ගාහො ආසප්පනා පරිසප්පනා අපරියොගාහනා ථම්භිතත්තං චිත්තස්ස මනොවිලෙඛො, අයං වුච්චති විචිකිච්ඡා.

1013. තත්ථ කතමො සීලබ්බතපරාමාසො?

ඉතො බහිද්ධා සමණබ්‍රාහ්මණානං සීලෙන සුද්ධි වතෙන සුද්ධි සීලබ්බතෙන සුද්ධීති යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං[1] දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසංයොජනං ගාහො පතිට්ඨාහො[2] අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො[3], අයං වුච්චති සීලබ්බතපරාමාසො.

ඉමානි තීණි සංයොජනානි, තදෙකට්ඨා ච කිලෙසා, තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො පෙ විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා දස්සනෙන පහාතබ්බා.

1014. කතමෙ ධම්මා භාවනාය පහාතබ්බා?

අවසෙසො ලොභො දොසො මොහො, තදෙකට්ඨා ච කිලෙසා, තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො පෙ විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා භාවනාය පහාතබ්බා.

1015. කතමෙ ධම්මා නෙව දස්සනෙන න භාවනාය පහාතබ්බා?

කුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො පෙ විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නෙව දස්සනෙන න භාවනාය පහාතබ්බා.

1. දිට්ඨිවිසූකායිකං - සීමු 1, 2, 3. 2. පටිග්ගාහො - සීමු 3, මජසං, සභා, PTS
3. විපරියාසග්ගාහො - මජසං. විපරියෙසග්ගාහො - සභා, PTS.

මෙබඳු වූ යම් දෘෂ්ටියක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් දෘෂ්ටිවිසූකායිකයෙක් දෘෂ්ටිවිප්ඵන්දිතයෙක් දෘෂ්ටිසංයෝජනයෙක්, (දෘෂ්ටි) ගැනීමෙන් පිහිටා ගැනීමෙන් (නිත්‍යාදි වශයෙන්) අභිනිවේශයෙක් පරාමර්ශයෙක් කුත්සිතමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාස්වභාවයෙක් තීර්ථායතනයෙක් විපර්‍යාසග්‍රාහයෙක් වේ ද, මේ සත්කායදෘෂ්ටි යයි කියනු ලැබේ.

1012. එහි විචිකිත්සා කවර යත්:

ශාස්තෘන් වහන්සේ කෙරෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි, නවලොවුතුරා දහම්හි ... අට අරි සතුන් කෙරෙහි ... ත්‍රිවිධ ශික්ෂායෙහි, (අතීතස්කන්ධාදී) පූර්වාන්තයෙහි, (අනාගතස්කන්ධාදී) අපරාන්තයෙහි, පූර්වාන්ත අපරාන්තයෙහි, ඉදම්ප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පන්න ධර්මයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. යම් මෙබඳු වූ සැකයෙක් සැක කරන අයුරෙක් සැකයට පමුණුවන ලද බවෙක් විමතියෙක් විචිකිත්සාවෙක් ද්වෛලහකයෙක් ද්විධාපථයෙක් සංශයයෙක් අනෛකාංශග්‍රාහයෙක් ආසප්පණයෙක් පරිසප්පණයෙක් (අරමුණට) නො බැසගැනීමෙක් චිත්තයාගේ තදබැවෙක් මනෝවිලෙඛයෙක් වේ ද, මේ විචිකිත්සා යයි කියනු ලැබේ.

1013. එහි ශීලව්‍රතපරාමර්ශය කවරේ යත්:

මේ සස්නෙන් බැහැර මහණබමුණන්ගේ ශීලයෙන් ශුද්ධි ය, ව්‍රතයෙන් ශුද්ධි ය, ශීලව්‍රතයෙන් ශුද්ධි ය යි යම් මෙබඳු වූ දෘෂ්ටියක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් දෘෂ්ටිවිසූකායිකයෙක් දෘෂ්ටිවිප්ඵන්දිතයෙක් දෘෂ්ටිසංයෝජනයෙක් ග්‍රාහයෙක් පිහිටා සිටීමෙක් අභිනිවේශයෙක් පරාමර්ශයෙක් කුත්සිතමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාස්වභාවයෙක් තීර්ථායතනයෙක් විපර්‍යාසග්‍රාහයෙක් වේ ද, මේ ශීලව්‍රතපරාමර්ශ යයි කියනු ලැබේ.

මේ තුන් සංයෝජනයෝ ය, ඔවුන් හා ප්‍රහාණෛකස්ථ වූ ක්ලේශයෝ ද, ඒ තදෙකස්ථ වූ ලෝභාදි අවශේෂකෙලෙසුන් හා සම්ප්‍රයෝග වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, ඒ ලෝභාදීන් විසින් උපදවන ලද කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම ය, මේ ධර්මයෝ දර්ශනයෙන් ප්‍රහාතව්‍යයෝ යි.

1014. කවර ධර්මයෝ භාවනායෙන් ප්‍රහාතව්‍ය වෙති යත්:

අවශේෂ වූ ලෝභ ය ද්වේෂ ය මෝහ ය, (ප්‍රහාණමාර්ගයෙන්) තදෙකස්ථ වූ ක්ලේශයෝ ද, ඒ කෙලෙසුන් හා සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, තත්සමුත්ථිත වූ කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම යි. මේ ධර්මයෝ භාවනායෙන් ප්‍රහාතව්‍යයෝ යි.

1015. කවර ධර්මයෝ දර්ශනයෙන් - භාවනායෙන් නො ම ප්‍රහාතව්‍ය වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ කුශලාව්‍යාකෘත ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය .... විඥානස්කන්ධ ය, සියලු රූපය ද, අසංඛත (නිබ්බාන) ධාතු දැයි මේ ධර්මයෝ දර්ශනයෙන් නො ද භාවනායෙන් ප්‍රහාතව්‍යයෝ යි.

1016 කතමෙ ධම්මා දස්සනෙන පහාතබ්බහෙතුකා?

තීණි සඤ්ඤොජනානි: සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාසො.

තත්ථ කතමා සක්කායදිට්ඨි? ඉධ අස්සුතවා පුථුජ්ජනො -පෙ- රූපං අත්තතො සමනුපස්සති -පෙ- අයං වුච්චති සක්කායදිට්ඨි.

තත්ථ කතමා විචිකිච්ඡා? සත්ථරි කඞ්ඛති -පෙ- අයං වුච්චති විචිකිච්ඡා.

තත්ථ කතමො සීලබ්බතපරාමාසො? ඉතො බහිද්ධා සමණබ්‍රාහ්මණානං සීලෙන සුද්ධි -පෙ- අයං වුච්චති සීලබ්බතපරාමාසො.

ඉමානි තීණි සංයොජනානි තදෙකට්ඨා ච කිලෙසා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා දස්සනෙන පහාතබ්බහෙතුකා. තීණි සඤ්ඤොජනානි සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාසො, ඉමෙ ධම්මා දස්සනෙන පහාතබ්බා. තදෙකට්ඨො ලොභො දොසො මොහො, ඉමෙ ධම්මා දස්සනෙන පහාතබ්බහෙතුකා. තදෙකට්ඨා ච කිලෙසා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා දස්සනෙන පහාතබ්බහෙතුකා.

1017. කතමෙ ධම්මා භාවනාය පහාතබ්බහෙතුකා?

අවසෙසො ලොභො දොසො මොහො, ඉමෙ ධම්මා භාවනාය පහාතබ්බහෙතුකා තදෙකට්ඨා ච කිලෙසා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා භාවනාය පහාතබ්බහෙතුකා.

1018. කතමෙ ධම්මා නෙව දස්සනෙන න භාවනාය පහාතබ්බහෙතුකා?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො සඤ්ඤාක්ඛන්ධො, සබ්බං ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නෙව දස්සනෙන න භාවනාය පහාතබ්බහෙතුකා.

1019. කතමෙ ධම්මා ආචයගාමිනො?

සාසවා කුසලාකුසලා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ආචයගාමිනො.

1020. කතමෙ ධම්මා අපචයගාමිනො?

චත්තාරො මග්ගා අපරියාපන්නා, ඉමෙ ධම්මා අපචයගාමිනො

1016. කවර ධර්මයෝ දර්ශනයෙන් ප්‍රහාතව්‍ය හේතු ඇතියහ යත්:

සත්කායදෘෂ්ටි ය විචිකිත්සා ය ශීලව්‍රතපරාමර්ශ ය යන තුන් සංයෝජනයෝ යි.

එහි සත්කායදෘෂ්ටි කවරේ යත්: මේ ලොව අශ්‍රුතවත් පෘථග්ජන තෙමේ ... රූපය ආත්මයයි දකී ... මේ සත්කායදෘෂ්ටි යයි කියනු ලැබේ.

එහි විචිකිත්සා කවරේ යත්: ශාස්තෘන් වහන්සේ කෙරෙහි සැක කෙරෙයි ... මේ විචිකිත්සා යයි කියනු ලැබේ.

එහි ශීලව්‍රතපරාමර්ශය කවරේ යත්: මෙ සස්නෙන් බැහැර මහණ බමුණන්ගේ ශීලයෙන් ශුද්ධිය, ... මේ ශීලව්‍රතපරාමර්ශ යයි කියනු ලැබේ.

මේ තුන් සංයෝජනයෝ ය, තදේකස්ථ වූ ක්ලේශයෝ ද, තත්සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, ඒ කෙලෙසුන් විසින් සමුට්ඨිත වූ කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම ය, යන මේ ධර්මයෝ දර්ශනයෙන් ප්‍රහාතව්‍ය හේතු ඇත්තාහු ය. සක්කායදිට්ඨි ය විචිකිච්ඡා ය සීලබ්බතපරාමාස ය යන තුන් සංයෝජනයෝ ය, මේ දහම්හු දර්ශනයෙන් ප්‍රහාතව්‍යයෝ ය. තදේකස්ථ වූ ලෝභ ය ද්වේෂ ය මෝහ ය, යන මේ දහම්හු දර්ශනයෙන් ප්‍රහාතව්‍ය හේතූහු ය. තදේකස්ථ වූ ක්ලේශයෝ ද, තත්සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, ඒ ලෝභාදීන් විසින් සමුට්ඨිත වූ කායකර්මය වාක්කර්මය මනඃකර්ම ය, මේ දහම්හු දර්ශනයෙන් ප්‍රහාතව්‍යහේතුකයෝ යි.

1017. කවර දහම්හු භාවනායෙන් ප්‍රහාතව්‍යහේතු ඇතියහ යත්:

අවශේෂ වූ ලෝභ ය ද්වේෂ ය මෝහ ය, යන මේ දහම්හු භාවනායෙන් ප්‍රහාතව්‍ය හේතු ඇතියහ. තදේකස්ථ වූ ක්ලේශයෝ ද, ඒ කෙලෙසුන් හා සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, ඒ ලෝභාදීන් විසින් සමුට්ඨිත වූ කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම ය, මේ ධර්මයෝ භාවනායෙන් ප්‍රහාතව්‍ය හේතුකයෝ යි.

1018. කවර ධර්මයෝ නො ම දර්ශනයෙන් නො ද භාවනායෙන් ප්‍රහාතව්‍යහේතු ඇතියහ යත්:

ඒ ධර්මයන් තබා සෙසු කාමාවචර රූපාවචර අරූපාවචර අපර්යාපන්න වූ කුශලාකුශලාව්‍යාකෘත වූ ධර්මයෝ ය, වේදනාස්කන්ධ සංඥාස්කන්ධ සංස්කාරස්කන්ධ විඥානස්කන්ධ ය, සියලු රූපය ද, අසංඛතධාතු ද යි මේ ධර්මයෝ නො ම දර්ශනයෙන් නො ද භාවනායෙන් ප්‍රහාතව්‍යහේතුකයෝ යි.

1019. කවර දහම්හු ආචයගාමී වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශල ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, මේ ධර්මයෝ ආචයගාමීහු ය.

1020. කවර දහම්හු අපචයගාමී වෙති යත්:

අපර්යාපන්න වූ සතර මාර්ගයෝ යි. මේ ධර්මයෝ අපචයගාමීහු ය.

1021. කතමෙ ධම්මා නෙව ආචයගාමිනො න අපචයගාමිනො?

කුසලාකුසලානං ධම්මානං විපාකා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, යෙ ච ධම්මා කිරියා නෙව කුසලා නාකුසලා න ච කම්මවිපාකා, සබ්බං ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නෙව ආචයගාමිනො න අපචයගාමිනො.

1022. කතමෙ ධම්මා සෙඛා[1]?

චත්තාරො මග්ගා අපරියාපන්නා, හෙට්ඨිමානි ච තීණි සාමඤ්ඤඵලානි ඉමෙ ධම්මා සෙඛා.

1023. කතමෙ ධම්මා අසෙඛා[2]?

උපරිට්ඨිමං අරහත්තඵලං, ඉමෙ ධම්මා අසෙඛා.

1024. කතමෙ ධම්මා නෙවසෙඛා නාසෙඛා?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බං ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නෙව සෙඛා නාසෙඛා.

1025. කතමෙ ධම්මා පරිත්තා?

සබ්බෙව කාමාවචරා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා පරිත්තා.

1026. කතමෙ ධම්මා මහග්ගතා?

රූපාවචරා අරූපාවචරා කුසලාබ්‍යාකතා ධම්මා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මහග්ගතා.

1027. කතමෙ ධම්මා අප්පමාණා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අප්පමාණා.

1028. කතමෙ ධම්මා පරිත්තාරම්මණා?

පරිත්තෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා පරිත්තාරම්මණා.

---

1 සෙක්ඛා - සීමු 1, 2, 3, මජස, සයා, PTS.
2. අසෙක්ඛා - සීමු 1, 2, 3, මජසං, සයා, PTS.

1021. කවර දහම්හු නො ම ආචයගාමී නො ද අපචයගාමී වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ කුශලාකුශලධර්මයන්ගේ විපාකයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, නො ම කුශල වූ අකුශල නො වූ නො ද කර්මවිපාක වූ යම් ක්‍රියාධර්ම කෙනෙක් වෙත් ද, සියලු රූපය ද, අසඞ්ඛත (නිබ්බාන) ධාතුව දැ යි මේ ධර්මයෝ නො ම ආචයගාමී නො ද අපචයගාමී වෙත්.

1022. කවර දහම්හු ශෛක්‍ෂ වෙති යත්:

අපරියාපන්න වූ සතරමාර්ගයෝ ද, හෙට්ඨිම වූ තුන් ශ්‍රාමණ්‍යඵලයෝ දැ යි මේ ධර්මයෝ ශෛක්‍ෂයෝ යි.

1023. කවර දහම්හු අශෛක්‍ෂ වෙති යත්:

මතුයෙහි වූ අර්හත්ඵල ය. මේ ධර්මයෝ අශෛක්‍ෂයෝ යි.

1024. කවර ධර්මයෝ නෙව ශෛක්‍ෂ නාශෛක්‍ෂ වෙති යත්:

ඒ (ශෛක්‍ෂාශෛක්‍ෂ) ධර්මයන් හැර සෙසු කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛතධාතුව දැ යි මේ ධර්මයෝ නෙවශෛක්‍ෂ නාශෛක්‍ෂයෝ යි.

1025. කවර ධර්මයෝ පරිත්ත වෙති යත්:

සියලු ම කාමාවචර වූ කුශල - අකුශල - අව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධ යි. මේ ධර්මයෝ පරිත්තයෝ යි.

1026. කවර ධර්මයෝ මහද්ගත වෙති යත්:

රූපාවචර අරූපාවචර වූ කුශලාව්‍යාකෘතධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ යි. මේ ධර්මයෝ මහද්ගතයෝ ය.

1027. කවර ධර්මයෝ අප්‍රමාණ වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසඞ්ඛත (නිර්වාණ) ධාතුව දැ යි මේ ධර්මයෝ අප්‍රමාණයෝ යි.

1028. කවර ධර්මයෝ පරිත්තාලම්බන වෙති යත්:

පරිත්ත වූ ධර්මයන් අරභයා (-අරමුණු කොට) යම් චිත්තචෛතසික ධර්ම කෙනෙක් උපදිත්හු නම්, ඒ ධර්මයෝ පරිත්තාලම්බනයෝ යි.

1029. කතමෙ ධම්මා මහග්ගතාරම්මණා?

මහග්ගතෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා මහග්ගතාරම්මණා.

1030. කතමෙ ධම්මා අප්පමාණාරම්මණා?

අප්පමාණෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා අප්පමාණාරම්මණා.

1031. කතමෙ ධම්මා හීනා?

තීණි අකුසලමූලානි ලොභො දොසො මොහො, තදෙකට්ඨා ච කිලෙසා, තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, තංසමුට්ඨානං කායකම්මං වචීකම්මං මනොකම්මං, ඉමෙ ධම්මා හීනා.

1032. කතමෙ ධම්මා මජ්ඣිමා?

සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මජ්ඣිමා.

1033. කතමෙ ධම්මා පණීතා?

අපරියාපන්නා මග්ගා ච, මග්ගඵලානි ච, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා පණීතා.

1034. කතමෙ ධම්මා මිච්ඡත්තනියතා?

පඤ්ච කම්මානි ආනන්තරිකානි, යා ච මිච්ඡාදිට්ඨි නියතා, ඉමෙ ධම්මා මිච්ඡත්තනියතා.

1035. කතමෙ ධම්මා සම්මත්තනියතා?

චත්තාරො මග්ගා අපරියාපන්නා, ඉමෙ ධම්මා සම්මත්තනියතා.

1036. කතමෙ ධම්මා අනියතා?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අනියතා

1037. කතමෙ ධම්මා මග්ගාරම්මණා?

අරියමග්ගං ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා මග්ගාරම්මණා.

1029. කවර ධර්මයෝ මහද්ගතාලම්බන වෙති යත්:

මහද්ගත වූ ධර්මයන් අරමුණු කොට යම් චිත්තචෛතසික ධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ මහද්ගතාලම්බනයෝ යි.

1030. කවර ධර්මයෝ අප්‍රමාණාලම්බන වෙති යත්:

අප්‍රමාණ වූ ධර්මයන් අරමුණු කොට යම් චිත්තචෛතසිකධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ අප්‍රමාණාලම්බනයෝ යි.

1031. කවර ධර්මයෝ හීන වෙති යත්:

ලෝභ ය ද්වේෂ ය මෝහ ය යන තුන් අකුශලමූලයෝ ය, (සහජ වශයෙන්) තදෙකස්ථ වූ ක්ලේශයෝ ද, උන් හා සම්ප්‍රයුක්ත වූ වේදනා-ස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, තත්සමුත්ථිත වූ කායකර්ම ය වාක්කර්ම ය මනඃකර්ම යි. මේ ධර්මයෝ හීනයෝ යි.

1032. කවර ධර්මයෝ මධ්‍යම වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධ යි. මේ ධර්මයෝ මධ්‍යමයෝ යි.

1033. කවර ධර්මයෝ ප්‍රණීත වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසංඛතධාතුව ද යි. මේ ධර්මයෝ ප්‍රණීතයෝ යි.

1034. කවර ධර්මයෝ මිථ්‍යාත්වනියත වෙති යත්:

මාතෘවධාදි පඤ්ච ආනන්තරිය කර්මයෝ ද, යම් නියත මිථ්‍යාදෘෂ්ටි-යකුත් වේ ද, මේ ධර්මයෝ මිථ්‍යාත්වනියතයෝ යි.

1035. කවර ධර්මයෝ සම්‍යක්ත්වනියත වෙති යත්:

අපරියාපන්න වූ සතර මාර්ගයෝ යි. මේ ධර්මයෝ සම්‍යක්ත්ව නියත-යෝ යි.

1036. කවර ධර්මයෝ අනියත වෙති යත්:

ඒ ධර්මයන් තබා අවශේෂ වූ කාමාවචර රූපාවචර අරූපාවචර අප-රියාපන්න වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥාන-ස්කන්ධ ය, සියලු රූපය ද, අසංඛතධාතුව ද යි මේ ධර්මයෝ අනියතයෝ යි.

1037. කවර ධර්මයෝ මාර්ගාලම්බන වෙති යත්:

ආර්‍යමාර්ගය අරමුණු කොට යම් චිත්තචෛතසිකධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ මාර්ගාලම්බනයෝ යි.

1038. කතමෙ ධම්මා මග්ගහෙතුකා?

අරියමග්ගසමඞ්ගිස්ස මග්ගඞ්ගානි ඨපෙත්වා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මග්ගහෙතුකා. අරියමග්ගසමඞ්ගිස්ස සම්මාදිට්ඨි මග්ගො චෙව හෙතු ච. සම්මාදිට්ඨිං ඨපෙත්වා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මග්ගහෙතුකා. අරියමග්ගසමඞ්ගිස්ස අලොභො අදොසො අමොහො, ඉමෙ ධම්මා මග්ගහෙතූ. තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මග්ගහෙතුකා.

1039. කතමෙ ධම්මා මග්ගාධිපතිනො?

අරියමග්ගං අධිපතිං කරිත්වා යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා මග්ගාධිපතිනො. අරියමග්ගසමඞ්ගිස්ස වීමංසාධිපතෙය්‍යං මග්ගං භාවයන්තස්ස වීමංසං ඨපෙත්වා තංසම්පයුත්තො වෙදනාක්ඛන්ධො, -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා මග්ගාධිපතිනො.

1040. කතමෙ ධම්මා උප්පන්නා?

යෙ ධම්මා ජාතා භූතා සඤ්ජාතා නිබ්බත්තා අභිනිබ්බත්තා පාතුභූතා උප්පන්නා සමුප්පන්නා උට්ඨිතා සමුට්ඨිතා උප්පන්නා උප්පන්නංසෙන සඞ්ගහිතා රූපං[1] වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා උප්පන්නා

1041. කතමෙ ධම්මා අනුප්පන්නා?

යෙ ධම්මා අජාතා අභූතා අසඤ්ජාතා අනිබ්බත්තා අනභිනිබ්බත්තා අපාතුභූතා අනුප්පන්නා අසමුප්පන්නා අනුට්ඨිතා අසමුට්ඨිතා අනුප්පන්නා අනුප්පන්නංසෙන සඞ්ගහිතා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා අනුප්පන්නා.

1042. කතමෙ ධම්මා උප්පාදිනො?

කුසලාකුසලානං ධම්මානං අවිපක්කවිපාකානං විපාකා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, යඤ්ච රූපං කම්මස්ස කතත්තා උප්පජ්ජිස්සති, ඉමෙ ධම්මා උප්පාදිනො.

1043. කතමෙ ධම්මා අතීතා?

යෙ ධම්මා අතීතා නිරුද්ධා විගතා විපරිණතා අත්ථඞ්ගතා අබ්භත්ථඞ්ගතා උප්පජ්ජිත්වා විගතා අතීතා අතීතංසෙන සඞ්ගහිතා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා අතීතා.

---

2. රූපා - සීමු 2

1038 කවර ධර්මයෝ මාර්ගහේතුක වෙයි යත්:

ආර්යමාර්ගසමඞ්ගීහුගේ මාර්ගාඞ්ගයන් තබා ඒ මාර්ගසම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය යන මේ ධර්මයෝ මාර්ගහේතුකයෝ ය, ආර්යමාර්ගසමඞ්ගීහුගේ සම්‍යග්දෘෂ්ටිය මාර්ග ද හේතු ද වේ යි. සම්‍යග්දෘෂ්ටිය තබා තත්සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, යන මේ ධර්මයෝ මාර්ගහේතුකයෝ ය ආර්යමාර්ගසමඞ්ගීහුගේ අලෝභ ය අද්වේෂ ය අමෝහ ය යන මේ ධර්මයෝ මාර්ගහේතුහු ය උන් හා සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය මේ ධර්මයෝ මාර්ගහේතුකයෝ යි

1039 කවර ධර්මයෝ මාර්ගාධිපති වෙති යත්:

ආර්යමාර්ගය ආරම්මණාධිපති කොට යම් චිත්තචෛතසිකධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ මාර්ගාධිපතිහු ය. විමංසාව අධිපති කොට මාර්ගය වඩන ආර්යමාර්ගසමඞ්ගීහුගේ විමංසාව තබා තත්සම්ප්‍රයුක්ත වූ වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, මේ ධර්මයෝ මාර්ගාධිපති වෙත්.

1040. කවර ධර්මයෝ උත්පන්න වෙති යත්:

යම් ධර්ම කෙනෙක් හටගත්තාහු පහළ වූවාහු මොනොවට හටගත්තාහු නිපන්නාහු වෙසෙසින් නිපන්නාහු ප්‍රකට වූවාහු උපන්නාහු වෙසෙසින් උපන්නාහු උත්ථිත වූවාහු සමුත්ථිත වූවාහු උපන්නාහු උපන් කොටසින් ගැණුනාහු ද, ඒ රූප ය වේදනා ය සංඥා ය සංස්කාර ය විඥාන යි. මේ ධර්මයෝ උත්පන්නයෝ යි.

1041. කවර ධර්මයෝ අනුත්පන්න වෙති යත්:

යම් ධර්ම කෙනෙක් අජාත අභූත අසඤ්ජාත අනිර්වෘත අනභිනිර්වෘත අප්‍රාදුර්භූත අනුත්පන්න අසමුත්පන්න අනුත්ථිත අසමුත්ථිත අනුත්පන්න වූවාහු අනුත්පන්නාංශයෙන් සඞ්ගෘහීත වූවාහු ද. ඒ රූප ය වේදනා ය සංඥා ය සංස්කාර ය විඥාන යි. මේ ධර්මයෝ අනුත්පන්නයෝ යි.

1042 කවර ධර්මයෝ උත්පාදී (අවශ්‍යයෙන් උපදනා) වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ නො මූ කළ විපාක ඇති කුශලාකුශල ධර්මයන්ගේ විපාකයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, කර්මය කළ හෙයින් යම් රූපයෙක් උපදනේ ද, මේ ධර්මයෝ උත්පාදීහ.

1043. කවර ධර්මයෝ අතීත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ක්ෂණත්‍රය ඉක්මවූවාහු නිරුද්ධ වූවාහු පහව ගියාහු (ප්‍රකෘතිය හැරීමෙන්) විපරිණාමයට ගියාහු අස්තයට ගියාහු අභ්‍යස්තයට ගියාහු ඉපිද පහව ගියාහු ද, අතීත වූවාහු අතීතාංශයෙන් සඞ්ගෘහීත වූවාහු ද, ඒ රූප ය වේදනා ය සංඥා ය සංස්කාර ය විඥාන යි. මේ ධර්මයෝ අතීතයෝ යි.

1044. කතමෙ ධම්මා අනාගතා?

යෙ ධම්මා අජාතා අභූතා අසඤ්ජාතා අනිබ්බත්තා අනභිනිබ්බත්තා අපාතුභූතා අනුප්පන්නා අසමුප්පන්නා අනුට්ඨිතා අසමුට්ඨිතා අනාගතා අනාගතංසෙන සඞ්ගහිතා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා අනාගතා.

1045. කතමෙ ධම්මා පච්චුප්පන්නා?

යෙ ධම්මා ජාතා භූතා සඤ්ජාතා නිබ්බත්තා අභිනිබ්බත්තා පාතුභූතා උප්පන්නා සමුප්පන්නා උට්ඨිතා සමුට්ඨිතා පච්චුප්පන්නා පච්චුප්පන්නංසෙන සඞ්ගහිතා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා පච්චුප්පන්නා

1046. කතමෙ ධම්මා අතීතාරම්මණා?

අතීතෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා අතීතාරම්මණා.

1047. කතමෙ ධම්මා අනාගතාරම්මණා?

අනාගතෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා අනාගතාරම්මණා.

1048. කතමෙ ධම්මා පච්චුප්පන්නාරම්මණා?

පච්චුප්පන්නෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා පච්චුප්පන්නාරම්මණා.

1049. කතමෙ ධම්මා අජ්ඣත්තා?

යෙ ධම්මා තෙසං තෙසං සත්තානං අජ්ඣත්තං පච්චත්තං නියකා[1] පාටිපුග්ගලිකා උපාදින්නා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා අජ්ඣත්තා.

1050. කතමෙ ධම්මා බහිද්ධා?

යෙ ධම්මා තෙසං තෙසං පරසත්තානං පරපුග්ගලානං අජ්ඣත්තං පච්චත්තං නියකා පාටිපුග්ගලිකා උපාදින්නා රූපං වෙදනා සඤ්ඤා සඞ්ඛාරා විඤ්ඤාණං, ඉමෙ ධම්මා බහිද්ධා.

1051. කතමෙ ධම්මා අජ්ඣත්තබහිද්ධා?

තදුභයං, ඉමෙ ධම්මා අජ්ඣත්තබහිද්ධා

1. නියතා - සීමු. 1, 2, 3 මජසං. සහ. PTS

1044. කවර ධර්මයෝ, අනාගත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් අජාත අභූත අසඤ්ජාත අනිර්වෘත අනභිනිර්වෘත අප්‍රාදුර්භූත අනුත්පන්න අසමුත්පන්න අනුත්ථිත අසමුත්ථිත වූවාහු අනාගත වූවාහු අනාගතාංශයෙන් සඞ්ගෘහිත වූවාහු ද, ඒ රූප ය වෙදනා ය සංඥා ය සංස්කාර ය විඥාන යි. මේ ධර්මයෝ අනාගතයෝ යි.

1045. කවර ධර්මයෝ ප්‍රත්‍යුත්පන්න වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ජාත භූත සඤ්ජාත නිර්වෘත අභිනිර්වෘත ප්‍රාදුර්භූත උත්පන්න සමුත්පන්න උත්ථිත සමුත්ථිත වූවාහු ප්‍රත්‍යුත්පන්න වූවාහු ප්‍රත්‍යුත්පන්නාංශයෙන් සඞ්ගෘහිත වූවාහු ද, ඒ රූපයෝ ය වෙදනා ය සංඥා ය සංස්කාරයෝ ය විඥාන යි. මේ ධර්මයෝ ප්‍රත්‍යුත්පන්නයෝ යි.

1046. කවර ධර්මයෝ අතීතාලම්බන වෙති යත්:

(පරිත්ත - මහද්ගත වූ) අතීත ධර්මයන් අරමුණු කොට යම් චිත්ත චෛතසික ධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ අතීතාලම්බනයෝ යි.

1047. කවර ධර්මයෝ අනාගතාලම්බන වෙති යත්:

අනාගත ධර්මයන් අරමුණු කොට යම් චිත්ත චෛතසිකධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ අනාගතාලම්බනයෝ යි.

1048. කවර ධර්මයෝ ප්‍රත්‍යුත්පන්නාලම්බන වෙති යත්:

ප්‍රත්‍යුත්පන්න ධර්මයන් අරමුණු කොට යම් චිත්තචෛතසිකධර්ම කෙනෙක් උපදනාහු නම්, මේ ධර්මයෝ ප්‍රත්‍යුත්පන්නාලම්බනයෝ යි.

1049. කවර ධර්මයෝ අධ්‍යාත්ම වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ඒ සත්ත්වයන්ගේ අධ්‍යාත්ම වූවාහු ප්‍රත්‍යාත්ම වූවාහු (සිය සිය සතනෙහි උපන්නාහු) නිජක (තමා කෙරෙහි) වූවාහු ප්‍රාතිපෞද්ගලික (වෙන් වෙන් ව පුද්ගලයනු) වූවාහු උපාදින්න (-ශරීරස්ථ) වූවාහු ද, ඒ රූප ය වෙදනා ය සංඥා ය සංස්කාරයෝ ය විඥාන යි. මේ ධර්මයෝ අධ්‍යාත්මයෝ යි.

1050. කවර ධර්මයෝ බාහ්‍ය වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ඒ පරසත්ත්වයන්ගේ පරපුද්ගලයන්ගේ අධ්‍යාත්ම වූවාහු ප්‍රත්‍යාත්ම වූවාහු නිජාත්මයෙහි උපන්නාහු ප්‍රාතිපෞද්ගලික වූවාහු උපාදින්න වූවාහු ද, ඒ රූප - වෙදනා - සංඥා - සංස්කාර - විඥාන යි. මේ ධර්මයෝ බාහ්‍යයෝ යි.

1051 කවර ධර්මයෝ අධ්‍යාත්ම - බාහ්‍ය වෙති යත්:

ඒ (අධ්‍යාත්ම බාහ්‍ය යන) දෙක ය. මේ ධර්මයෝ අධ්‍යාත්මබාහ්‍යයෝ යි.

1052. කතමෙ ධම්මා අජ්ඣත්තාරම්මණා?

අජ්ඣත්තෙ ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා අජ්ඣත්තාරම්මණා.

1053. කතමෙ ධම්මා බහිද්ධාරම්මණා?

බහිද්ධා ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා බහිද්ධාරම්මණා.

1054. කතමෙ ධම්මා අජ්ඣත්තබහිද්ධාරම්මණා?

අජ්ඣත්තබහිද්ධා ධම්මෙ ආරබ්භ යෙ උප්පජ්ජන්ති චිත්තචෙතසිකා ධම්මා, ඉමෙ ධම්මා අජ්ඣත්තබහිද්ධාරම්මණා.

1055. කතමෙ ධම්මා සනිදස්සනසප්පටිඝා?

රූපායතනං, ඉමෙ ධම්මා සනිදස්සනසප්පටිඝා.

1056. කතමෙ ධම්මා අනිදස්සනසප්පටිඝා?

චක්ඛායතනං සොතායතනං ඝානායතනං ජිව්හායතනං කායායතනං සද්දායතනං ගන්ධායතනං රසායතනං ඵොට්ඨබ්බායතනං, ඉමෙ ධම්මා අනිදස්සනසප්පටිඝා.

1057. කතමෙ ධම්මා අනිදස්සනඅප්පටිඝා?

වෙදනාක්ඛන්ධො සඤ්ඤාක්ඛන්ධො සඞ්ඛාරක්ඛන්ධො විඤ්ඤාණක්ඛන්ධො, යං රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අනිදස්සනඅප්පටිඝා.

තිකං.

1058. කතමෙ ධම්මා හෙතූ?

තයො කුසලහෙතූ තයො අකුසලහෙතූ තයො අබ්‍යාකතහෙතූ නව කාමාවචරහෙතූ ඡ රූපාවචරහෙතූ ඡ අරූපාවචරහෙතූ ඡ අපරියාපන්නහෙතූ.

1059. තත්ථ කතමෙ තයො කුසලහෙතූ?

අලොභො අදොසො අමොහො.

1060. තත්ථ කතමො අලොභො?

යො අලොභො අලුබ්භනා අලුබ්භිතත්තං අසාරාගො අසාරජ්ජනා අසාරජ්ජිතත්තං අනභිජ්ඣා අලොභො කුසලමූලං, අයං වුච්චති අලොභො.

1052. කවර ධම්යෝ අධ්‍යාත්මාලම්බන වෙති යත්:

අධ්‍යාත්ම වූ ධම්යන් අරමුණු කොට යම් චිත්තචෛතසික ධම්කෙනෙක් උපදනාහු නම්, මේ ධම්යෝ අධ්‍යාත්මාලම්බනයෝ යි.

1053. කවර ධම්යෝ බාහ්‍යාලම්බන වෙති යත්:

බාහ්‍ය වූ ධම්යන් අරමුණු කොට යම් චිත්තචෛතසික ධම් කෙනෙක් උපදනාහු නම්, මේ ධම්යෝ බාහ්‍යාලම්බනයෝ යි.

1054. කවර ධම්යෝ අධ්‍යාත්ම - බාහ්‍යාලම්බන වෙති යත්:

අධ්‍යාත්ම - බාහ්‍ය වූ ධම්යන් අරභයා (අරමුණු කොට) යම් චිත්ත-චෛතසික ධම් කෙනෙක් උපදනාහු නම්, මේ ධම්යෝ අධ්‍යාත්ම බාහ්‍යා-ලම්බනයෝ යි.

1055. කවර ධම්යෝ සනිදශීන - සප්‍රතිඝ වෙති යත්:

රූපායතන ය, මේ ධම්යෝ සනිදශීන - සප්‍රතිඝයෝ යි.

1056. කවර ධම්යෝ අනිදශීන - සප්‍රතිඝ වෙති යත්:

චක්ෂුරායතන ය ශ්‍රොත්‍රායතන ය ඝ්‍රාණායතන ය ජිහ්වායතන ය කායා-යතන ය ශබ්දායතන ය ගන්ධායතන ය රසායතන ය ස්ප්‍රෂ්ටව්‍යායතන යි. මේ ධම්යෝ අනිදශීන - සප්‍රතිඝයෝ යි.

1057. කවර ධම්යෝ අනිදශීන - අප්‍රතිඝ වෙති යත්:

වෙදනාස්කන්ධ ය සංඥාස්කන්ධ ය සංස්කාරස්කන්ධ ය විඥානස්කන්ධ ය, අනිදශීන - අප්‍රතිඝ වූ ධම්ායතනපයඞාපන්න වූ යම් රූපයකුත් වේ ද, අසඞ්ඛත (නිබ්බාන) ධාතුව ද යි මේ ධම්යෝ අනිදශීන - අප්‍රතිඝයෝ යි.

ත්‍රික නිර්දෙශ යි.

1058. කවර ධම්යෝ හෙතු වෙති යත්:

තුන් කුශලහෙතු ය තුන් අකුශලහෙතු ය තුන් අව්‍යාකෘතහෙතු ය නව කාමාවචරහෙතු ය ෂඩ් රූපාවචරහෙතු ය ෂඩ් අරූපාවචරහෙතු ය ෂඩ් අපරියාපන්නහෙතු යි.

1059. එහි තුන් කුශලහෙතු කවරහ යත්:

අලොභ ය අද්වෙෂ ය අමොහ යි.

1060. එහි අලොභ කවරෙ යත්:

යම් අලොභයෙක් අලොභාකාරයෙක් අලුබ්ධ බවෙක් නො ඇලීමෙක් නො ඇලෙන අයුරෙක් නො අලුණු බවෙක් අනභිධ්‍යායෙක් අලොභ සඞ්ඛ්‍යාත කුශලමූලයෙක් වේ ද, මේ අලොභ ය යි කියනු ලැබේ.

1061 තත්ථ කතමො අදොසො?

යො අදොසො අදුස්සනා අදුස්සිතත්තං මෙත්ති මෙත්තායනා මෙත්තායිතත්තං අනුද්දා අනුද්දායනා අනුද්දායිතත්තං හිතෙසිතා අනුකම්පා අව්‍යාපාදො අව්‍යාපජ්ජො අදොසො කුසලමූලං, අයං වුච්චති අදොසො.

1062. තත්ථ කතමො අමොහො?

දුක්ඛෙ ඤාණං දුක්ඛසමුදයෙ ඤාණං දුක්ඛනිරොධෙ ඤාණං දුක්ඛනිරොධගාමිනියා පටිපදාය ඤාණං පුබ්බන්තෙ ඤාණං අපරන්තෙ ඤාණං පුබ්බන්තාපරන්තෙ ඤාණං ඉදප්පච්චයතාපටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු ඤාණං, යා එවරූපා පඤ්ඤා පජානනා විචයො පවිචයො ධම්මවිචයො සල්ලක්ඛණා උපලක්ඛණා පච්චුපලක්ඛණා පණ්ඩිච්චං කොසල්ලං නෙපුඤ්ඤං වෙභව්‍යා චින්තා උපපරික්ඛා භූරී මෙධා පරිණායිකා විපස්සනා සම්පජඤ්ඤං පතොදො පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං පඤ්ඤාබලං පඤ්ඤාසත්ථං පඤ්ඤාපාසාදො පඤ්ඤාආලොකො පඤ්ඤාඔභාසො පඤ්ඤාපජ්ජොතො පඤ්ඤාරතනං අමොහො ධම්මවිචයො සම්මාදිට්ඨි, අයං වුච්චති අමොහො.

ඉමෙ තයො කුසලහෙතූ.

1063. තත්ථ කතමෙ තයො අකුසලහෙතූ?

ලොභො දොසො මොහො.

1064 තත්ථ කතමො ලොභො?

යො රාගො සාරාගො අනුනයො අනුරොධො නන්දී නන්දිරාගො චිත්තස්ස සාරාගො ඉච්ඡා මුච්ඡා අජ්ඣොසානං ගෙධො පලිගෙධො සඞ්ගො පඞ්කො එජා මායා ජනිකා සඤ්ජනනී සිබ්බනී[1] ජාලිනී සරිතා විසත්තිකා සුත්තං විසටා ආයූහනී[2] දුතියා පණිධි භවනෙත්ති වනං වනථො සන්ථවො සිනෙහො අපෙක්ඛා පටිබන්ධු ආසා ආසිංසනා ආසිංසිතත්තං[3] රූපාසා සද්දාසා ගන්ධාසා රසාසා ඵොට්ඨබ්බාසා ලාභාසා ධනාසා පුත්තාසා ජීවිතාසා ජප්පා පජප්පා අභිජප්පා ජප්පනා[4] ජප්පිතත්තං ලොලුප්පං ලොලුප්පායනා ලොලුප්පායිතත්තං පුච්ඡඤ්චිකතා[5] සාධුකම්‍යතා අධම්මරාගො විසමලොභො නිකන්ති නිකාමනා පත්ථනා පිහනා සම්පත්ථනා කාමතණ්හා භවතණ්හා විභවතණ්හා රූපතණ්හා අරූපතණ්හා නිරොධතණ්හා රූපතණ්හා සද්දතණ්හා ගන්ධතණ්හා රසතණ්හා ඵොට්ඨබ්බතණ්හා ධම්මතණ්හා ඔඝො යොගො ගන්ථො උපාදානං ආවරණං නීවරණං ඡදනං[6] බන්ධනං උපක්කිලෙසො අනුසයො පරියුට්ඨානං ලතා වෙවිච්ඡං දුක්ඛමූලං දුක්ඛනිදානං දුක්ඛප්පභවො මාරපාසො මාරබලිසං මාරවිසයො තණ්හානදී තණ්හාජාලං තණ්හාගද්දුලං තණ්හාසමුද්දො අභිජ්ඣා ලොභො අකුසලමූලං, අයං වුච්චති ලොභො.

1. සිබ්බිනී, මජසං, PTS. 2 ආයුහිනී, සීමු මජසං
3. ආසිසනා ආසිසිතත්තං, මජසං. 4. ජප්පා ජප්පනා, මජසං.
5. පුච්ඡඤ්ජිකතා, මජසං, සීමු 1, 2. පුච්ඡිකතා - සීමු 3, PTS.
6. ඡාදනං, සීමු 1 2, 3, මජසං, ස්‍යා ඡන්නං, PTS.

1061. එහි අද්වේෂ කවරේ යත්:

යම් අද්වේෂයෙක් අද්වේෂණාකාරයෙක් අද්විෂ්ට බවෙක් මෛත්‍රියෙක් මෛත්‍ර්‍යාකාරයෙක් මෛත්‍රී ඇති බවෙක් අනුද්දයාවෙක් (-රැකීමෙක්) අනුද්දයාකාරයෙක් අනුද්දයා ඇති බවෙක් හිතෛෂී බවෙක් අනුකම්පායෙක් අව්‍යාපාදයෙක් ක්‍රොධදුඃඛය නැති බවෙක් අදෝස සඞ්ඛ්‍යාත කුශලමූලයෙක් වේ ද, මේ අද්වේෂයයි කියනු ලැබේ.

1062. එහි අමෝහ කවරේ යත්:

දුඃඛසත්‍යයෙහි ඥානය දුඃඛසමුදයෙහි ඥානය දුඃඛනිරොධයෙහි ඥානය දුඃඛනිරොධගාමිනී ප්‍රතිපදායෙහි ඥානය පූර්වාන්තයෙහි ඥානය අපරාන්තයෙහි ඥානය පූර්වාන්තාපරාන්තයෙහි ඥානය ඉදප්පච්චයතාප්‍රතීත්‍යසමුත්පන්නධර්මයන්හි ඥානය, යත මෙබඳු වූ යම් ප්‍රඥාවක් ප්‍රජානනාකාරයෙක් (අනිත්‍යාදිය) විමසීමෙක් වෙසෙසින් විමසීමෙක් (අනිත්‍යාදීන්ගේ ලක්ෂණවශයෙන්) සැලැකීමෙක් උපලක්ෂණයෙක් ප්‍රත්‍යුපලක්ෂණයෙක් පණ්ඩිත බවෙක් කුසල බවෙක් නිපුණ බවෙක් (අනිත්‍යාදීන්ගේ) විභාවනයෙක් චින්තායෙක් උපපරීක්ෂාවෙක් භූරිප්‍රඥාවෙක් මේධා (-ධාරණප්‍රඥා) වෙක් පරිණායිකාවෙක් විදර්ශනාවෙක් සම්‍යග්ඥානයෙක් (ප්‍රඥා) ප්‍රතෝදයෙක් ප්‍රඥාවක් ප්‍රඥෙන්ද්‍රියයෙක් ප්‍රඥාබලයෙක් ප්‍රඥාශස්ත්‍රයෙක් ප්‍රඥාප්‍රාසාදයෙක් ප්‍රඥා - ආලෝකයෙක් ප්‍රඥා - අවභාසයෙක් ප්‍රඥාප්‍රද්‍යෝතයෙක් ප්‍රඥාරත්නයෙක් අමෝහයෙක් ධර්මවිචයයෙක් සම්‍යග්දෘෂ්ටියෙක් වේ ද, මේ අමෝහය යි කියනු ලැබේ.

මේ තුන් කුශලහෙතු වෙත්.

1063. එහි තුන් අකුශලහෙතු කවරහ යත්:

ලෝභ ය දෝස ය මෝහ යි.

1064. එහි ලෝභ කවරේ යත්:

යම් රාගයෙක් බලවත් රාගයෙක් අනුනයෙක් (විෂයයන්හි පැමිණීමෙක්) අනුරොධයෙක් (-ඇලීමෙක්) නන්දියෙක් නන්දිරාගයෙක් චිත්තයාගේ බලවත් රාගයෙක් ඉච්ඡායෙක් මූර්ඡායෙක් බැඳගෙන සිටීමෙක් ගිජු වීමෙක් හාත්පසින් ගිජු වීමෙක් ඇලීමෙක් පඞ්කයෙක් ඒජායෙක් මායාවක් (සසර උපදවන) ජනිකාවක් සඤ්ජනනියක් (චුති - පිළිසඳ සිසින්) සිව්මෙක් ජාලිනියක් සරිතාවක් විසත්තිකායෙක් සූත්‍ර (-හු) යෙක් පැතිරීමෙක් ආයූහිනියක් ද්විතීයාවක් ප්‍රණිධියෙක් භවරජ්ජු (-රැහැන)-යෙක් වනයෙක් වනථයෙක් සන්ථවයෙක් ස්නේහයෙක් අපෙක්ෂායෙක් ප්‍රතිබන්ධුයෙක් ආශායෙක් ආශංසනයෙක් ආශංසිත බවෙක් රූපාශායෙක් ශබ්දාශායෙක් ගන්ධාශායෙක් රසාශායෙක් ස්ප්‍රෂ්ටව්‍යාශායෙක් ලාභාශායෙක් ධනාශායෙක් පුත්‍රාශායෙක් ජීවිතාශායෙක් ජල්පායෙක් ප්‍රජල්පායෙක් අභිජල්පායෙක් ජල්පනාකාරයෙක් ජල්පිත බවෙක් ලෝලුප බවෙක් ලෝලුපාකාරයෙක් ලෝලුපායිත බවෙක් නගුට සලන බවෙක් සවාදු කාම්‍යතායෙක් අධර්මරාගයෙක් විෂමලෝභයෙක් නිකාන්තියෙක් කැමැතිවන අයුරෙක් ප්‍රාර්ථනායෙක් රිසි වීමෙක් සම්ප්‍රාර්ථනායෙක් කාමතෘෂ්ණායෙක් භවතෘෂ්ණායෙක් විභවතෘෂ්ණායෙක් රූප (භව) තෘෂ්ණායෙක් අරූපතෘෂ්ණායෙක් නිරෝධතෘෂ්ණායෙක් රූපයෙහි තෘෂ්ණායෙක් ශබ්දතෘෂ්ණායෙක් ගන්ධතෘෂ්ණායෙක් රසතෘෂ්ණායෙක් ස්ප්‍රෂ්ටව්‍යතෘෂ්ණායෙක් ධර්මතෘෂ්ණායෙක් ඕඝයෙක් යෝගයෙක් ග්‍රන්ථයෙක් උපාදානයෙක් (කුශලයන්ගේ) ආවරණයෙක් නීවරණයෙක් ඡාදනයෙක් බන්ධනයෙක් උපක්ලේශයෙක් අනුශයයෙක් (පර්යුත්ථාන-) කුශලවාරය ගැනීමෙක් ලතායෙක් විවිධ ඉච්ඡායෙක් දුඃඛමූලයෙක් දුඃඛනිදානයෙක් දුඃඛප්‍රභවයෙක් මාරපාශයෙක් මාරබලිස (-බිලී) යෙක් මාරවිෂයයෙක් තෘෂ්ණානදියෙක් තෘෂ්ණාජාලයෙක් තෘෂ්ණාගර්දූලයෙක් තෘෂ්ණාසමුද්‍රයෙක් අභිධ්‍යායෙක් ලෝභ - අකුශලමූලයෙක් වේ ද, මේ ලෝභ යයි කියනු ලැබේ.

1065. තත්ථ කතමො දොසො?

අනත්ථං මෙ අචරීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරතීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරිස්සතීති ආඝාතො ජායති. පියස්ස මෙ මනාපස්ස අනත්ථං අචරි -පෙ- අනත්ථං චරති -පෙ- අනත්ථං චරිස්සතීති ආඝාතො ජායති. අප්පියස්ස මෙ අමනාපස්ස අත්ථං අචරි -පෙ- අත්ථං චරති -පෙ- අත්ථං චරිස්සතීති ආඝාතො ජායති. අට්ඨානෙ වා පන ආඝාතො ජායති. යො එවරූපො චිත්තස්ස ආඝාතො පටිඝාතො පටිඝං පටිවිරොධො කොපො පකොපො සම්පකොපො දොසො පදොසො සම්පදොසො චිත්තස්ස ව්‍යාපත්ති මනොපදොසො කොධො කුජ්ඣනා කුජ්ඣිතත්තං දොසො දුස්සනා දුස්සිතත්තං ව්‍යාපත්ති ව්‍යාපජ්ජනා ව්‍යාපජ්ජිතත්තං විරොධො පටිවිරොධො චණ්ඩික්කං අසුරොපො අනත්තමනතා චිත්තස්ස, අයං වුච්චති දොසො.

1066. තත්ථ කතමො මොහො?

දුක්ඛෙ අඤ්ඤාණං දුක්ඛසමුදයෙ අඤ්ඤාණං දුක්ඛනිරොධෙ අඤ්ඤාණං දුක්ඛනිරොධගාමිනියා පටිපදාය අඤ්ඤාණං, පුබ්බන්තෙ අඤ්ඤාණං අපරන්තෙ අඤ්ඤාණං පුබ්බන්තාපරන්තෙ අඤ්ඤාණං, ඉදප්පච්චයතා පටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු අඤ්ඤාණං, යං එවරූපං අඤ්ඤාණං අදස්සනං අනභිසමයො අනනුබොධො අසම්බොධො අප්පටිවෙධො අසංගාහනා අපරියොගාහනා අසමපෙක්ඛනා අපච්චවෙක්ඛනා අපච්චක්ඛකම්මං දුම්මෙජ්ඣං බාල්‍යං අසම්පජඤ්ඤං මොහො පමොහො සම්මොහො අවිජ්ජා අවිජ්ජොඝො අවිජ්ජායොගො අවිජ්ජානුසයො අවිජ්ජාපරියුට්ඨානං අවිජ්ජාලඞ්ගී මොහො අකුසලමූලං, අයං වුච්චති මොහො.

ඉමෙ තයො අකුසලහෙතූ.

1067. තත්ථ කතමෙ තයො අව්‍යාකතහෙතූ?

කුසලානං වා ධම්මානං විපාකතො කිරියාව්‍යාකතෙසු වා ධම්මෙසු අලොභො අදොසො අමොහො. ඉමෙ තයො අව්‍යාකතහෙතූ.

1068. තත්ථ කතමෙ නව කාමාවචරහෙතූ?

තයො කුසලහෙතූ, තයො අකුසලහෙතූ, තයො අව්‍යාකතහෙතූ. ඉමෙ නව කාමාවචරහෙතූ.

1069. තත්ථ කතමෙ ඡ රූපාවචරහෙතූ?

තයො කුසලහෙතූ, තයො අව්‍යාකතහෙතූ. ඉමෙ ඡ රූපාවචරහෙතූ.

1070. තත්ථ කතමෙ ඡ අරූපාවචරහෙතූ?

තයො කුසලහෙතූ, තයො අව්‍යාකතහෙතූ. ඉමෙ ඡ අරූපාවචරහෙතූ.

1065. එහි ද්වේෂය කවරේ යත්:

'මට අවැඩ කෙළේ'යි ආඝාත උපදී. 'මට අවැඩ කෙරෙයි' ආඝාත උපදී. 'මට අවැඩ කරන්නේ'යි ආඝාත උපදී. 'මාගේ ප්‍රිය මනාපයහට අනර්ථ කෙළේ ය ... දුන් අනර්ථ කෙරෙයි ... මතු අනර්ථ කරන්නේ ය'යි ආඝාත උපදී. 'මාගේ අප්‍රිය අමනාපයහට අර්ථ කෙළේ ය ... අර්ථ කෙරෙයි ... අර්ථ කරන්නේ ය' යි ආඝාත උපදී. යම් අස්ථානයෙහි ද ආඝාත උපදී. යම් මෙබඳු චිත්තයාගේ ආඝාතයෙක් ප්‍රතිඝාතයෙක් ප්‍රතිඝයෙක් ප්‍රතිවිරොධයෙක් කොපයෙක් ප්‍රකොපයෙක් සම්ප්‍රකොපයෙක් ද්වේෂයෙක් ප්‍රද්වේෂයෙක් සම්ප්‍රද්වේෂයෙක් චිත්තයාගේ ව්‍යාපන්න බවෙක් මනස්ප්‍රද්වේෂයෙක් ක්‍රොධයෙක් කිපෙන අයුරෙක් කිපුණු බවෙක් ද්වේෂයෙක් දූෂණාකාරයෙක් දූෂිත බවෙක්, ප්‍රකෘතිය හැරීමෙක් ප්‍රකෘතිය හරන අයුරෙක් ප්‍රකෘතිය හළ බවෙක් විරොධයෙක් ප්‍රතිවිරොධයෙක් සැඩ බවෙක් නො පිරිපුන් වචන ඇති බවෙක් චිත්තයාගේ අනත්තමන (-නො සතුටු) භාවයෙක් වේ ද, මේ ද්වේෂ යයි කියනු ලැබේ.

1066. එහි මොහය කවරේ යත්:

දුඃඛසත්‍යයෙහි නො දැනීම දුඃඛසමුදයෙහි නො දැනීම දුඃඛනිරොධයෙහි නො දැනීම දුඃඛනිරොධගාමිනී ප්‍රතිපදායෙහි නො දැනීම, පූර්වාන්තයෙහි නො දැනීම අපරාන්තයෙහි නො දැනීම පූර්වාන්තාපරාන්තයෙහි නො දැනීම, ඉදම්ප්‍රත්‍යතාප්‍රතීත්‍යසමුත්පන්නධර්මයන්හි නො දැනීම, යන යම් මෙබඳු වූ අඥානයෙක් අදර්ශනයෙක් අනභිසමයෙක් අනනුබොධයෙක් අසම්බොධයෙක් අප්‍රතිවෙධයෙක් (අනිත්‍යාදි සාමාන්‍ය හෙයින්) මොනොවට නො ගැනීමෙක් භාත්පසින් නො ගැනීමෙක් සම ව නො දැකීමෙක් (ධර්මස්වභාවය) නො දැකීමෙක් ප්‍රත්‍යක්ෂ නො කිරීමෙක් දුර්මෙධ්‍යයෙක් බාල බවෙක් අසම්ප්‍රජන්‍යයෙක් මොහයෙක් ප්‍රමොහයෙක් සම්මොහයෙක් අවිද්‍යාවෙක් අවිද්‍යෞඝයෙක් අවිද්‍යායොගයෙක් අවිද්‍යානුශයයෙක් අවිද්‍යාපර්යුත්ථානයෙක් අවිද්‍යාලඞ්ගියෙක් මොහ - අකුශලමූලයෙක් වේ ද, මේ මොහ යයි කියනු ලැබේ.

මේ තුන් අකුශල හෙතු යි.

1067. එහි තුන් අව්‍යාකෘතහෙතු කවරහ යත්:

කුශලධර්මයන්ගේ විපාක හෙයින් හෝ ක්‍රියා - අව්‍යාකෘත ධර්මයන්හි හෝ අලොභ ය අද්වෙෂ ය අමොහය යි. මොහු තුන් අව්‍යාකෘත හෙතු යි.

1068. එහි නව කාමාවචරහෙතු කවරහ යත්:

තුන් කුසලහෙතු ය තුන් අකුසලහෙතු ය තුන් අව්‍යාකතහෙතු යි. මොහු නව කාමාවචර හෙතු යි.

1069. එහි ෂඩ් රූපාවචරහෙතු කවරහ යත්:

තුන් කුසලහෙතු ය තුන් අව්‍යාකතහෙතු යි. මොහු ෂඩ් රූපාවචරහෙතු යි.

1070. එහි ෂඩ් අරූපාවචරහෙතු කවරහ යත්:

තුන් කුසලහෙතු ය තුන් අව්‍යාකතහෙතු යි. මොහු ෂඩ් අරූපාවචරහෙතු යි.

1071. තත්ථ කතමෙ ඡ අපරියාපන්නහෙතූ?

තයො කුසලහෙතූ, තයො අබ්‍යාකතහෙතූ, ඉමෙ ඡ අපරියාපන්නහෙතූ.

1072. තත්ථ කතමෙ තයො කුසලහෙතූ?
අලොභො අදොසො අමොහො.

1073. තත්ථ කතමො අලොභො?

යො අලොභො අලුබ්භනා අලුබ්භිතත්තං අසාරාගො අසාරජ්ජනා අසාරජ්ජිතත්තං අනභිජ්ඣා අලොභො කුසලමූලං, අයං වුච්චති අලොභො.

1074. තත්ථ කතමො අදොසො?

යො අදොසො අදුස්සනා අදුස්සිතත්තං -පෙ- අබ්‍යාපාදො අබ්‍යාපජ්ඣො අදොසො කුසලමූලං, අයං වුච්චති අදොසො.

1075. තත්ථ කතමො අමොහො?

දුක්ඛෙ ඤාණං දුක්ඛසමුදයෙ ඤාණං දුක්ඛනිරොධෙ ඤාණං දුක්ඛනිරොධගාමිනියා පටිපදාය ඤාණං පුබ්බන්තෙ ඤාණං අපරන්තෙ ඤාණං පුබ්බන්තාපරන්තෙ ඤාණං ඉදප්පච්චයතාපටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු ඤාණං, යා එවරූපා පඤ්ඤා පජානනා විචයො පවිචයො ධම්මවිචයො සල්ලක්ඛණා උපලක්ඛණා පච්චුපලක්ඛණා පණ්ඩිච්චං කොසල්ලං නෙපුඤ්ඤං වෙභබ්‍යා චින්තා උපපරික්ඛා භූරී මෙධා පරිණායිකා විපස්සනා සම්පජඤ්ඤං පතොදො පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං පඤ්ඤාබලං පඤ්ඤාසත්ථං පඤ්ඤාපාසාදො පඤ්ඤාආලොකො පඤ්ඤාඔභාසො පඤ්ඤාපජ්ජොතො පඤ්ඤාරතනං අමොහො ධම්මවිචයො සම්මාදිට්ඨි ධම්මවිචයසම්බොජ්ඣඞ්ගො මග්ගඞ්ගං මග්ගපරියාපන්නං, අයං වුච්චති අමොහො.

ඉමෙ තයො කුසලහෙතූ.

1076. තත්ථ කතමෙ තයො අබ්‍යාකතහෙතූ?

කුසලානං ධම්මානං විපාකතො අලොභො අදොසො අමොහො, ඉමෙ තයො අබ්‍යාකතහෙතූ.

ඉමෙ ඡ අපරියාපන්නහෙතූ.

ඉමෙ ධම්මා හෙතූ.

1077. කතමෙ ධම්මා න හෙතූ?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො සබ්බඤ්ච රූපං අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා න හෙතූ.

1071. එහි ෂඩ් අපරියාපන්නහෙතු කවරහ යත්:

තුන් කුසලහෙතු ය, තුන් අව්‍යාකතහෙතු යි. මොහු ෂඩ් අපරියාපන්නහෙතු යි.

1072. එහි තුන් කුශලහෙතු කවරහ යත්:

අලෝභ ය අද්වේෂ ය අමෝහ යි.

1073. එහි අලෝභය කවරේ යත්:

යම් අලොභයෙක් අලොභාකාරයෙක් අලුබ්ධ බවෙක් අසංරාගයෙක් අසංරක්තාකාරයෙක් අසංරක්ත බවෙක් අනභිධ්‍යාවක් අලොභ - කුශලමූලයෙක් වේ ද, මේ අලොභ යි කියනු ලැබේ.

1074. එහි අද්වේෂය කවරේ යත්:

යම් අද්වේෂයෙක් අදූෂ්‍යාකාරයෙක් අදූෂිත බවෙක් ... අව්‍යාපාදයෙක් නිදුක් බවෙක අද්වේෂ - කුශලමූලයෙක් වේ ද, මේ අද්වේෂ යයි කියනු ලැබේ.

1075. එහි අමෝහය කවරේ යත්:

දුඃඛසත්‍යයෙහි ඥානය දුඃඛසමුදයෙහි ඥානය දුඃඛනිරොධයෙහි ඥානය දුඃඛනිරොධගාමිනීප්‍රතිපදායෙහි ඥානය පූර්වාන්තයෙහි ඥානය අපරාන්තයෙහි ඥානය පූර්වාන්තාපරාන්තයෙහි ඥානය ඉදම්ප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පන්න ධර්මයන්හි ඥානය, යන මෙබඳු වූ යම් ප්‍රඥාවක් ප්‍රජානනාකාරයෙක් විචයයෙක් ප්‍රවිචයයෙක් ධර්මවිචයයෙක් සංලක්ෂණයෙක් උපලක්ෂණයෙක් ප්‍රත්‍යුපලක්ෂණයෙක් පාණ්ඩිත්‍යයෙක් කෞශල්‍යයෙක් නෛපුණ්‍යයෙක් විභාවනයෙක් චින්තායෙක් උපපරීක්ෂාවෙක් භූරිප්‍රඥායෙක් ධාරණප්‍රඥායෙක් පරිණායිකාවක් විදර්ශනායෙක් සම්‍යග්ඥානයෙක් ප්‍රතොදයෙක්, ප්‍රඥායෙක් ප්‍රඥෙන්ද්‍රියයෙක් ප්‍රඥාබලයෙක් ප්‍රඥාශස්ත්‍රයෙක් ප්‍රඥාප්‍රාසාදයෙක් ප්‍රඥා - ආලොකයෙක් ප්‍රඥා - අවභාසයෙක් ප්‍රඥාප්‍රද්‍යොතයෙක් ප්‍රඥාරත්නයෙක් අමොහයෙක් ධර්මවිචයයෙක් සම්‍යග්දෘෂ්ටියෙක් ධර්මවිචයසම්බොධ්‍යඞ්ගයෙක් මාර්ගාඞ්ගයෙක් මාර්ගපර්‍යාපන්නයෙක් වේ ද, මේ අමොහ යි කියනු ලැබේ.

මොහු තුන් කුශල හෙතු යි.

1076. එහි තුන් අව්‍යාකෘතහෙතු කවරහ යත්:

කුශලධර්මයන්ගේ විපාක හෙයින් අලොභ ය අද්වේෂ ය අමොහ ය, යන මොහු තුන් අව්‍යාකෘතහෙතු යි.

මොහු සදෙන අපරියාපන්නහෙතු යි.

මේ ධර්මයෝ හෙතු නම් වෙත්.

1077. කවර ධර්මයෝ නහෙතු (හෙතු නො වූවාහු) වෙති යත්:

ඒ (හෙතු) ධර්මයන් හැර අවශෙෂ කාමාවචර - රූපාවචර - අරූපාවචර - අපරියාපන්න වූ කුශල - අකුශල - අව්‍යාකෘත ධර්මයෝ ය, වෙදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛත (නිබ්බාන) ධාතුව ද, යන මේ ධර්මයෝ නහෙතු නම් වෙත්.

1078. කතමෙ ධම්මා සහෙතුකා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සහෙතුකා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤා-ණක්ඛන්ධො, ඉමෙ ධම්මා සහෙතුකා.

1079. කතමෙ ධම්මා අහෙතුකා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා අහෙතුකා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤා-ණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අහෙතුකා.

1080. කතමෙ ධම්මා හෙතුසම්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤා-ණක්ඛන්ධො, ඉමෙ ධම්මා හෙතුසම්පයුත්තා.

1081. කතමෙ ධම්මා හෙතුවිප්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤා-ණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා හෙතුවිප්ප-යුත්තා.

1082. කතමෙ ධම්මා හෙතු චෙව සහෙතුකා ච?

ලොභො මොහෙන හෙතු චෙව සහෙතුකො ච, මොහො ලොභෙන හෙතු චෙව සහෙතුකො ච, දොසො මොහෙන හෙතු චෙව සහෙතුකො ච, මොහො දොසෙන හෙතු චෙව සහෙතුකො ච. අලොභො අදොසො අමොහො තෙ අඤ්ඤමඤ්ඤං හෙතු චෙව සහෙතුකා ච. ඉමෙ ධම්මා හෙතු චෙව සහෙ-තුකා ච.

1083. කතමෙ ධම්මා සහෙතුකා චෙව න ච හෙතූ?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සහෙතුකා තෙ ධම්මෙ ඨපෙත්වා වෙදනා-ක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සහෙතුකා චෙව න ච හෙතූ.

1084. කතමෙ ධම්මා හෙතු චෙව හෙතුසම්පයුත්තා ච?

ලොභො මොහෙන හෙතු චෙව හෙතුසම්පයුත්තො ච, මොහො ලොභෙන හෙතු චෙව හෙතුසම්පයුත්තො ච, දොසො මොහෙන හෙතු චෙව හෙතුසම්පයුත්තො ච, මොහො දොසෙන හෙතු චෙව හෙතුසම්ප-යුත්තො ච. අලොභො අදොසො අමොහො තෙ අඤ්ඤමඤ්ඤං හෙතු චෙව හෙතුසම්පයුත්තා ච. ඉමෙ ධම්මා හෙතු චෙව හෙතුසම්පයුත්තා ච.

1078. කවර ධර්මයෝ සහෙතුක වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් සහෙතුක වෙත් ද, වෙදනා ස්කන්ධය ... විඥානස්කන්ධය යන මේ ධර්මයෝ සහෙතුකයෝ යි.

1079. කවර ධර්මයෝ අහෙතුක වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් අහෙතුක වෙත් ද, වෙදනා ස්කන්ධය ... විඥානස්කන්ධය, සියලු රූපය ද, අසඞ්ඛතධාතුව ද, යන මේ ධර්මයෝ අහෙතුකයෝ යි.

1080. කවර ධර්මයෝ හෙතු සම්ප්‍රයුක්ත වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් සම්ප්‍රයුක්ත වූවාහු ද, වෙදනාස්කන්ධය ... විඥානස්කන්ධය, යන මේ ධර්මයෝ හෙතුසම්ප්‍රයුක්ත යෝ යි.

1081. හෙතු විප්‍රයුක්ත ධර්මයෝ කවරහ යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් විප්‍රයුක්ත වූවාහු ද, වෙදනා ස්කන්ධය ... විඥානස්කන්ධය, සියලු රූපය ද, අසඞ්ඛතධාතුව ද, යන මේ ධර්මයෝ හෙතුවිප්‍රයුක්තයෝ යි.

1082. කවර ධර්මයෝ හෙතු ද සහෙතුක ද වෙති යත්:

ලොභය මොහය සමග වූයේ හෙතු ද සහෙතුක ද වෙයි, මොහය ලොභය සමග වූයේ හෙතු ද සහෙතුක ද වෙයි, ද්වේෂය මොහය සමග වූයේ හෙතු ද සහෙතුක ද වෙයි, මොහය ද්වේෂය සමග වූයේ හෙතු ද සහෙතුක ද වෙයි අලොභ ය අද්වේෂ ය අමොහ ය යන මොහු ඔවුනොවුන් හෙතු වූවාහු ද සහෙතුක වූවාහු ද වෙත්. මේ ධර්මයෝ හෙතු ද සහෙතුක ද වෙත්.

1083. කවර ධර්මයෝ සහෙතුක ද නො ද හෙතු ද වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් සහෙතුක වූවාහු ද, ඒ ධර්මයන් තබා වෙදනාස්කන්ධය ... විඥානස්කන්ධය යන මේ ධර්මයෝ සහෙතුක ද නො ද හෙතු වූවාහු ද වෙත්.

1084. කවර ධර්මයෝ, හෙතු ද හෙතු සම්ප්‍රයුක්ත ද වෙති යත්:

ලොභය මොහය සමග වූයේ හෙතු ද හෙතුසම්ප්‍රයුක්ත ද වෙයි, මොහය ලොභය සමග වූයේ හෙතු ද හෙතුසම්ප්‍රයුක්ත ද වෙයි, ද්වේෂය මොහය සමග වූයේ හෙතු ද හෙතුසම්ප්‍රයුක්ත ද වෙයි, මොහය ද්වේෂය සමග වූයේ හෙතු ද හෙතුසම්ප්‍රයුක්ත ද වෙයි. අලොභ ය අද්වේෂ ය අමොහ ය යන මොහු ඔවුනොවුන් හෙතු ද හෙතුසම්ප්‍රයුක්ත ද වෙත්. මේ ධර්මයෝ හෙතු ද හෙතු සම්ප්‍රයුක්ත ද වෙත්.

1085. කතමෙ ධම්මා හෙතුසම්පයුත්තා චෙව න ච හෙතූ?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා තෙ ධම්මෙ ඨපෙත්වා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා හෙතුසම්පයුත්තා චෙව න ච හෙතූ.

1086. කතමෙ ධම්මා න හෙතූ සහෙතුකා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා න හෙතූ සහෙතුකා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා න හෙතූ සහෙතුකා.

1087. කතමෙ ධම්මා න හෙතූ අහෙතුකා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා න හෙතූ අහෙතුකා: වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා න හෙතූ අහෙතුකා.

## හෙතුගොච්ඡකං

1088. කතමෙ ධම්මා සප්පච්චයා?

පඤ්චක්ඛන්ධා: රූපක්ඛන්ධො වෙදනාක්ඛන්ධො සඤ්ඤාක්ඛන්ධො සඞ්ඛාරක්ඛන්ධො විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සප්පච්චයා.

1089. කතමෙ ධම්මා අප්පච්චයා?

අසඞ්ඛතා ධාතු, ඉමෙ ධම්මා අප්පච්චයා.

1090. කතමෙ ධම්මා සඞ්ඛතා?

යෙව තෙ ධම්මා සප්පච්චයා, තෙව තෙ ධම්මා සඞ්ඛතා.

1091. කතමෙ ධම්මා අසඞ්ඛතා?

යො එව සො ධම්මො අප්පච්චයො සො එව සො ධම්මො අසඞ්ඛතො

1092. කතමෙ ධම්මා සනිදස්සනා?

රූපායතනං, ඉමෙ ධම්මා සනිදස්සනා

1093. කතමෙ ධම්මා අනිදස්සනා?

චක්ඛායතනං -පෙ- ඵොට්ඨබ්බායතනං, වෙදනාක්ඛන්ධො, -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, යඤ්ච රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අනිදස්සනා.

1094. කතමෙ ධම්මා සප්පටිඝා?

චක්ඛායතනං -පෙ- ඵොට්ඨබ්බායතනං, ඉමෙ ධම්මා සප්පටිඝා.

1085. කවර ධර්මයෝ හෙතුසම්ප්‍රයුක්ත ද නො ද හෙතු ද වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් සම්ප්‍රයුක්ත වූවාහු ද ඒ ධර්මයන් තබා වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය යන මේ ධර්මයෝ හෙතු සම්ප්‍රයුක්ත ද නො ද හෙතු ද වෙත්.

1086. කවර ධර්මයෝ නහෙතු සහෙතුක වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් හෙතු නො වැ සහෙතුක වූවාහු ද, වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය යන මේ ධර්මයෝ නහෙතු සහෙතුකයෝ යි.

1087. කවර ධර්මයෝ නහෙතු අහෙතුක වෙති යත්:

ඒ හෙතුධර්මයන්ගෙන් යම් ධර්ම කෙනෙක් හෙතු නො වැ අහෙතුක වූවාහු ද, වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛත-ධාතුව ද, යන මේ ධර්මයෝ නහෙතු අහෙතුකයෝ යි

හෙතුගොච්ඡකය යි.

1088. කවර, ධර්මයෝ සප්‍රත්‍යය වෙති යත්:

පඤ්චසකන්ධයෝ ය: රූපසකන්ධ ය වෙදනාසකන්ධ ය සංඥසකන්ධ ය සංසකාරසකන්ධ ය විඥනසකන්ධ යි. මේ ධර්මයෝ සප්‍රත්‍යයෝ යි.

1089. කවර ධර්මයෝ අප්‍රත්‍යය වෙති යත්:

අසඞ්ඛත (නිබ්බාන) ධාතුව ය. මේ ධර්මයෝ අප්‍රත්‍යයෝ යි.

1090. කවර ධර්මයෝ සඞ්ඛත වෙති යත්:

ඒ යම් ම ධර්ම කෙනෙක් සප්‍රත්‍යයෝ ද, එ ම ධර්මයෝ සඞ්ඛතයෝ යි.

1091. කවර ධර්මයෝ අසඞ්ඛත වෙති යත්:

ඒ යම් ම ධර්මයෙක් අප්‍රත්‍යය වේ ද, එ ම ධර්මය අසඞ්ඛත යි.

1092. කවර, ධර්මයෝ සනිදර්ශන වෙති යත්:

රූපායතන ය මේ ධර්මයෝ සනිදර්ශනයෝ යි.

1093. කවර ධර්මයෝ අනිදර්ශන වෙති යත්:

චක්ෂුරායතන ය ... ස්ප්‍රෂ්ටව්‍යායතන ය, වෙදනාසකන්ධ ය ... විඥන-සකන්ධ ය, අනිදර්ශන අප්‍රතිඝ වූ ධර්මායතනපර්‍යාපන්න වූ යම් රූපයෙකුත් වේ ද, අසඞ්ඛතධාතුව ද, යන මේ ධර්මයෝ අනිදර්ශනයෝ යි.

1094. කවර ධර්මයෝ සප්‍රතිඝ වෙති යත්:

චක්ෂුරායතන ය ... ස්ප්‍රෂ්ටව්‍යායතන ය, යන මේ ධර්මයෝ සප්‍රතිඝයෝ යි.

1095. කතමෙ ධම්මා අප්පටිඝා?

වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, යං ච රූපං අනිදස්සනං අප්පටිඝං ධම්මායතනපරියාපන්නං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අප්පටිඝා.

1096. කතමෙ ධම්මා රූපිනො?

චත්තාරො ච මහාභූතා චතුන්නං ච මහාභූතානං උපාදාය රූපං, ඉමෙ ධම්මා රූපිනො.

1097. කතමෙ ධම්මා අරූපිනො?

වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අරූපිනො.

1098. කතමෙ ධම්මා ලොකියා?

සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ලොකියා.

1099. කතමෙ ධම්මා ලොකුත්තරා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා ලොකුත්තරා.

1100. කතමෙ ධම්මා කෙනචි විඤ්ඤෙය්‍යා කෙනචි න විඤ්ඤෙය්‍යා?

යෙ තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා. යෙවා පන තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා.

1095. කවර ධර්මයෝ අප්‍රතිඝ වෙති යත්:

වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, අනිදර්ශන අප්‍රතිඝ වූ ධර්මායතන යෙහි ඇතුළු වූ යම් රූපයෙකුත් වේ ද, අසංඛතධාතුව ද, යන මේ ධර්මයෝ අප්‍රතිඝයෝ යි.

1096. කවර ධර්මයෝ රූපී වෙති යත්:

සතර මහාභූතයෝ ද, සතර මහාභූතයන් නිසා උපන්නා රූපය ද, යන මේ ධර්මයෝ රූපී වෙත්.

1097. කවර ධර්මයෝ අරූපී වෙති යත්:

වේදනාස්කන්ධය ... විඥානස්කන්ධය, අසංඛතධාතුව ද, යන මේ ධර්මයෝ අරූපී වෙත්.

1098. කවර ධර්මයෝ ලෞකික වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ ආස්‍රව සහිත වූ කුශලාකුශල අව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධය ... විඥානස්කන්ධය, යන මේ ධර්මයෝ ලෞකිකයෝ යි.

1099. කවර ධර්මයෝ ලොකොත්තර වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසංඛතධාතුව ද, යන මේ ධර්මයෝ ලොකොත්තරයෝ යි.

1100. කවර ධර්මයෝ චක්ෂුරාදී කිසි විඥානයෙකින් දතයුතු ද කිසි විඥානයකින් නො දතයුතු ද වෙති යත්:

යම් ධර් කෙනෙක් චක්ෂුර්විඥානයෙන් දත යුත්තාහු නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥානයෙන් නො දත යුත්තාහ. යළි යම් ධර් කෙනෙක් ශ්‍රොත්‍ර-විඥානයෙන් දතයුත්තාහු නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥානයෙන් නො දත යුත්තාහ.

යම් ධර් කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙති. යළි යම් ධර් කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥෙය නො වෙත්.

යම් ධර් කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙති. යළි යම් ධර් කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥෙය නො වෙත්.

යම් ධර් කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙති. යළි යම් ධර් කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥෙය නො වෙත්.

යෙ තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා යෙ වා පන තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා යෙ වා පන තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා යෙ වා පන තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා.. යෙ වා පන තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා.

යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වා-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වා-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කාය-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍ර-විඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙත්

යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙත්.

යෙ තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා චක්ඛුවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා සොතවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ඝානවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා.

යෙ තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා. යෙ වා පන තෙ ධම්මා ජිව්හාවිඤ්ඤෙය්‍යා, න තෙ ධම්මා කායවිඤ්ඤෙය්‍යා.

ඉමෙ ධම්මා කෙහිචි විඤ්ඤෙය්‍යා කෙහිචි න විඤ්ඤෙය්‍යා.

චූළන්තරදුකං.

1101. කතමෙ ධම්මා ආසවා?

චත්තාරො ආසවා: කාමාසවො භවාසවො දිට්ඨාසවො අවිජ්ජාසවො.

1102. තත්ථ කතමො කාමාසවො?

යො කාමෙසු කාමච්ඡන්දො කාමරාගො කාමනන්දී කාමතණ්හා කාමසිනෙහො කාමපරිළාහො කාමමුච්ඡා කාමජ්ඣොසානං, අයං වුච්චති කාමාසවො.

1103. තත්ථ කතමො භවාසවො?

යො භවෙසු භවච්ඡන්දො භවරාගො භවනන්දී භවතණ්හා භවසිනෙහො භවපරිළාහො භවමුච්ඡා භවජ්ඣොසානං, අයං වුච්චති භවාසවො.

1104. තත්ථ කතමො දිට්ඨාසවො?

සස්සතො ලොකොති වා අසස්සතො ලොකොති වා, අන්තවා ලොකොති වා අනන්තවා ලොකොති වා, තං ජීවං තං සරීරන්ති වා, අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වා, හොති තථාගතො පරම්මරණාති වා න හොති තථාගතො පරම්මරණාති වා, හොති ච න ච හොති තථාගතො පරම්මරණාති වා, නෙව හොති න න හොති තථාගතො පරම්මරණාති වා, යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසංයොජනං ගාහො පතිට්ඨාහො අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො, අයං වුච්චති දිට්ඨාසවො. සබ්බාපි මිච්ඡාදිට්ඨි දිට්ඨාසවො.

යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ චක්ෂුර්විඥාන-යෙන් නො දත යුත්තාහ. යළි යම් ධර්ම කෙනෙක් චක්ෂුර්විඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් කායවිඥානයෙන් දත යුත්තාහු නම්, ඒ ධර්මයෝ ශ්‍රොත්‍රවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ශ්‍රොත්‍රවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ඝ්‍රාණවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ඝ්‍රාණවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙත්.

යම් ධර්ම කෙනෙක් කායවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ ජිහ්වාවිඥෙය නො වෙති. යළි යම් ධර්ම කෙනෙක් ජිහ්වාවිඥෙය වෙත් නම්, ඒ ධර්මයෝ කායවිඥෙය නො වෙත්.

මේ ධර්මයෝ (චක්ෂුරාදි) කිසි විඥානයකින් දත යුත්තාහු, කිසි විඥාන-යකින් නො දත යුත්තාහු වෙත්.

චූලන්තරදුකය යි.

1101. කවර ධර්මයෝ ආස්‍රව වෙති යත්:

ආස්‍රවයෝ සතර දෙනෙකි: කාමාස්‍රව ය භවාස්‍රව ය දෘෂ්ට්‍යාස්‍රව ය අවිද්‍යාස්‍රව යි.

1102. එහි කාමාස්‍රව කවරේ යත්:

පඤ්ච කාමගුණයෙහි යම් කාම සඞ්ඛ්‍යාත ඡන්දයෙක් කාමරාගයෙක් කාමනන්දියෙක් කාමතෘෂ්ණාවෙක් කාමස්නෙහයෙක් කාමපරිදාහයෙක් කාම මූර්ච්ඡාවෙක් කාමයන්හි බැසැගෙන සිටීමෙක් වේ ද, මේ කාමාස්‍රව යයි කියනු ලැබේ.

1103. එහි භවාස්‍රව කවරේ යත්:

රූපාරූපභවයන්හි (ප්‍රාර්ථනා වශයෙන් පැවැති) යම් භවච්ඡන්දයෙක් භවරාගයෙක් භවනන්දියෙක් භවතෘෂ්ණාවෙක් භවස්නෙහයෙක් භවපරි-දාහයෙක් භවමූර්ච්ඡාවෙක් භවයන්හි බැසැගෙන සිටීමෙක් වේ ද, මේ භවාස්‍රව යයි කියනු ලැබේ.

1104. එහි දෘෂ්ට්‍යාස්‍රව කවරේ යත්:

ස්කන්ධ සඞ්ඛ්‍යාත ලොකය ශාශ්වත යයි හෝ, ලොකය අශාශ්වත යයි හෝ, ලොකය අන්තවත් යයි හෝ, ලොකය අනන්තවත් යයි හෝ, එ ම ජීව ය එ ම ශරීර යයි හෝ, ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැයි හෝ, තථාගත (-සත්ත්වයා) මරණින් මතුයෙහි වෙයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි නො වෙයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි වන්නේත් නො වන්නේත් වේ යයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි නො ම වෙයි නො වන්නේ නො වේ යයි හෝ, මෙබඳු වූ යම් දෘෂ්ටියක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් දෘෂ්ටිවිලොමයෙක් දෘෂ්ටිවිෂ්පන්දිතයෙක් දෘෂ්ටිසංයොජනයෙක් (දැඩ වූ) ග්‍රාහයෙක් පිහිටා ගැනීමෙක් අභිනිවෙශ-යෙක් පරාමර්ශයෙක් කුත්සිතමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාත්වයෙක් තීර්ථායතනයෙක් විපර්යාසග්‍රාහයෙක් වේ ද, මේ දෘෂ්ට්‍යාස්‍රව යයි කියනු ලැබේ.

1105. තත්ථ කතමො අවිජ්ජාසවො?

දුක්ඛෙ අඤ්ඤාණං දුක්ඛසමුදයෙ අඤ්ඤාණං දුක්ඛනිරොධෙ අඤ්ඤාණං දුක්ඛනිරොධගාමිනියා පටිපදාය අඤ්ඤාණං පුබ්බන්තෙ අඤ්ඤාණං අපරන්තෙ අඤ්ඤාණං පුබ්බන්තාපරන්තෙ අඤ්ඤාණං ඉදප්පච්චයතා පටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු අඤ්ඤාණං, යං එවරූපං අඤ්ඤාණං අදස්සනං අනභිසමයො අනනුබොධො අසම්බොධො අප්පටිවෙධො අසංගාහණා අපරියොගාහනා අසම්පෙක්ඛනා අපච්චවෙක්ඛනා අපච්චක්ඛකම්මං දුම්මෙජ්ඣං බාල්‍යං අසම්පජඤ්ඤං මොහො පමොහො සම්මොහො අවිජ්ජා අවිජ්ජොඝො අවිජ්ජානුසයො අවිජ්ජාපරියුට්ඨානං අවිජ්ජාලඞ්ගී මොහො අකුසලමූලං, අයං වුච්චති අවිජ්ජාසවො.

ඉමෙ ධම්මා ආසවා.

1106. කතමෙ ධම්මා නො ආසවා?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නො ආසවා

1107. කතමෙ ධම්මා සාසවා?

කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සාසවා.

1108. කතමෙ ධම්මා අනාසවා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අනාසවා.

1109. කතමෙ ධම්මා ආසවසම්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ආසවසම්පයුත්තා.

1110. කතමෙ ධම්මා ආසවවිප්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො සබ්බඤ්ච රූපං අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා ආසවවිප්පයුත්තා.

1111. කතමෙ ධම්මා ආසවා චෙව සාසවා ච?

තෙයෙව ආසවා ආසවා චෙව සාසවා ච.

1105. එහි අවිද්‍යාස්‍රව කවරෙ යත්:

දුඃඛසත්‍යයෙහි නො දැනීම දුඃඛසමුදයෙහි නො දැනීම දුඃඛනිරොධයෙහි නො දැනීම දුඃඛනිරොධගාමිනී ප්‍රතිපදායෙහි නො දැනීම පූර්වාන්තයෙහි නො දැනීම අපරාන්තයෙහි නො දැනීම පූර්වාන්තාපරාන්තයෙහි නො දැනීම ඉදම්ප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පන්න ධර්මයන්හි නො දැනීම ය යන යම් මෙබඳු වූ නො දැනීමෙක් අදර්ශනයෙක් අනභිසමයෙක් අනනුබොධයෙක් අසම්බොධයෙක් අප්‍රතිවෙධයෙක් අසඞ්ගාහනයෙක් හාත්පසින් නො බැසගැනීමෙක් සම ව නො දැකීමෙක් (ධර්මස්වභාවය) ප්‍රත්‍යවෙක්ෂණය නො කිරීමෙක් ප්‍රත්‍යක්‍ෂ නො කිරීමෙක් (චිත්තසන්තානයාගේ) අපවිත්‍ර බවෙක් බාල බවෙක් අසම්ප්‍රජන්‍යයෙක් මොහයෙක් බලවත් මොහයෙක් හාත්පසින් මුලාවීමෙක් අවිද්‍යායෙක් අවිද්‍යා සංඛ්‍යාත ඔඝයෙක් අවිද්‍යා යොගයෙක් අවිද්‍යානුශයයෙක් අවිද්‍යාපර්‍ය්‍යුත්ථානයෙක් අවිද්‍යාපරිඝයෙක් මොහ අකුශල මූලයෙක් වේ ද, මේ අවිද්‍යාස්‍රව යයි කියනු ලැබේ.

මේ ධර්‍මයෝ ආස්‍රවයෝ යි.

1106. කවර ධර්මයෝ ආස්‍රව නො වූවාහු වෙති යත්:

ඒ ආස්‍රවධර්මයන් තබා කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ අවශෙෂ කුශල - අකුශල - අව්‍යාකෘත ධර්මයෝ ය, වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛත ධාතුව ද යන මේ ධර්මයෝ ආස්‍රව නො වූවෝ යි.

1107. කවර ධර්මයෝ සාස්‍රව වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ කුශල - අකුශල - අව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, යන මේ ධර්මයෝ සාස්‍රවයෝ යි.

1108. කවර ධර්මයෝ, අනාස්‍රවහ යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසඞ්ඛත නිර්වාණධාතුව ද, යන මේ ධර්මයෝ අනාස්‍රවයෝ යි.

1109. කවර ධර්මයෝ ආස්‍රව සම්ප්‍රයුක්තහ යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ආස්‍රවධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු ද, වෙදනාස්කන්ධ ය, ... විඥනස්කන්ධය, යන මේ ධර්මයෝ ආස්‍රවසම්ප්‍රයුක්තයෝ යි.

1110. කවර ධර්මයෝ ආස්‍රවවිප්‍රයුක්තහ යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ආස්‍රවධර්මයන් හා විප්‍රයුක්ත වූවාහු ද වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛත ධාතුව ද, යන මේ ධර්මයෝ ආස්‍රවවිප්‍රයුක්තයෝ යි.

1111. කවර ධර්මයෝ ආස්‍රව ද සාස්‍රව ද වෙති යත්:

ඒ ආස්‍රවයෝ ආස්‍රව ද ආස්‍රව සහිත ද වෙත්.

1112. කතමෙ ධම්මා සාසවා චෙව නො ච ආසවා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සාසවා තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සාසවා චෙව නො ච ආසවා.

1113. කතමෙ ධම්මා ආසවා චෙව ආසවසම්පයුත්තා ච?

කාමාසවො අවිජ්ජාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, අවිජ්ජාසවො කාමාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, භවාසවො අවිජ්ජාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, අවිජ්ජාසවො භවාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, දිට්ඨාසවො අවිජ්ජාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, අවිජ්ජාසවො දිට්ඨාසවෙන ආසවො චෙව ආසවසම්පයුත්තො ච, ඉමෙ ධම්මා ආසවා චෙව ආසවසම්පයුත්තා ච.

1114. කතමෙ ධම්මා ආසවසම්පයුත්තා චෙව නො ච ආසවා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා තෙ ධම්මෙ ඨපෙත්වා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ආසවසම්පයුත්තා චෙව නො ච ආසවා.

1115. කතමෙ ධම්මා ආසවවිප්පයුත්තා සාසවා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ආසවවිප්පයුත්තා සාසවා.

1116. කතමෙ ධම්මා ආසවවිප්පයුත්තා අනාසවා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා ආසවවිප්පයුත්තා අනාසවා.

ආසවගොච්ඡකං.

නික්ඛෙපකණ්ඩෙ පඨමකභාණවාරං

නිට්ඨිතං.

1117. කතමෙ ධම්මා සඤ්ඤොජනා?

දස සඤ්ඤොජනානි: කාමරාගසඤ්ඤොජනං, පටිඝසඤ්ඤොජනං, මානසඤ්ඤොජනං, දිට්ඨිසඤ්ඤොජනං, විචිකිච්ඡාසඤ්ඤොජනං, සීලබ්බතපරාමාසසඤ්ඤොජනං, භවරාගසඤ්ඤොජනං, ඉස්සාසඤ්ඤොජනං, මච්ඡරියසඤ්ඤොජනං, අවිජ්ජාසඤ්ඤොජනං.

1112. කවර ධම්යෝ සාස්‍රව ද නො ද ආස්‍රව ද වෙති යත්:

යම් ධම් කෙනෙක් ඒ ආස්‍රවධම්යන් ගෙන් සාස්‍රව වූවාහු ද ඒ ධම්යන් තබා, කාමාවචර රූපාවචර අරූපාවචර වූ සෙසු ආස්‍රව සහිත වූ කුශලාකුශලාව්‍යාකෘත ධම්යෝ ය, රූපස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, යන මේ ධම්යෝ සාස්‍රව ද නො ද ආස්‍රව ද වෙත්.

1113. කවර ධම්යෝ ආස්‍රව ද ආස්‍රවසම්ප්‍රයුක්ත ද වෙති යත්:

කාමාස්‍රවය අවිද්‍යාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රවසම්ප්‍රයුක්ත වූයේ ද වෙයි. අවිද්‍යාස්‍රවය කාමාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රවසම්ප්‍රයුක්ත වූයේ ද වෙයි. භවාස්‍රවය අවිද්‍යාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රවසම්ප්‍රයුක්ත වූයේ ද වෙයි, අවිද්‍යාස්‍රවය භවාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රව සම්ප්‍රයුක්ත වූයේ ද වෙයි. දෘෂ්ට්‍යාස්‍රවය අවිද්‍යාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රවසම්ප්‍රයුක්ත වූයේ ද වෙයි. අවිද්‍යාස්‍රවය දෘෂ්ට්‍යාස්‍රවය හා ආස්‍රව වූයේ ද ආස්‍රව සම්ප්‍රයුක්ත වූයේ ද වේ. මේ ධම්යෝ ආස්‍රව ද ආස්‍රව සම්ප්‍රයුක්ත ද වෙත්.

1114. කවර ධම්යෝ ආස්‍රවසම්ප්‍රයුක්ත ද නො ද ආස්‍රව ද වෙති යත්:

යම් ධම් කෙනෙක් ඒ ආස්‍රවධම්යන් හා සම්ප්‍රයුක්ත වූවාහු නම්, ඒ ධම්යන් තබා, වෙදනාස්කන්ධ ය ... විඥනස්කන්ධ ය, යන මේ ධම්යෝ ආස්‍රවසම්ප්‍රයුක්ත වූවාහු ද නො ද ආස්‍රව වූවාහු ද වෙත්.

1115. කවර ධම්යෝ ආස්‍රව විප්‍රයුක්ත සාස්‍රව වෙති යත්:

යම් ධම් කෙනෙක් ඒ ආස්‍රවධම්යන් හා විප්‍රයුක්ත වූවාහු ද, කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශලාව්‍යාකෘත ධම්යෝ ය, රූපස්කන්ධ ය, ...විඥනස්කන්ධය, යන මේ ධම්යෝ ආස්‍රවවිප්‍රයුක්ත වූ සාස්‍රවයෝ යි.

1116. කවර ධම්යෝ ආස්‍රවවිප්‍රයුක්ත අනාස්‍රව වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසඞ්ඛත (නිබ්බාන) ධාතුව ද, යන මොහු ආස්‍රවවිප්‍රයුක්ත වූ අනාස්‍රව ධම්යෝ යි.

ආසවගොච්ඡකය යි.

නික්ෂෙපකාණ්ඩයෙහි

පළමුවන බණවර නිමි.

1117. කවර ධම්යෝ සංයොජන වෙති යත්:

දශ සංයොජනයෝ ය: කාමරාගසංයොජන ය, ප්‍රතිඝ සංයොජන ය, මාන සංයොජන ය, දෘෂ්ටිසංයොජන ය, විචිකිත්සා සංයොජන ය, ශීලව්‍රතපරාමර්ශ සංයොජන ය, භවරාගසංයොජන ය, ඊර්ෂ්‍යාසංයොජන ය, මාත්සය්‍යසංයොජනය, අවිද්‍යාසංයොජන යි.

1118. තත්ථ කතමං කාමරාගසඤ්ඤොජනං?

යො කාමෙසු කාමච්ඡන්දො කාමරාගො කාමනන්දී කාමතණ්හා කාමසිනෙහො කාමපරිළාහො කාමමුච්ඡා කාමජ්ඣොසානං, ඉදං වුච්චති කාමරාගසඤ්ඤොජනං.

1119. තත්ථ කතමං පටිඝසඤ්ඤොජනං?

අනත්ථං මෙ අචරීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරතීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරිස්සතීති ආඝාතො ජායති, පියස්ස මෙ මනාපස්ස අනත්ථං අචරි -පෙ- අනත්ථං චරති -පෙ- අනත්ථං චරිස්සතීති ආඝාතො ජායති, අප්පියස්ස මෙ අමනාපස්ස අත්ථං අචරි -පෙ- අත්ථං චරති -පෙ- අත්ථං චරිස්සතීති ආඝාතො ජායති, අට්ඨානෙ වා පන ආඝාතො ජායති. යො එවරූපො චිත්තස්ස ආඝාතො පටිඝාතො පටිඝං පටිවිරොධො කොපො පකොපො සම්පකොපො දොසො පදොසො සම්පදොසො චිත්තස්ස ව්‍යාපත්ති මනොපදොසො කොධො කුජ්ඣනා කුජ්ඣිතත්තං දොසො දුස්සනා දුස්සිතත්තං ව්‍යාපත්ති ව්‍යාපජ්ජනා ව්‍යාපජ්ජිතත්තං විරොධො පටිවිරොධො චණ්ඩික්කං අසුරොපො අනත්තමනතා චිත්තස්ස, ඉදං වුච්චති පටිඝසඤ්ඤොජනං.

1120. තත්ථ කතමං මානසඤ්ඤොජනං?

සෙය්‍යොහමස්මීති මානො සදිසොහමස්මීති මානො හීනොහමස්මීති මානො, යො එවරූපො මානො මඤ්ඤනා මඤ්ඤිතත්තං උන්නති උන්නාමො ධජො සම්පග්ගාහො කෙතුකම්‍යතා චිත්තස්ස, ඉදං වුච්චති මානසඤ්ඤොජනං.

1121. තත්ථ කතමං දිට්ඨිසඤ්ඤොජනං?

සස්සතො ලොකොති වා අසස්සතො ලොකොති වා අන්තවා ලොකොති වා අනන්තවා ලොකොති වා, තං ජීවං තං සරීරන්ති වා අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වා, හොති තථාගතො පරම්මරණාති වා න හොති තථාගතො පරම්මරණාති වා නෙව හොති න න හොති තථාගතො පරම්මරණාති වා, යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසඤ්ඤොජනං ගාහො පටිග්ගාහො අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො, ඉදං වුච්චති දිට්ඨිසඤ්ඤොජනං. ඨපෙත්වා සීලබ්බතපරාමාසසඤ්ඤොජනං සබ්බාපි මිච්ඡාදිට්ඨි දිට්ඨිසඤ්ඤොජනං.

1118. එහි කාමරාගසංයෝජන කවරේ යත්:

පස්කම් ගුණයෙහි යම් කාමසඞ්ඛ්‍යාත ඡන්දයෙක් කාමරාගයෙක් කාමනන්දියෙක් කාමතෘෂ්ණායෙක් කාමස්නෙහයෙක් කාමපරිදාහයෙක් කාමමූර්ච්ඡායෙක් කාමාධ්‍යවසානයෙක් (කාමයෙහි ගැලිසිටීමෙක්) වේ ද, මේ කාමරාගසංයෝජන යයි කියනු ලැබේ.

1119. එහි ප්‍රතිඝසංයෝජන කවරේ යත්:

'මට අනර්ථ කළැ'යි ආඝාත උපදී. 'මට අනර්ථ කෙරෙයි' ආඝාත උපදී. 'මට අනර්ථ කරන්නේ ය' යි ආඝාත උපදී. මාගේ ප්‍රිය මනාපයා හට අනර්ථ කෙළේ ය ... අනර්ථ කෙරෙයි... අනර්ථ කරන්නේ ය'යි ආඝාත උපදී. 'මාගේ අප්‍රිය අමනාපයා හට අර්ථ කෙළේ ය ... අර්ථ කෙරෙයි ... අර්ථ කරන්නේ ය' යි ආඝාත උපදී. යළි අස්ථානයෙහි හෝ ආඝාත උපදී. යම් මෙබඳු වූ චිත්තයාගේ ආඝාතයෙක් ප්‍රතිඝාතයෙක් ප්‍රතිඝයෙක් ප්‍රතිවිරොධයෙක් කොපයෙක් ප්‍රකොපයෙක් සම්ප්‍රකොපයෙක් ද්වෙෂයෙක් ප්‍රද්වෙෂයෙක් සම්ප්‍රද්වෙෂයෙක් චිත්තයාගේ විපරීත බවෙක් චිත්තයාගේ දොෂයෙක් ක්‍රොධයෙක් කිපෙන අයුරෙක් කිපුණු බවෙක් දොෂයෙක් දොෂාකාරයෙක් දුෂ්ට බවෙක් විපරීතයෙක් විපරීතාකාරයෙක් විපර්යස්ත බවෙක් විරොධයෙක් පුනපුනා විරොධයෙක් සැඩබවෙක් නො පිරුණු වචන ඇති බවෙක් චිත්තයාගේ නො සතුටු බවෙක් වේ ද, මේ ප්‍රතිඝසංයෝජන යයි කියනු ලැබේ.

1120. එහි මානසංයෝජන කවරේ යත්:

'මම ශ්‍රෙෂ්ඨයෙමි' මාන ය, 'මම සදෘශයෙමි' මාන ය, 'මම හීනයෙමි' මාන ය, යම් මෙබඳු වූ මානයෙක් මානාකාරයෙක් මඤ්ඤිත බවෙක් උන්නතියෙක් ඔසොවා තැබීමෙක් ධවජයෙක් සිත දැඩි ව ගැනීමෙක් චිත්තයාගේ කෙතුකාම්‍යතායෙක් වේ ද, මේ මානසංයෝජන යයි කියනු ලැබේ.

1121. එහි දෘෂ්ටිසංයෝජන කවරේ යත්:

ලෝකය ශාශ්වත ය හෝ, ලෝකය අශාශ්වත ය හෝ, ලෝකය අන්තවත් ය හෝ, ලෝකය අනන්තවත් ය හෝ, එ ම ජීව ය ඒ ශරීර යයි හෝ, ජීවය අනෙකෙකැ, ශරීරය අනෙකෙකැ'යි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි වේ යයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි නො වේ යයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි වන්නේත් නො වන්නේත් වේ යයි හෝ, සත්ත්වයා මරණින් මතුයෙහි නො ම වෙයි නො වන්නේත් නො වේ යයි හෝ, යම් මෙබඳු වූ දෘෂ්ටියෙක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් විලෝමදෘෂ්ටියෙක් දෘෂ්ටිවිෂ්පන්දිතයෙක් දෘෂ්ටිසංයෝජනයෙක් ග්‍රාහයෙක් පිහිටාසිටීමෙක් පිවිසීමෙක් පරාමර්ශයෙක් කුත්සිතමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාත්වයෙක් තීර්ථායතනයෙක් විපර්යාසග්‍රාහයෙක් වේ ද, මේ දෘෂ්ටිසංයෝජන යයි කියනු ලැබේ. ශීලව්‍රතපරාමර්ශසංයෝජනය තබා සියලු මිථ්‍යාදෘෂ්ටි දෘෂ්ටිසංයෝජන යි.

1122. තත්ථ කතමං විචිකිච්ඡාසඤ්ඤොජනං?

සත්ථරි කඞ්ඛති විචිකිච්ඡති, ධම්මෙ කඞ්ඛති විචිකිච්ඡති, සඞ්ඝෙ කඞ්ඛති විචිකිච්ඡති, සික්ඛාය කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, අපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තාපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, ඉදප්පච්චයතාපටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු කඞ්ඛති විචිකිච්ඡති. යා එවරූපා කඞ්ඛා කඞ්ඛායනා කඞ්ඛායිතත්තං විමති විචිකිච්ඡා ද්වෙළ්හකං ද්වෙධාපථො සංසයො අනෙකංසගාහො ආසප්පනා පරිසප්පනා අපරියොගාහනා ඡම්භිතත්තං චිත්තස්ස මනොවිලෙඛො, ඉදං වුච්චති විචිකිච්ඡාසඤ්ඤොජනං.

1123. තත්ථ කතමං සීලබ්බතපරාමාසසඤ්ඤොජනං?

ඉතො බහිද්ධා සමණබ්‍රාහ්මණානං සීලෙන සුද්ධි වතෙන සුද්ධි සීලබ්බතෙන සුද්ධීති යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසඤ්ඤොජනං ගාහො පතිට්ඨාහො අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසගාහො, ඉදං වුච්චති සීලබ්බතපරාමාසසඤ්ඤොජනං.

1124. තත්ථ කතමං භවරාගසඤ්ඤොජනං?

යො භවෙසු භවච්ඡන්දො භවරාගො භවනන්දී භවතණ්හා භවසිනෙහො භවපරිළාහො භවමුච්ඡා භවජ්ඣොසානං, ඉදං වුච්චති භවරාගසඤ්ඤොජනං.

1125. තත්ථ කතමං ඉස්සාසඤ්ඤොජනං?

යා පර ලාභ සක්කාර ගරුකාර මානන වන්දන පූජනාසු ඉස්සා ඉස්සායනා ඉස්සායිතත්තං උසූයා උසූයනා උසූයිතත්තං, ඉදං වුච්චති ඉස්සාසඤ්ඤොජනං.

1126. තත්ථ කතමං මච්ඡරියසඤ්ඤොජනං?

පඤ්ච මච්ඡරියානි: ආවාසමච්ඡරියං කුලමච්ඡරියං ලාභමච්ඡරියං වණ්ණමච්ඡරියං ධම්මමච්ඡරියං, යං එවරූපං මච්ඡෙරං මච්ඡරායනා මච්ඡරායිතත්තං වෙවිච්ඡං කදරියං කටුකඤ්චුකතා අග්ගහිතත්තං චිත්තස්ස, ඉදං වුච්චති මච්ඡරියසඤ්ඤොජනං.

1122. එහි විචිකිත්සාසංයෝජන කවරේ ද යත්:

ශාස්තෘන් වහන්සේ කෙරෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ධර්මයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ත්‍රිවිධ ශික්ෂායෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි, පූර්වාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. අපරාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. පූර්වාන්තාපරාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ඉදම්ප්‍රත්‍යයතා ප්‍රතීත්‍යසමුත්පන්න ධර්මයන්හි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. යම් මෙබඳු වූ සැකයෙක් සැකයට පැමිණීමෙක් සැකයට පැමිණි බවෙක් විමතියෙක් විචිකිත්සායෙක් දෙළහකයෙක් ද්විධාපථයෙක් සංශයෙක් අනෛකාන්තග්‍රාහයෙක් පසුබැසීමෙක් හාත්පසින් පසුබැසීමෙක් නො බැසගැනීමෙක් චිත්තයාගේ තදබවෙක් මනෝවිලෙඛයෙක් වේ ද, මේ විචිකිත්සාසංයෝජන යයි කියනු ලැබේ.

1123. එහි ශීලව්‍රතපරාමර්ශසංයෝජන කවරේ ද යත්:

මේ සස්නෙන් බැහැර මහණබමුණන්ගේ 'ශීලයෙන් ශුද්ධිය, ව්‍රතයෙන් ශුද්ධි ය'යි යම් මෙබඳු වූ දෘෂ්ටියෙක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් විලෝම දෘෂ්ටියෙක් දෘෂ්ටිවිෂ්පන්දිතයෙක් දෘෂ්ටිසංයෝජනයෙක් ග්‍රාහයෙක් පිහිටා සිටීමෙක් අභිනිවේශයෙක් පරාමර්ශයෙක් කුමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාත්වයෙක් තීර්ථායතනයෙක් විපර්යාසග්‍රාහයෙක් වේ ද, මේ ශීලව්‍රතපරාමර්ශසංයෝජන යයි කියනු ලබේ.

1124. එහි භවරාගසංයෝජන කවරේ ද යත්:

රූපාරූපභවයන්හි යම් භවච්ඡන්දයෙක් භවරාගයෙක් භවනන්දියෙක් භවතෘෂ්ණායෙක් භවස්නේහයෙක් භවපරිදාහයෙක් භවමූර්ච්ඡායෙක් භවයන්හි බැසගැනීමෙක් වේ ද, මේ භවරාගසංයෝජන යයි කියනු ලැබේ.

1125. එහි ඊර්ෂ්‍යාසංයෝජන කවරේ ද යත්:

මෙරමා පිළිබඳ ලාභ - සත්කාර - ගරුකාර - මානන - වන්දන - පූජනා විෂයෙහි යම් ඊර්ෂ්‍යාවක් ඊර්ෂ්‍යාකාරයෙක් ඊර්ෂ්‍යාවට පැමිණි බවෙක්, අසූයා (-දෙස් පහළ කිරීමෙක්) අසූයාකාරයෙක් අසූයාවට පැමිණි බවෙක් වේ ද, මේ ඊර්ෂ්‍යාසංයෝජන යයි කියනු ලැබේ.

1126. එහි මාත්සර්යසංයෝජන කවරේ ද යත්:

මාත්සර්ය (මසුරුබැව්) පසෙකි: ආවාසමාත්සර්ය ය කුලමාත්සර්ය ය ලාභමාත්සර්ය ය වර්ණමාත්සර්ය ය ධර්මමාත්සර්ය යයි. යම් මෙ බඳු වූ මාත්සර්යයෙක් මාත්සර්යකාරයෙක් මාත්සර්යයට පැමිණි බවෙක් වෙවිච්ඡායෙක් අත්‍යාර්ය (තදමසුරු) බවෙක් කටුකභාවයෙන් සිත හැකිළීමෙක් සිත හාත්පසින් ගත්බවෙක් වේ ද, මේ මාත්සර්යසංයෝජන යයි කියනු ලැබේ.

1127. තත්ථ කතමං අවිජ්ජාසඤ්ඤොජනං?

දුක්ඛෙ අඤ්ඤාණං දුක්ඛසමුදයෙ අඤ්ඤාණං දුක්ඛනිරොධෙ අඤ්ඤාණං දුක්ඛනිරොධගාමිනියා පටිපදාය අඤ්ඤාණං පුබ්බන්තෙ අඤ්ඤාණං අපරන්තෙ අඤ්ඤාණං පුබ්බන්තාපරන්තෙ අඤ්ඤාණං ඉදප්පච්චයතා පටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු අඤ්ඤාණං, යං එවරූපං අඤ්ඤාණං අදස්සනං අනභිසමයො අනනුබොධො අසම්බොධො අප්පටිවෙධො අසංගාහණා අපරියොගාහණා අසමපෙක්ඛනා අපච්චවෙක්ඛනා අපච්චක්ඛකම්මං දුම්මෙජ්ඣං බාල්‍යං අසම්පජඤ්ඤං මොහො පමොහො සම්මොහො අවිජ්ජා අවිජ්ජොඝො අවිජ්ජායොගො අවිජ්ජානුසයො අවිජ්ජාපරියුට්ඨානං අවිජ්ජාලඞ්ගී මොහො අකුසලමූලං, ඉදං වුච්චති අවිජ්ජා සඤ්ඤොජනං.

ඉමෙ ධම්මා සඤ්ඤොජනා.

1128. කතමෙ ධම්මා නො සඤ්ඤොජනා?

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නො සඤ්ඤොජනා.

1129. කතමෙ ධම්මා සඤ්ඤොජනියා?

සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සඤ්ඤොජනියා.

1130. කතමෙ ධම්මා අසඤ්ඤොජනියා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අසඤ්ඤොජනියා.

1131. කතමෙ ධම්මා සඤ්ඤොජනසම්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සඤ්ඤොජනසම්පයුත්තා.

1132. කතමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා.

1127. එහි අවිද්‍යාසංයොජන කවරේ යත්:

දුඃඛසත්‍යයෙහි නො දැනීම දුඃඛසමුදයෙහි නො දැනීම දුඃඛනිරොධයෙහි නො දැනීම දුඃඛනිරොධගාමිනීප්‍රතිපදායෙහි නො දැනීම පූර්වාන්තයෙහි නො දැනීම අපරාන්තයෙහි නො දැනීම පූර්වාන්තාපරාන්තයෙහි නො දැනීම ඉදප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පන්නධර්මයන්හි නො දැනීම ය, යන මෙබඳු වූ යම් අඥානයෙක් අදර්ශනයෙක් අනභිසමයෙක් අනවබොධයෙක් අසම්බොධයෙක් අප්‍රතිවෙධයෙක් (අනිත්‍යාදි සාමාන්‍ය හෙයින්) මොනොවට නො ගැනීමෙක් හාත්පසින් නො බැස ගැනීමෙක් සම ව නො බැලීමෙක් ප්‍රත්‍යවෙක්ෂා නො කිරීමෙක් ප්‍රත්‍යක්‍ෂ නො කිරීමෙක් දුර්මේධ්‍යයෙක් බාල්‍යයෙක් අසම්‍යග් ඥානයෙක් මොහයෙක් ප්‍රමොහයෙක් සම්මොහයෙක් අවිද්‍යායෙක් අවිද්‍යෞඝයෙක් අවිද්‍යායොගයෙක් අවිද්‍යානුශයෙක් අවිද්‍යාපර්‍ය්‍යුත්ථානයෙක් අවිද්‍යාපරිඝයෙක් මොහ - අකුශලමූලයෙක් වේ ද, මේ අවිද්‍යාසංයොජන යයි කියනු ලැබේ.

මේ ධර්මයෝ සංයොජනයෝ යි.

1128. කවර ධර්මයෝ සංයොජන නො වූවාහු වෙති යත්:

ඒ සංයොජනධර්මයන් තබා අවශෙෂ වූ කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ කුශල - අකුශල - අව්‍යාකෘත ධර්මයෝ ය, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, සියලු රූපය ද, අසඞ්ඛතධාතුව ද යන මේ ධර්මයෝ සංයොජන නො වූවෝ යි.

1129. කවර ධර්මයෝ සංයොජනීය වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධ ය යන මොහු සංයොජනීය ධර්මයෝ ය.

1130. කවර ධර්මයෝ අසංයොජනීය වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසඞ්ඛතධාතුව ද යන මොහු අසංයොජනීය ධර්මයෝ යි.

1131. කවර ධර්මයෝ සංයොජනසම්ප්‍රයුක්ත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ සංයොජනධර්මයන් හා සම්ප්‍රයුක්ත වූ වාහු ද, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, යන මොහු සංයොජනසම්ප්‍රයුක්ත ධර්මයෝ යි.

1132. කවර ධර්මයෝ සංයොජනවිප්‍රයුක්ත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ සංයොජනධර්මයන් හා විප්‍රයුක්ත වූවාහු ද, වේදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය සියලු රූපය ද, අසඞ්ඛත ධාතුව ද, යන මේ ධර්මයෝ සංයොජනවිප්‍රයුක්තයෝ යි.

1133. කතමෙ ධම්මා සඤ්ඤොජනා චෙව සඤ්ඤොජනියා ච?

තානෙව සංයොජනානි සඤ්ඤොජනා චෙව සංයොජනියා ච.

1134. කතමෙ ධම්මා සඤ්ඤොජනියා චෙව නො ච සඤ්ඤොජනා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සඤ්ඤොජනියා තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සඤ්ඤොජනියා චෙව නො ච සඤ්ඤොජනා.

1135. කතමෙ ධම්මා සඤ්ඤොජනා චෙව සඤ්ඤොජනසම්පයුත්තා ච?

කාමරාගසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං කාමරාගසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. පටිඝසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං පටිඝසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. මානසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං මානසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. දිට්ඨිසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං දිට්ඨිසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. විචිකිච්ඡාසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං විචිකිච්ඡාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. සීලබ්බතපරාමාසසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං සීලබ්බතපරාමාසසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. භවරාගසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං භවරාගසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තඤ්ච. ඉස්සාසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච, අවිජ්ජාසඤ්ඤොජනං ඉස්සාසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. මච්ඡරියසඤ්ඤොජනං අවිජ්ජාසඤ්ඤොජනෙන සඤ්ඤොජනඤ්චෙව සඤ්ඤොජනසම්පයුත්තඤ්ච, අවිජ්ජාසඤ්ඤොජනං මච්ඡරියසඤ්ඤොජනෙන සඤ්ඤොජනං චෙව සඤ්ඤොජනසම්පයුත්තං ච. ඉමෙ ධම්මා සඤ්ඤොජනා චෙව සඤ්ඤොජනසම්පයුත්තා ච.

1136. කතමෙ ධම්මා සඤ්ඤොජනසම්පයුත්තා චෙව නො ච සඤ්ඤොජනා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා තෙ ධම්මෙ ඨපෙත්වා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සඤ්ඤොජනසම්පයුත්තා චෙව නො ච සඤ්ඤොජනා.

1133. කවර ධර්මයෝ සංයෝජනත් සංයෝජනියත් වෙති යත්:

ඒ සංයෝජනයෝ මැ සංයෝජන ද සංයෝජනිය ද වෙත්.

1134. කවර ධර්මයෝ සංයෝජනිය ද නො ද සංයෝජන ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ සංයෝජනධර්මයන්ගෙන් සංයෝජනිය වෙත් නම්, ඒ ධර්මයන් තබා අවශෙෂ කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධය, යන මේ ධර්මයෝ සංයෝජනිය ද නො ද සංයෝජන ද වෙත්.

1135. කවර ධර්මයෝ සංයෝජන ද සංයෝජන සම්ප්‍රයුක්ත ද වෙති යත්:

කාමරාගසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය කාමරාගසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. ප්‍රතිඝසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජන සම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය ප්‍රතිඝසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. මානසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය මානසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. දෘෂ්ටිසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය දෘෂ්ටිසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. විචිකිත්සාසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය විචිකිත්සාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. ශීලව්‍රතපරාමර්ශ සංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය ශීලව්‍රතපරාමර්ශසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. භවරාග සංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය භවරාගසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. ඊර්ෂ්‍යාසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජන සම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යාසංයෝජනය ඊර්ෂ්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි. මාත්සර්‍ය්‍යසංයෝජනය අවිද්‍යාසංයෝජනය සමග සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙයි, අවිද්‍යා සංයෝජනය මාත්සර්‍ය්‍යසංයෝජනය සමග සංයෝජන ද සංයෝජන සම්‍යුක්ත ද වේ. මේ ධර්මයෝ සංයෝජන ද සංයෝජනසම්ප්‍රයුක්ත ද වෙත්.

1136. කවර ධර්මයෝ සංයෝජනසම්ප්‍රයුක්ත ද නො ද සංයෝජන ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ සංයෝජනධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු නම්, ඒ ධර්මයන් තබා, වෙදනාස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, යන මේ ධර්මයෝ සංයෝජනසම්ප්‍රයුක්ත ද නො ද සංයෝජන ද වෙත්.

1137. කතමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා සඤ්ඤොජනියා?

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා සඤ්ඤොජනියා.

1138. කතමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා අසඤ්ඤොජනියා?

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා සඤ්ඤොජනවිප්පයුත්තා අසඤ්ඤොජනියා.

### සංයොජන ගොච්ඡකං.

1139. කතමෙ ධම්මා ගන්ථා?

චත්තාරො ගන්ථා: අභිජ්ඣා කායගන්ථො, බ්‍යාපාදො කායගන්ථො, සීලබ්බතපරාමාසො කායගන්ථො, ඉදංසච්චාභිනිවෙසො කායගන්ථො.

1140. තත්ථ කතමො අභිජ්ඣාකායගන්ථො?

යො රාගො සාරාගො අනුනයො අනුරොධො නන්දි නන්දිරාගො චිත්තස්ස සාරාගො ඉච්ඡා මුච්ඡා අජ්ඣොසානං ගෙධො පලිගෙධො සඞ්ගො පඞ්කො එජා මායා ජනිකා සඤ්ජනනී සිබ්බිනී ජාලිනී සරිතා විසත්තිකා සුත්තං විසටා ආයූහනී දුතියා පණිධි භවනෙත්ති වනං වනථො සන්ථවො සිනෙහො අපෙක්ඛා පටිබන්ධු ආසා ආසිංසනා ආසිංසිතත්තං රූපාසා සද්දාසා ගන්ධාසා රසාසා ඵොට්ඨබ්බාසා ලාභාසා ධනාසා පුත්තාසා ජීවිතාසා ජප්පා පජප්පා අභිජප්පා ජප්පනා ජප්පිතත්තං ලොලුප්පං ලොලුප්පායනා ලොලුප්පායිතත්තං පුච්ඡඤ්ජිකතා සාධුකම්‍යතා අධම්මරාගො විසමලොභො නිකන්ති නිකාමනා පත්ථනා පිහනා සම්පත්ථනා කාමතණ්හා භවතණ්හා විභවතණ්හා රූපතණ්හා අරූපතණ්හා නිරොධතණ්හා රූපතණ්හා සද්දතණ්හා ගන්ධතණ්හා රසතණ්හා ඵොට්ඨබ්බතණ්හා ධම්මතණ්හා ඔඝො යොගො ගන්ථො උපාදානං ආවරණං නීවරණං ඡදනං බන්ධනං උපක්කිලෙසො අනුසයො පරියුට්ඨානං ලතා වෙවිච්ඡං දුක්ඛමූලං දුක්ඛනිදානං දුක්ඛප්පභවො මාරපාසො මාරබලිසං මාරවිසයො තණ්හානදී තණ්හාජාලං තණ්හාගද්දුලං තණ්හාසමුද්දො අභිජ්ඣා ලොභො අකුසලමූලං, අයං වුච්චති අභිජ්ඣාකායගන්ථො.

**1137.** කවර ධර්මයෝ සංයෝජනවිප්‍රයුක්ත සංයෝජනීය වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ සංයෝජනධර්මයන් හා විප්‍රයුක්ත වූවාහු නම්, කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාශ්‍රව වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධ ය, යන මේ ධර්මයෝ සංයෝජන විප්‍රයුක්ත සංයෝජනීය වෙත්.

**1138.** කවර ධර්මයෝ සංයෝජනවිප්‍රයුක්ත අසංයෝජනීය වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද, මාර්ගඵලයෝ ද, අසංඛත (නිබ්බාන) ධාතුව ද, යන මේ ධර්මයෝ සංයෝජනවිප්‍රයුක්ත අසංයෝජනීය වෙත්.

**සංයෝජනගොච්ඡකය යි.**

**1139.** කවර ධර්මයෝ ග්‍රන්ථ වෙති යත්:

ග්‍රන්ථයෝ සතර දෙනෙක් වෙති: අභිධ්‍යාකායග්‍රන්ථ ය, ව්‍යාපාදකායග්‍රන්ථ ය, ශීලව්‍රතපරාමර්ශකායග්‍රන්ථ ය, ඉදංසත්‍යාභිනිවේශකායග්‍රන්ථ යයි.

**1140.** එහි අභිධ්‍යාකායග්‍රන්ථය කවරේ යත්:

යම් රාගයෙක් බලවත් රාගයෙක් අනුනයෙක් අනුරෝධයෙක් නන්දියෙක් නන්දිරාගයෙක් චිත්තයාගේ සංරාගයෙක් ඉච්ඡාවෙක් මූර්ඡාවෙක් අධ්‍යවසානයෙක් ගේධයෙක් පරිගේධයෙක් ඇලීමෙක් පඞ්කයෙක් ඒජාවෙක් මායාවෙක් ජනිකාවෙක් සංජනනියෙක් සිබ්බිනියෙක් ජාලිනියෙක් සරිතාවෙක් විෂත්තිකාවෙක් සූත්‍රයෙක් පැතිරීමෙක් ආයූහනියෙක් ද්විතීයාවෙක් ප්‍රණිධියෙක් භවනෙත්තියෙක් වනයෙක් වනථයෙක් සන්ථවයෙක් ස්නේහයෙක් අපේක්ෂාවෙක් ප්‍රතිබන්ධයෙක් ආශායෙක් ආශංසනයෙක් ආශංසිත බවෙක් රූපාශායෙක් ශබ්දාශායෙක් ගන්ධාශායෙක් රසාශායෙක් ස්ප්‍රෂ්ටව්‍යාශායෙක් ලාභාශායෙක් ධනාශායෙක් පුත්‍රාශායෙක් ජීවිතාශායෙක් ජල්පනය කිරීමෙක් ප්‍රජල්පනයෙක් අභිජල්පනයෙක් ජල්පනයෙක් ජල්පනාකාරයෙක් ජල්පිත බවෙක් නගුට සැලුමෙක් සාධුකාම්‍යතායෙක් අධර්මරාගයෙක් විෂමලෝභයෙක් නිකාන්තියෙක් කැමැති වන අයුරෙක් ප්‍රාර්ථනයෙක් පිහායෙක් සම්ප්‍රාර්ථනයෙක් කාමතෘෂ්ණායෙක් භවතෘෂ්ණායෙක් විභවතෘෂ්ණායෙක් රූප (භව) තෘෂ්ණයෙක් අරූපතෘෂ්ණයෙක් නිරෝධතෘෂ්ණායෙක්, රූපතෘෂ්ණායෙක් ශබ්දතෘෂ්ණායෙක් ගන්ධතෘෂ්ණායෙක් රසතෘෂ්ණායෙක් ස්ප්‍රෂ්ටව්‍යතෘෂ්ණයෙක් ධර්මතෘෂ්ණායෙක් ඕඝයෙක් යෝගයෙක් ග්‍රන්ථයෙක් උපාදානයෙක් ආවරණයෙක් නීවරණයෙක් ඡදනයෙක් බන්ධනයෙක් උපක්ලේශයෙක් අනුශයෙක් පර්යුත්ථානයෙක් ලතායෙක් වෙවිච්ඡායෙක් දුඃඛමූලයෙක් දුඃඛනිදානයෙක් දුඃඛප්‍රභවයෙක් මාරපාශයෙක් මාරබලිසයෙක් මාරවිෂයෙක් තෘෂ්ණානදියෙක් තෘෂ්ණාජාලයෙක් තෘෂ්ණාගර්දූලයෙක් තෘෂ්ණාසමුද්‍රයෙක් අභිධ්‍යාවෙක් ලෝභඅකුශල මූලයෙක් වේ ද, මේ අභිධ්‍යාකායග්‍රන්ථ යයි කියනු ලැබේ.

1141. තත්ථ කතමො ව්‍යාපාදො කායගන්ථො?

අනත්ථං මෙ අචරීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරතීති ආඝාතො ජායති, අනත්ථං මෙ චරිස්සතීති ආඝාතො ජායති. පියස්ස මෙ මනාපස්ස අනත්ථං අචරි -පෙ- අනත්ථං චරති -පෙ- අනත්ථං චරිස්සතීති ආඝාතො ජායති. අප්පියස්ස මෙ අමනාපස්ස අත්ථං අචරි -පෙ- අත්ථං චරති -පෙ- අත්ථං චරිස්සතීති ආඝාතො ජායති. අට්ඨානෙ වා පන ආඝාතො ජායති. යො එවරූපො චිත්තස්ස ආඝාතො පටිඝාතො පටිඝං පටිවිරොධො කොපො පකොපො සම්පකොපො දොසො පදොසො සම්පදොසො චිත්තස්ස ව්‍යාපත්ති මනොපදොසො කොධො කුජ්ඣනා කුජ්ඣිතත්තං දොසො දුස්සනා දුස්සිතත්තං ව්‍යාපත්ති ව්‍යාපජ්ජනා ව්‍යාපජ්ජිතත්තං විරොධො පටිවිරොධො චණ්ඩික්කං අසුරොපො අනත්තමනතා චිත්තස්ස, අයං වුච්චති ව්‍යාපාදො කායගන්ථො.

1142. තත්ථ කතමො සීලබ්බතපරාමාසො කායගන්ථො?

ඉතො බහිද්ධා සමණබ්‍රාහ්මණානං සීලෙන සුද්ධි වතෙන සුද්ධි සීලබ්බතෙන සුද්ධීති යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසඤ්ඤොජනං ගාහො පතිට්ඨාහො අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො, අයං වුච්චති සීලබ්බතපරාමාසො කායගන්ථො.

1143. තත්ථ කතමො ඉදං සච්චාභිනිවෙසො කායගන්ථො?

සස්සතො ලොකො ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, අසස්සතො ලොකො ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, අන්තවා ලොකො ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, අනන්තවා ලොකො ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, තං ජීවං තං සරීරං ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරං ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, හොති තථාගතො පරම්මරණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, න හොති තථාගතො පරම්මරණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, හොති ච න ච හොති තථාගතො පරම්මරණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, නෙව හොති න න හොති තථාගතො පරම්මණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති වා, යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසඤ්ඤොජනං ගාහො පතිට්ඨාහො අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො, අයං වුච්චති ඉදංසච්චාභිනිවෙසො කායගන්ථො. ඨපෙත්වා සීලබ්බතපරාමාසං කායගන්ථං සබ්බාපි මිච්ඡාදිට්ඨි ඉදංසච්චාභිනිවෙසො කායගන්ථො.

ඉමෙ ධම්මා ගන්ථා.

1141. එහි ව්‍යාපාද කායග්‍රන්ථ කවරේ යැ:

'මට අවැඩ කළැ'යි කොප උපදී, 'මට අවැඩ කෙරෙයී' කොප උපදී, 'මට අවැඩ කරන්නේ වනැ'යි කොප උපදී, 'මාගේ ප්‍රිය මනාප වූවහුට අවැඩ කළැ'යි ... අවැඩ කෙරෙයී ... අවැඩ කරන්නේ වනැ'යි කොප උපදී, 'මාගේ අප්‍රිය අමනාප වූවහුට වැඩ කළැ'යි ... වැඩ කෙරෙයී ... වැඩ කරන්නේ වනැ'යි කොප උපදී, යළි නො තැන්හි හෝ කොප උපදී. මෙබඳු වූ යම් සිත පිළිබඳ ආඝාතයෙක් ප්‍රතිඝාතයෙක් ප්‍රතිඝයෙක් ප්‍රතිවිරොධයෙක් කොපයෙක් ප්‍රකොපයෙක් සම්ප්‍රකොපයෙක් ද්වෙෂයෙක් ප්‍රද්වෙෂයෙක් සම්ප්‍රද්වෙෂයෙක් සිත පෙරළීමෙක් සිත දූෂ්‍ය වීමෙක් ක්‍රොධයෙක් කිපෙන අයුරෙක් කිපුණු බවෙක් ද්වෙෂයෙක් දූෂ්‍යාකාරයෙක් දූෂිත බවෙක් පෙරළීමෙක් පෙරළෙන අයුරෙක් පෙරළුණු බවෙක් විරොධයෙක් ප්‍රතිවිරොධයෙක් සැඩබවෙක් නො පිරිපුන් වචන ඇතිබවෙක් චිත්තයාගේ නො සියමන් බවෙක් වේ ද, මේ ව්‍යාපාද කායග්‍රන්ථ යයි කියනු ලැබේ.

1142. එහි ශීලව්‍රතපරාමර්ශ කායග්‍රන්ථ කවරේ යැ:

මෙ සස්නෙන් බැහැර මහණබමුණන්ගේ 'ශීලයෙන් ශුද්ධි යැ, ව්‍රතයෙන් ශුද්ධි යැ, ශීලව්‍රතයෙන් ශුද්ධි යැ'යි මෙබඳු යම් දෘෂ්ටියෙක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් විලොම දෘෂ්ටියෙක් දෘෂ්ටිවිෂ්පන්දිතයෙක් දෘෂ්ටිසංයොජනයෙක් දැඩිව ගැනීමෙක් පිහිටා සිටීමෙක් අභිනිවෙශයෙක් පරාමර්ශයෙක් කුමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාත්වයෙක් තීර්ථායතනයෙක් විපර්‍යාසග්‍රාහයෙක් ඇද්ද, මේ ශීලව්‍රතපරාමර්ශ කායග්‍රන්ථ යි කියනු ලැබේ.

1143. එහි ඉදම්සත්‍යාභිනිවෙශ කායග්‍රන්ථ කවරේ යැ:

සත්ත්ව සඞ්ඛ්‍යාත ලොකය ශාශ්වත යැ, මෙය මැ සැබව, අන්‍යය තුච්ඡ යැයි හෝ, ලොකය අශාශ්වත යැ, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, ලොකය අන්තවත් යැ, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, ලොකය අනන්තවත් යැ, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, එ මැ ජීවය එ මැ ශරීර යැ, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, ජීවය අනෙකෙකැ ශරීරය අනෙකෙකැ, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, තථාගත (-සත්ත්වයා) මරණින් මතුයෙහි වෙයි, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, තථාගත මරණින් මතුයෙහි නො වෙයි, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, තථාගත මරණින් මතුයෙහි වන්නේත් නො ද වන්නේත් වෙයි, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, තථාගත මරණින් මතුයෙහි නො මැ වෙයි, නො වන්නේ නො වෙයි, මෙය මැ සැබැව, අන්‍යය තුච්ඡ යැයි හෝ, මෙබඳු වූ යම් දෘෂ්ටියෙක් දෘෂ්ටිගතයෙක් දෘෂ්ටිගහනයෙක් දෘෂ්ටිකාන්තාරයෙක් දෘෂ්ටිවිලොමයෙක් දෘෂ්ටිවිෂ්පන්දිතයෙක් දෘෂ්ටිසංයොජනයෙක් දැඩිව ගැනීමෙක් පිහිටා සිටීමෙක් අභිනිවෙශයෙක් පරාමර්ශයෙක් කුමාර්ගයෙක් මිථ්‍යාපථයෙක් මිථ්‍යාත්වයෙක් තීර්ථායතනයෙක් විපරීතග්‍රාහයෙක් වේ ද, මේ ඉදම්සත්‍යාභිනිවෙශ කායග්‍රන්ථ යයි කියනු ලැබේ. ශීලව්‍රතපරාමර්ශ කායග්‍රන්ථය තබා හැම මිථ්‍යාදෘෂ්ටි ඉදම්සත්‍යාභිනිවෙශ කායග්‍රන්ථ යි.

මේ ධර්මයෝ ග්‍රන්ථයෝ යි.

1144. කතමෙ ධම්මා නො ගන්ථා:

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බං ච රූපං අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නො ගන්ථා.

1145. කතමෙ ධම්මා ගන්ථනියා:

සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො ඉමෙ ධම්මා ගන්ථනීයා.

1146. කතමෙ ධම්මා අගන්ථනීයා:

අපරියාපන්නා මග්ගා ච, මග්ගඵලානි ච, අසඞ්ඛතා ච ධාතු ඉමෙ ධම්මා අගන්ථනීයා.

1147. කතමෙ ධම්මා ගන්ථසම්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො ඉමෙ ධම්මා ගන්ථසම්පයුත්තා.

1148. කතමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා.

1149. කතමෙ ධම්මා ගන්ථා චෙව ගන්ථනීයා ච:

තෙව ගන්ථා ගන්ථා චෙව ගන්ථනීයා ච.

1150. කතමෙ ධම්මා ගන්ථනීයා චෙව නො ච ගන්ථා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා ගන්ථනියා තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ගන්ථනියා චෙව නො ච ගන්ථා.

1151. කතමෙ ධම්මා ගන්ථා චෙව ගන්ථසම්පයුත්තා ච:

සීලබ්බතපරාමාසො කායගන්ථො අභිජ්ඣාකායගන්ථෙන ගන්ථො චෙව ගන්ථසම්පයුත්තො ච, අභිජ්ඣාකායගන්ථො සීලබ්බතපරාමාසෙන කායගන්ථෙන ගන්ථො චෙව ගන්ථසම්පයුත්තො ච, ඉදංසච්චාභිනිවෙසො කායගන්ථො අභිජ්ඣාකායගන්ථෙන ගන්ථො චෙව ගන්ථසම්පයුත්තො ච, අභිජ්ඣාකායගන්ථො ඉදංසච්චාභිනිවෙසෙන කායගන්ථෙන ගන්ථො චෙව ගන්ථසම්පයුත්තො ච ඉමෙ ධම්මා ගන්ථා චෙව ගන්ථසම්පයුත්තා ච.

1144. ග්‍රන්ථ නො වූ ධර්මයෝ කවරහ යත්:

ඒ ග්‍රන්ථධර්මයන් තබා ශෙෂ වූ කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, වෙදනාස්කන්ධ ය .. විඥානස්කන්ධ ය, හැම රූප ද, අසඞ්ඛතධාතු ද යන මේ ධර්මයෝ ග්‍රන්ථ නො වූවෝ යි.

1145. කවර ධර්මයෝ ග්‍රන්ථනීය වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය ... විඥානස්කන්ධ ය යන මේ ධර්මයෝ ග්‍රන්ථනීය වෙති.

1146. කවර ධර්මයෝ අග්‍රන්ථනීය වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද මාර්ගඵලයෝ ද අසඞ්ඛතධාතුව ද යන මොහු අග්‍රන්ථනීය ධර්මයෝ යි.

1147. ග්‍රන්ථසම්ප්‍රයුක්ත ධර්මයෝ කවරහ යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ග්‍රන්ථධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු ද ඒ වෙදනාස්කන්ධය ... විඥානස්කන්ධය යන මේ ධර්මයෝ ග්‍රන්ථසම්ප්‍රයුක්තයෝ යි.

1148. ග්‍රන්ථවිප්‍රයුක්ත ධර්මයෝ කවරහ යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ග්‍රන්ථධර්මයන්ගෙන් විප්‍රයුක්ත වූවාහු ද වෙදනා-ස්කන්ධය ... විඥානස්කන්ධය සියලු රූප ද අසඞ්ඛතධාතු ද යන මේ ධර්මයෝ ග්‍රන්ථවිප්‍රයුක්තයෝ යි.

1149. කවර ධර්මයෝ ග්‍රන්ථ වූවාහු ද ග්‍රන්ථනීය වූවාහු ද වෙති යත්:

ඒ ග්‍රන්ථයෝ මැ ග්‍රන්ථ ද ග්‍රන්ථනීය ද වෙත්.

1150. කවර ධර්මයෝ ග්‍රන්ථනීය ද නො ද ග්‍රන්ථ ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ග්‍රන්ථධර්මයන්ගෙන් ග්‍රන්ථනීය වෙත් නම් ඒ ධර්මයන් තබා සෙසු කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව කුශලා-කුශලාව්‍යාකෘත ධර්මයෝ ය, රූපස්කන්ධ ය විඥානස්කන්ධ ය යන මේ ධර්මයෝ ග්‍රන්ථනීය වූවාහු ද නො ද ග්‍රන්ථ වූවාහු ද වෙත්.

1151. කවර ධර්මයෝ ග්‍රන්ථ වූවාහු ද ග්‍රන්ථසම්ප්‍රයුක්ත වූවාහු ද වෙති යත්:

ශීලව්‍රතපරාමර්ශ කායග්‍රන්ථය අභිධ්‍යාකායග්‍රන්ථය හා ග්‍රන්ථ ද ග්‍රන්ථ-සම්ප්‍රයුක්ත ද වෙයි. අභිධ්‍යාකායග්‍රන්ථය ශීලව්‍රතපරාමර්ශකායග්‍රන්ථය හා ග්‍රන්ථ වූයේ ද ග්‍රන්ථසම්ප්‍රයුක්ත වූයේ ද වෙයි ඉදම්සත්‍යාභිනිවෙශකාය-ග්‍රන්ථය අභිධ්‍යාකායග්‍රන්ථය හා ග්‍රන්ථ ද ග්‍රන්ථසම්ප්‍රයුක්ත ද වෙයි. අභිධ්‍යාකායග්‍රන්ථය ඉදම්සත්‍යාභිනිවෙශ කායග්‍රන්ථය හා ග්‍රන්ථ ද ග්‍රන්ථ-සම්ප්‍රයුක්ත ද වේ. මේ ධර්මයෝ ග්‍රන්ථ වූවාහු ද ග්‍රන්ථසම්ප්‍රයුක්ත වූවාහු ද වෙත්.

1152. කතමෙ ධම්මා ගන්ථසම්පයුත්තා චෙව නො ච ගන්ථා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා තෙ ධම්මෙ ඨපෙත්වා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ගන්ථසම්පයුත්තා චෙව නො ච ගන්ථා.

1153. කතමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා ගන්ථනියා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා ගන්ථනියා

1154. කතමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා අගන්ථනියා:

අපරියාපන්නා මග්ගා ච, මග්ගඵලානි ච, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා ගන්ථවිප්පයුත්තා අගන්ථනියා.

ගන්ථගොච්ඡකං

1155. කතමෙ ධම්මා ඔඝා -පෙ-

ඔඝගොච්ඡකං

1156. කතමෙ ධම්මා යොගා -පෙ-

යොගගොච්ඡකං

1157. කතමෙ ධම්මා නීවරණා:

ඡ නීවරණා: කාමච්ඡන්දනීවරණං, ව්‍යාපාදනීවරණං, ථිනමිද්ධනීවරණං, උද්ධච්චකුක්කුච්චනීවරණං, විචිකිච්ඡානීවරණං, අවිජ්ජානීවරණං.

1158. තත්ථ කතමං කාමච්ඡන්දනීවරණං:

යො කාමෙසු කාමච්ඡන්දො කාමරාගො කාමනන්දි කාමතණ්හා කාමසිනෙහො කාමපරිළාහො කාමමුච්ඡා කාමජ්ඣොසානං, ඉදං වුච්චති කාමච්ඡන්දනීවරණං.

1159. තත්ථ කතමං ව්‍යාපාදනීවරණං:

'අනත්ථං මෙ අචරී'ති ආඝාතො ජායති, අනත්ථං මෙ චරතී'ති ආඝාතො ජායති. 'අනත්ථං මෙ චරිස්සතී'ති ආඝාතො ජායති, 'පියස්ස මෙ මනාපස්ස අනත්ථං අචරි -පෙ- අනත්ථං චරති -පෙ- අනත්ථං චරිස්සතී'ති ආඝාතො ජායති: 'අප්පියස්ස මෙ අමනාපස්ස අත්ථං අචරි -පෙ- අත්ථං චරති -පෙ- අත්ථං චරිස්සතී'ති ආඝාතො ජායති, අට්ඨානෙ වා පන ආඝාතො ජායති, යො එවරූපො චිත්තස්ස ආඝාතො පටිඝාතො පටිඝං විරොධො පටිවිරොධො කොපො පකොපො සම්පකොපො දොසො පදොසො සම්පදොසො චිත්තස්ස ව්‍යාපත්ති මනොපදොසො කොධො කුජ්ඣනා කුජ්ඣිතත්තං දොසො දුස්සනා[1] දුස්සිතත්තං ව්‍යාපත්ති ව්‍යාපජ්ජනා ව්‍යාපජ්ජිතත්තං විරොධො පටිවිරොධො චණ්ඩික්කං අසුරොපො අනත්තමනතා චිත්තස්ස, ඉදං වුච්චති ව්‍යාපාදනීවරණං.

1. දුස්සනං - සිමු 2

1152. කවර ධර්මයෝ ග්‍රන්ථසම්ප්‍රයුක්ත ද නො ද ග්‍රන්ථ ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ග්‍රන්ථධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු නම් ඒ ධර්මයන් තබා වෙදනාසකන්ධය .. විඥනසකන්ධය යන මේ ධර්මයෝ ග්‍රන්ථ-සම්ප්‍රයුක්ත ද නො ද ග්‍රන්ථ ද වෙත්.

1153. කවර ධර්මයෝ ග්‍රන්ථවිප්‍රයුක්ත ග්‍රන්ථනිය වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ ග්‍රන්ථධර්මයන්ගෙන් විප්‍රයුක්ත වූවාහු නම් කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව වූ කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ යැ රූපසකන්ධ යැ ... විඥනසකන්ධ යැ යන මේ ධර්මයෝ ග්‍රන්ථවිප්‍ර-යුක්ත ග්‍රන්ථනිය වූවාහු වෙත්.

1154. කවර ධර්මයෝ ග්‍රන්ථවිප්‍රයුක්ත අග්‍රන්ථනිය වූවාහු වෙති යත්:

අපයර්‍යාපන්න වූ මාර්ගයෝ ද මාර්ගඵලයෝ ද අසඞ්ඛතධාතු ද යන මේ ධර්මයෝ ග්‍රන්ථවිප්‍රයුක්ත අග්‍රන්ථනිය වූවාහු වෙත්.

ග්‍රන්ථගොච්ඡක යි.

1155. කවර ධර්මයෝ ඕඝ වෙති යත්: ...

ඕඝගොච්ඡක යි.

1156. කවර ධර්මයෝ යොග වෙති යත්: ...

යොගගොච්ඡක යි.

1157. කවර ධර්මයෝ නීවරණ වෙති යත්:

නීවරණයෝ සදෙනෙකි: කාමච්ඡන්දනීවරණ යැ ව්‍යාපාදනීවරණ යැ ථිනමිද්ධනීවරණ යැ උද්ධච්චකුක්කුච්චනීවරණ යැ විචිකිච්ඡානීවරණ යැ අවිජ්ජානීවරණ යි.

1158. එහි කාමච්ඡන්දනීවරණය කවරෙ යත්:

කාමවිෂයෙහි යම් කාමච්ඡන්දයෙක් කාමරාගයෙක් කාමනන්දියෙක් කාමතෘෂ්ණායෙක් කාමසෙනහයෙක් කාමපරිදාහයෙක් කාමමූර්ඡායෙක් කාමාධ්‍යවසානයෙක් ඇද්ද මේ කාමච්ඡන්දනීවරණ යයි කියනු ලැබේ

1159. එහි ව්‍යාපාදනීවරණ කවරෙ යත්:

මට අනර්ථ කළැයි ආඝාත උපදී මට අනර්ථ කෙරෙයි ආඝාත උපදී. මට අනර්ථ කරන්නේ යයි ආඝාත උපදී, මාගේ ප්‍රියමනාප වූවහුට අනර්ථ කෙළේ ... අනර්ථ කෙරෙයි ... අනර්ථ කරන්නේ යයි ආඝාත උපදී. මාගේ අප්‍රිය අමනාප වූවහුට අර්ථ කෙළේ යැ .. අර්ථ කෙරෙයි ... අර්ථ කරන්නේ යයි ආඝාත උපදී: යළි අස්ථානයෙහි හෝ ආඝාත උපදී. මෙබඳු වූ යම් චිත්තයාගේ ආඝාතයෙක් ප්‍රතිඝාතයෙක් ප්‍රතිඝයෙක් විරොධයෙක් ප්‍රති-විරොධයෙක් කොපයෙක් ප්‍රකොපයෙක් සම්ප්‍රකොපයෙක් ද්වෙෂයෙක් ප්‍රද්වෙෂයෙක් සම්ප්‍රද්වෙෂයෙක් චිත්තයාගේ පෙරළීමෙක් චිත්තයාගේ ප්‍රදූෂයෙක් ක්‍රොධයෙක් කිපෙන අයුරෙක් කිපුණු බවෙක් දොෂයෙක් දූෂ්‍යාකාරයෙක් දූෂ්‍ය බවෙක් පෙරළීමෙක් පෙරළෙන අයුරෙක් පෙරළුණු බවෙක් විරොධයෙක් ප්‍රතිවිරොධයෙක් චණ්ඩ බවෙක් වාක් අපරිපූර්ණතා-යෙක් චිත්තයාගේ නො සතුටු බවෙක් ඇද්ද මේ ව්‍යාපාදනීවරණ යයි කියනු ලැබේ.

1160. තත්ථ කතමං ථිනමිද්ධනීවරණං:

අත්ථි ථිනං අත්ථි මිද්ධං.

1161. තත්ථ කතමං ථිනං:

යා චිත්තස්ස අකල්ලතා අකම්මඤ්ඤතා ඔලීයනා සල්ලීයනා ලීනං ලීයනා ලීයිතත්තං ථිනං ථියනා ථියිතත්තං චිත්තස්ස, ඉදං වුච්චති ථිනං.

1162. තත්ථ කතමං මිද්ධං:

යා කායස්ස අකල්ලතා අකම්මඤ්ඤතා ඔනාහො පරියොනාහො අන්තොසමොරොධො මිද්ධං සොප්පං පචලායිකා සුපනා සුපිතත්තං, ඉදං වුච්චති මිද්ධං. ඉති ඉදඤ්ච ථිනං, ඉදඤ්ච මිද්ධං, ඉදං වුච්චති ථිනමිද්ධනීවරණං.

1163 තත්ථ කතමං උද්ධච්චකුක්කුච්චනීවරණං:

අත්ථි උද්ධච්චං, අත්ථි කුක්කුච්චං.

1164. තත්ථ කතමං උද්ධච්චං:

යං චිත්තස්ස උද්ධච්චං අවූපසමො චෙතසො වික්ඛෙපො භන්තත්තං චිත්තස්ස, ඉදං වුච්චති උද්ධච්චං.

1165. තත්ථ කතමං කුක්කුච්චං:

අකප්පියෙ කප්පියසඤ්ඤිතා, කප්පියෙ අකප්පියසඤ්ඤිතා, අවජ්ජෙ වජ්ජසඤ්ඤිතා, වජ්ජෙ අවජ්ජසඤ්ඤිතා යං එවරූපං කුක්කුච්චං කුක්කුච්චායනා කුක්කුච්චායිතත්තං චෙතසො විප්පටිසාරො මනොවිලෙඛො, ඉදං වුච්චති කුක්කුච්චං. ඉති ඉදඤ්ච උද්ධච්චං ඉදඤ්ච කුක්කුච්චං, ඉදං වුච්චති උද්ධච්චකුක්කුච්චනීවරණං.

1166 තත්ථ කතමං විචිකිච්ඡානීවරණං:

සත්ථරි කඞ්ඛති විචිකිච්ඡති, ධම්මෙ කඞ්ඛති විචිකිච්ඡති, සඞ්ඝෙ කඞ්ඛති විචිකිච්ඡති, සික්ඛාය කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, අපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, පුබ්බන්තාපරන්තෙ කඞ්ඛති විචිකිච්ඡති, ඉදප්පච්චයතාපටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු කඞ්ඛති විචිකිච්ඡති, යා එවරූපා කඞ්ඛා කඞ්ඛායනා කඞ්ඛායිතත්තං, විමති විචිකිච්ඡා ද්වෙළ්හකං ද්වෙධාපථො සංසයො අනෙකංසගාහො ආසප්පනා පරිසප්පනා අපරියොගාහනා ථම්භිතත්තං චිත්තස්ස මනොවිලෙඛො, ඉදං වුච්චති විචිකිච්ඡානීවරණං.

1160. එහි ථිනමිද්ධනීවරණ කවරෙ යත්:

ථීනයෙක් ඇත, මිද්ධයෙක් ඇති.

1161. එහි ථිනය කවරෙ යත්:

චිත්තයාගේ යම් අකල්‍ය (ගිලන්) බවෙක් අකර්මණ්‍ය බවෙක් එලෙන අයුරෙක් මොනොවට එලෙන අයුරෙක් හැකිළීමෙක් හැකිළෙන අයුරෙක් හැකුළුණු බවෙක් ස්ත්‍යානයෙක් ස්ත්‍යානාකාරයෙක් ස්ත්‍යානභාවයෙක් (තද බවෙක්) වේ ද, මේ ථින යයි කියනු ලැබේ.

1162. එහි මිද්ධය කවරෙ යත්:

කයෙහි යම් ගිලන් බවෙක් අකර්මණ්‍යභාවයෙක් බැඳීමෙක් හාත්පසින් බැඳීමෙක් ඇතුළත ඇවිරීමෙක් (අකර්මණ්‍යභාවයෙන්) පෙළීමෙක් නිද්‍රායෙක් (ඇස්පියසැලීම් ආදි) සල බවෙක් නිදන අයුරෙක් නිදිගත් බවෙක් ඇද්ද, මේ මිද්ධ යයි කියනු ලැබේ. මෙසේ මේ ථිනයත් මේ මිද්ධයත් ථිනමිද්ධනීවරණ යයි කියනු ලැබේ.

1163 එහි උද්ධච්චකුක්කුච්චනීවරණ කවරෙ යත්:

උද්ධච්චයෙක් ඇත, කුක්කුච්චයෙක් ඇති.

1164 එහි උද්ධච්ච කවරෙ යත්:

චිත්තයාගේ යම් උද්ධත භාවයෙක් නො සන්හිඳීමෙක් චිත්තවික්ෂෙපයෙක් චිත්තයාගේ භ්‍රාන්ත බවෙක් ඇද්ද, මේ උද්ධච්ච යයි කියනු ලැබේ.

1165. එහි කුක්කුච්ච කවරෙ යත්:

අකැපයෙහි කැප සංඥ ඇති බව යැ කැපයෙහි අකප්‍යසංඥ ඇති බව යැ අවද්‍යයෙහි වද්‍යසංඥ ඇති බව යැ වද්‍යයෙහි අවද්‍යසංඥ ඇති බව යැ යන මෙබඳු යම් කුකුසෙක් කුකුස් අයුරෙක් කුකුස් කළ බවෙක් චිත්තයාගේ විපිළිසරයෙක් සිත ගිරිනැගීමෙක් ඇද්ද, මේ කුක්කුච්ච යයි කියනු ලැබේ මෙසේ මේ උද්ධච්චයත් මේ කුක්කුච්චයත් යන මේ උද්ධච්චකුක්කුච්චනීවරණ යයි කියනු ලැබේ.

1166. එහි විචිකිච්ඡානීවරණ කවරෙ යත්:

ශාස්තෘන් කෙරෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ධර්මයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. සඞ්ඝයා කෙරෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ත්‍රිවිධ ශික්ෂායෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. පූර්වාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. අපරාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. පූර්වාපරාන්තයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. ඉදම්ප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පන්න ධර්මයෙහි සැක කෙරෙයි, විචිකිත්සා කෙරෙයි. මෙබඳු වූ යම් සැකයෙක් සැකයට පැමිණීමෙක් සැකයට පැමිණි බවෙක් විමතියෙක් විචිකිත්සායෙක් දෙළුහකයෙක් ද්විධාපථයෙක් සැකයෙක් අනෙකාන්තග්‍රාහයෙක් පසුබැසීමෙක් හාත්පසින් පසුබැසීමෙක් නො බැසගැනීමෙක් චිත්තයාගේ තද බවෙක් මනොවිලෙඛයෙක් ඇද්ද, මේ විචිකිච්ඡානීවරණ යයි කියනු ලැබේ.

1167. තත්ථ කතමං අවිජ්ජානීවරණං:

දුක්ඛෙ අඤ්ඤාණං දුක්ඛසමුදයෙ අඤ්ඤාණං දුක්ඛනිරෝධෙ අඤ්ඤාණං දුක්ඛනිරෝධගාමිනියා පටිපදාය අඤ්ඤාණං පුබ්බන්තෙ අඤ්ඤාණං අපරන්තෙ අඤ්ඤාණං පුබ්බන්තාපරන්තෙ අඤ්ඤාණං ඉදප්පච්චයතාපටිච්චසමුප්පන්නෙසු ධම්මෙසු අඤ්ඤාණං, යං එවරූපං අඤ්ඤාණං අදස්සනං අනභිසමයො අනනුබොධො අසම්බොධො අප්පටිවෙධො අසඞ්ගාහනා අපරියොගාහනා අසමපෙක්ඛනා අපච්චවෙක්ඛනා අපච්චක්ඛකම්මං දුම්මෙජ්ඣං බාල්‍යං අසම්පජඤ්ඤං මොහො පමොහො සම්මොහො අවිජ්ජා අවිජ්ජොඝො අවිජ්ජායොගො අවිජ්ජානුසයො අවිජ්ජාපරියුට්ඨානං අවිජ්ජාලඞ්ගි මොහො අකුසලමූලං, ඉදං වුච්චති අවිජ්ජානීවරණං.

ඉමෙ ධම්මා නීවරණා.

1168. කතමෙ ධම්මා නො නීවරණා:

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නො නීවරණා.

1169 කතමෙ ධම්මා නීවරණියා:

සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා නීවරණියා.

1170. කතමෙ ධම්මා අනීවරණියා:

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අනීවරණියා.

1171. කතමෙ ධම්මා නීවරණසම්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා නීවරණසම්පයුත්තා.

1172. කතමෙ ධම්මා නීවරණවිප්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො සබ්බඤ්ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නීවරණවිප්පයුත්තා.

1173. කතමෙ ධම්මා නීවරණා චෙව නීවරණියා ච:

තානෙව නීවරණානි නීවරණා චෙව නීවරණියා ච.

1167. එහි අවිද්‍යානීවරණ කවරේ යත්:

දුඃඛසත්‍යයෙහි නො දැනීම යැ දුඃඛසමුදයෙහි නො දැනීම යැ දුඃඛ-නිරොධසත්‍යයෙහි නො දැනීම යැ දුඃඛනිරොධගාමිනීප්‍රතිපදයෙහි නො දැනීම යැ පූර්වාන්තයෙහි නො දැනීම යැ අපරාන්තයෙහි නො දැනීම යැ පූර්වාපරාන්තයෙහි නො දැනීම යැ ඉදම්ප්‍රත්‍යයතාප්‍රතීත්‍යසමුත්පාදධර්මයෙහි නො දැනීම යැ යන නො දැනීමෙක් අදශිතයෙක් ධර්මයට නුවණින් අනභිමුඛ වීමෙක් අනවබොධයෙක් අනිත්‍යාදි වසින් නො දැනීමෙක් සිවුසස් නො දැනීමෙක් (අනිත්‍යාදි වශයෙන්) සඟහා නො ගැනීමෙක් හාත්පසින් නො ගැනීමෙක් සමව නො දක්මෙක් ධර්මස්වභාවය නො දැකීමෙක් (කුශලාකුශලයන්) ප්‍රත්‍යක්‍ෂ නො කිරීමෙක් අපවිත්‍ර බවෙක් බාල බවෙක් මූළාංයෙක් බලවත් මොහයෙක් සමෙමාහයෙක් අවිද්‍යායෙක් අවිද්‍යෞඝයෙක් අවිද්‍යායොගයෙක් අවිද්‍යානුශයයෙක් අවිද්‍යාපර්‍යුත්ථානයෙක් අවිද්‍යාලඞ්ගියෙක් අකුශල-මූලයෙක් ඇද්ද, මේ අවිද්‍යානීවරණ යි කියනු ලැබේ.

මේ ධර්මයෝ නීවරණයෝ යි.

1168. නීවරණ නො වූ ධර්මයෝ කවරහ යත්:

ඒ නීවරණධර්මයන් හැර ශෙෂ වූ කාමාවචර රූපාවචර අරූපාවචර අපරියාපන්න වූ කුශලාකුශලාව්‍යාකෘත වූ ධර්මයෝ යැ වෙදනාස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ හැම රූප ද අසඞ්ඛතධාතු ද යන මොහු නීවරණ නො වූ ධර්මයෝ යි.

1169. කවර ධර්මයෝ නීවරණීය වෙති යත්:

කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ යැ රූපස්කන්ධ යැ විඥානස්කන්ධ යැ යන මොහු නීවරණීය ධර්මයෝ යි.

1170. කවර දහම්හු අනීවරණීය වෙති යත්:

අපරියාපන්න වූ මාර්ගයෝ ද මාර්ගඵලයෝ ද අසඞ්ඛතධාතු ද යන මේ ධර්මයෝ අනීවරණීය වෙත්.

1171. කවර ධර්මයෝ නීවරණසම්ප්‍රයුක්ත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ නීවරණධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු ද, වෙදනාස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ යන මේ ධර්මයෝ නීවරණසම්ප්‍ර-යුක්තයෝ යි.

1172. කවර ධර්මයෝ නීවරණවිප්‍රයුක්ත වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ නීවරණධර්මයන්ගෙන් විප්‍රයුක්ත වූවාහු ද, වෙදනාස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ හැම රූප ද අසඞ්ඛතධාතු ද යන මේ ධර්මයෝ නීවරණවිප්‍රයුක්තයෝ යි.

1173. කවර ධර්මයෝ නීවරණ ද නීවරණීය ද වෙති යත්:

ඒ නීවරණයෝ මැ නීවරණයෝ ද නීවරණීය වූවාහු ද වෙත්.

1174. කතමෙ ධම්මා නීවරණියා චෙව නො ච නීවරණා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා නීවරණියා තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො ච, ඉමෙ ධම්මා නීවරණියා චෙව නො ච නීවරණා.

1175. කතමෙ ධම්මා නීවරණා චෙව නීවරණසම්පයුත්තා ච:

කාමච්ඡන්දනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, අවිජ්ජානීවරණං කාමච්ඡන්දනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, ව්‍යාපාදනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච. අවිජ්ජානීවරණං ව්‍යාපාදනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, ථීනමිද්ධනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, අවිජ්ජානීවරණං ථීනමිද්ධනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, අවිජ්ජානීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, කුක්කුච්චනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, අවිජ්ජානීවරණං කුක්කුච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, විචිකිච්ඡානීවරණං අවිජ්ජානීවරණෙන නීවරණඤ්චෙව නීවරණසම්පයුත්තඤ්ච, අවිජ්ජානීවරණං විචිකිච්ඡානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, කාමච්ඡන්දනීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං කාමච්ඡන්දනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, ව්‍යාපාදනීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං ව්‍යාපාදනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, ථීනමිද්ධනීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං ථීනමිද්ධනීවරණෙන නීවරණඤ්චෙව නීවරණසම්පයුත්තං ච, කුක්කුච්චනීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං කුක්කුච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, විචිකිච්ඡානීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං විචිකිච්ඡානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, අවිජ්ජානීවරණං උද්ධච්චනීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, උද්ධච්චනීවරණං අවිජ්ජානීවරණෙන නීවරණං චෙව නීවරණසම්පයුත්තං ච, ඉමෙ ධම්මා නීවරණා චෙව නීවරණසම්පයුත්තා ච.

1176 කතමෙ ධම්මා නීවරණසම්පයුත්තා චෙව නො ච නීවරණා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා තෙ ධම්මෙ ඨපෙත්වා වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා නීවරණසම්පයුත්තා චෙව නො ච නීවරණා.

1177. කතමෙ ධම්මා නීවරණවිප්පයුත්තා නීවරණියා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා සාසවා කුසලාකුසලාබ්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා නීවරණවිප්පයුත්තා නීවරණියා.

1174. කවර ධර්මයෝ නීවරණීය ද නො ද නීවරණ ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ නීවරණධර්මයන්ගෙන් නීවරණීය වෙත් ද ඒ ධර්මයන් තබා සෙසු කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව කුශලාකුශලාව්‍යාකෘත ධර්මයෝ යැ රූපස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ යන මේ ධර්මයෝ නීවරණීය ද නො ද නීවරණ ද වෙත්.

1175. කවර ධර්මයෝ නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙති යත්:

කාමච්ඡන්දනීවරණය අවිද්‍යානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිද්‍යානීවරණය කාමච්ඡන්දනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. ව්‍යාපාදනීවරණය අවිද්‍යානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිද්‍යානීවරණය ව්‍යාපාදනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. ථිනමිද්ධනීවරණය අවිද්‍යානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිද්‍යානීවරණය ථිනමිද්ධනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය අවිද්‍යානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිද්‍යානීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. කුක්කුච්චනීවරණය අවිද්‍යානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිද්‍යානීවරණය කුක්කුච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. විචිකිච්ඡානීවරණය අවිජ්ජානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිජ්ජානීවරණය විචිකිච්ඡානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. කාමච්ඡන්දනීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය කාමච්ඡන්දනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. ව්‍යාපාදනීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය ව්‍යාපාදනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. ථිනමිද්ධනීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය ථිනමිද්ධනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. කුක්කුච්චනීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය කුක්කුච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. විචිකිච්ඡානීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය විචිකිච්ඡානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. අවිජ්ජානීවරණය උද්ධච්චනීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වෙයි. උද්ධච්චනීවරණය අවිජ්ජානීවරණය හා නීවරණ ද නීවරණසම්ප්‍රයුක්ත ද වේ. මේ ධර්මයෝ නීවරණ වූවාහු ද නීවරණසම්ප්‍රයුක්ත වූවාහු ද වෙත්.

1176. කවර ධර්මයෝ නීවරණසම්ප්‍රයුක්ත වූවාහු ද නො ද නීවරණ වූවාහු ද වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ නීවරණධර්මයන් හා සම්ප්‍රයුක්ත වූවාහු ද ඒ ධර්මයන් තබා වේදනාස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ යන මේ ධර්මයෝ නීවරණසම්ප්‍රයුක්ත වූවාහු ද නො ද නීවරණ වූවාහු ද වෙත්.

1177. කවර ධර්මයෝ නීවරණවිප්‍රයුක්ත නීවරණීය වෙති යත්:

යම් ධර්ම කෙනෙක් ඒ නීවරණධර්මයෙන් විප්‍රයුක්ත වූවාහු කාමාවචර රූපාවචර අරූපාවචර වූ සාස්‍රව කුශලාකුශලාව්‍යාකෘත ධර්ම කෙනෙක් ඇද්ද, රූපස්කන්ධ යැ ... විඥානස්කන්ධ යැ යන මේ ධර්මයෝ නීවරණවිප්‍රයුක්ත නීවරණීය වෙත්.

1178. කතමෙ ධම්මා නීවරණවිප්පයුත්තා අනීවරණියා:

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නීවරණවිප්පයුත්තා අනීවරණියා.

නීවරණගොච්ඡකං.

1179. කතමෙ ධම්මා පරාමාසා:

දිට්ඨිපරාමාසො.

1180. තත්ථ කතමො දිට්ඨිපරාමාසො:

සස්සතො ලොකොති වා, අසස්සතො ලොකොති වා, අන්තවා ලොකොති වා, අනන්තවා ලොකොති වා, තං ජීවං තං සරීරන්ති වා, අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වා, හොති තථාගතො පරම්මරණාති වා, න හොති තථාගතො පරම්මරණාති වා, හොති ච න ච හොති තථාගතො පරම්මරණාති වා, නෙව හොති න න හොති තථාගතො පරම්මරණාති වා, යා එවරූපා දිට්ඨි දිට්ඨිගතං දිට්ඨිගහනං දිට්ඨිකන්තාරො දිට්ඨිවිසූකායිකං[1] දිට්ඨිවිප්ඵන්දිතං දිට්ඨිසඤ්ඤොජනං ගාහො පතිට්ඨාහො[2] අභිනිවෙසො පරාමාසො කුම්මග්ගො මිච්ඡාපථො මිච්ඡත්තං තිත්ථායතනං විපරියෙසග්ගාහො, අයං වුච්චති දිට්ඨිපරාමාසො, සබ්බාපි මිච්ඡාදිට්ඨි දිට්ඨිපරාමාසො. ඉමෙ ධම්මා පරාමාසා.

1181. කතමෙ ධම්මා නො පරාමාසා:

තෙ ධම්මෙ ඨපෙත්වා අවසෙසා කුසලාකුසලාව්‍යාකතා ධම්මා, කාමාවචරා රූපාවචරා අරූපාවචරා අපරියාපන්නා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බං ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා නො පරාමාසා.

1182. කතමෙ ධම්මා පරාමට්ඨා:

සාසවා කුසලාකුසලාව්‍යාකතා ධම්මා කාමාවචරා රූපාවචරා අරූපාවචරා, රූපක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා පරාමට්ඨා.

1183. කතමෙ ධම්මා අපරාමට්ඨා:

අපරියාපන්නා මග්ගා ච මග්ගඵලානි ච අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා අපරාමට්ඨා.

1184. කතමෙ ධම්මා පරාමාසසම්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා සම්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, ඉමෙ ධම්මා පරාමාසසම්පයුත්තා.

1185. කතමෙ ධම්මා පරාමාසවිප්පයුත්තා:

තෙහි ධම්මෙහි යෙ ධම්මා විප්පයුත්තා, වෙදනාක්ඛන්ධො -පෙ- විඤ්ඤාණක්ඛන්ධො, සබ්බං ච රූපං, අසඞ්ඛතා ච ධාතු, ඉමෙ ධම්මා පරාමාසවිප්පයුත්තා.

---

1 විසූකායිතං - සිමු. 2, 3    2 පටිග්ගාහො - සිමු. 3

